# පහන් කණුව
# ධර්ම දේශනා

## 8 - වෙළුම



කටුකුරුන්දේ ඤාණනන්ද හිමි

ධර්ම ග්‍රන්ථ මුද්‍රණ භාරයේ

# පොදු පුණ්‍යානුමෝදනාව

**"මහණෙනි, ආමිස දානයය, ධර්ම දානයය, යන මේ දන් දෙකෙකි. මේ දන් දෙක අතුරෙන් මෙයම අග්‍රය - එනම්, ධර්ම දානය."**

මේ අසිරිමත් බුදුවදන අගය කරන බොහෝ පාඨකයින් තම පරලෝ සැපත් මවුපියාදි ඥාතීන්ට කෘතගුණපූර්වකව පින් අනුමෝදන් කරවීමේ චිරාගත චාරිත්‍රයට අනුව ලොකු කුඩා පරිත්‍යාග පිරිනමන බැවින් දෙස් - විදෙස් වැසි ගිහි - පැවිදි දහම් පිපාසිත විශාල පිරිසකට අමිල දහම් අමාපැන් නොමිලයේ බෙදාදෙන **ධර්ම ග්‍රන්ථ මුද්‍රණ භාරය** පුණ්‍යානුමෝදනා වශයෙන් එම ධර්ම දානමය කුශලය එකී පින්වතුන්ට හා ඥාතීන්ටත් මෙම **'අමාගඟ'** නොසිඳී ගලායාමට නිරතුරුව කාලය, ධනය, ශ්‍රමය වැයකරන සැමටත් පරම ශාන්ත උතුම් අමාමග නිවනින් සැනසීමට උපනිශ්‍රය සම්පත්තිම වේවායි පතන බව දන්වා සිටිමු.

මෙයට,

සසුන් ලැදි

ධර්ම ග්‍රන්ථ මුද්‍රණ භාරය.

# පහන් කණුව ධර්ම දේශනා

අටවන වෙළුම

ISBN 978-955-1255-44-2

කටුකුරුන්දේ ඤාණනන්ද භික්ෂු

පොත්ගුල්ගල ආරණ්‍ය සේනාසනය
'පහන් කණුව'
කන්දේගෙදර, දේවාලේගම

ප්‍රකාශනය
ධර්මග්‍රන්ථ මුද්‍රණභාරය

2012

ධම්දානයකි

මුදලට විකිණීම සපුරා තහනම් වෙයි.

ප්‍රථම මුද්‍රණය - 2012 මැයි

## පොත ලබාගත හැකි ස්ථාන

1. පොත්ගුල්ගල ආරණ්‍ය සේනාසනය
'පහත් කණුව' කත්දේගෙදර, දේවාලේගම.
2. රෝයල් ඉන්ස්ටිටියුට්,
191, හැව්ලොක් පාර, කොළඹ 5.
3. ඩී. ටී. වේරගල මහතා
422, වැලිපාර, තලවතුගොඩ.
4. අනුර රූපසිංහ මහතා
27, කොළඹ වීදිය, මහනුවර
5. හේමා රූපසිංහ මිය
26, හැව්ලොක් පාර, ගාල්ල.
6. එස්. ඒ. ලයනල් මහතා
140/19, රුහුණුසිරි උද්‍යානය, හක්මණ පාර, මාතර.
7. වෛද්‍ය පී. වීරසිංහ මහතා
බණ්ඩාර බුලංකුලම, ලංකාරාම පාර, අනුරාධපුර.
8. එම්.පී. හේමචන්ද්‍ර මහතා
17/3, මිනෑගම, පොළොන්නරුව.
9. එච්.පී.එම්.එම් කීර්තිකුමාර මහතා
දෙලන, කුලියාපිටිය.
10. මහා භාරකාර දෙපාර්තමේන්තුව
2, බුලර්ස් පටුමග, කොළඹ 07.

වෙබ් අඩවිය: www.seeingthroughthenet.net

මුද්‍රණය:
කොලිටි ප්‍රින්ටර්ස්
17/2, පැඟිරිවත්ත පාර, ගංගොඩවිල, නුගේගොඩ. දු. ක. 011-4870333

'සබ්බපාපස්ස අකරණං
කුසලස්ස උපසම්පදා
සචිත්ත පරියෝදපනං
එතං බුද්ධානසාසනං'

බුද්ධවග්ග, ධම්මපද



හැම පවින් වැළැකුම
කුසල් වෙතටම එළැඹුම
සිත පිරිසිදු කැරුම
සස්න මෙයමැයි හැම බුදුන්ගෙම

# පටුන

# හැඳින්වීම

දහම් දන හැමදන්ම පරදයි
දහම්රස හැම රසම පරදයි
දම් ඇලුම හැම ඇලුම් පරදයි
නිවන් සුව හැමදුක්ම පරදයි

අනුත්තර ධර්මරාජයාණන් වහන්සේගේ ධර්මවිජයට අරමුණුවූයේ දෙව් මිනිසුන්ගේ චිත්ත සන්තානයයි. අනාදිමත් කාලයක් තුළ මෝහයෙන් මුළාවී සසර දුක් ගින්නෙන් දැවෙමින් සිටින ලෝ සතුන්ගේ සිත් සතන් දහම් අමා දහරින් සිසිල් කර අමා මහ නිවනින් නිවා සුවපත් කිරීම ඒ මහා කාරුණිකයාණන් වහන්සේගේ ධර්මවිජය පරමාර්ථය විය. දුක් ගිනි වඩන දිග්විජය වෙනුවට දුක් ගිනි නිවන ධර්මවිජයක් බුදුපියාණන් වහන්සේ ලෝකයාට හඳුන්වා දුන්හ.

ධර්මදානය අන් හැම දානයකටම වඩා උතුම් වන්නේ සිතකට වැටෙන දහම් පදයකින් පූර්ණ ජීවිත පරිවර්තනයක් පවා සිදුවිය හැකි බැවිනි. බාහිර වස්තු දානයෙන් සැළසෙන තාවකාලික සහනය මෙන් නොව, එය සනාතන සැනසුමකට මග හෙළිකරයි. මොහොතකට දිවගට දැනී-නොදැනී යන ආමිස රසය මෙන් නොව, නිරාමිස දහම් රසය අසහනය දුරුකොට සිත් සනහන ගැඹුරු අර්ථ රසයකි. සසර වඩන ගේහසිත ඇලුම් මෙන් නොව, ලොවුතුරු දහමට ඇති ඇල්ම සසර ගමන කෙටිකරයි. තණ්හා පිපාසය සන්හිඳුවන අමා මහ නිවන සියලු සසර දුක් නිවාරණය කරයි.

'නිවනේ නිවීම' පොත් පෙළෙන්* අප දියත් කළ ධර්මදාන වැඩ පිළිවෙළෙහි දෙවැනි අදියර වශයෙන් මේ 'පහන් කණුව ධර්ම දේශනා' පොත් පෙළ එළි දකී. මීතිරිගල නිස්සරණ වන සෙනසුනෙහි යෝගාවචර සභාපිරිස හමුවේ අප විසින් දේශනා කරන්නට යෙදුන දෙසුම් 33 ක් රැගත් යටකී පොත් පෙළට වඩා සරල අන්දමින්. ජන ජීවිතයේ එදිනෙදා ගැටළුවලට එල්ල කොට දෙසන ලද බැවින් මෙම ධර්මදේශනා මාලාව බොහෝ දෙනෙකුට වැඩදායක වනු ඇතැයි සිතමු. සසරදුක් ලියලවන විවිධ විෂම දෘෂ්ටි මතවාදයන්ගෙන් ගැවසීගත් පොත් පත් සහරා 'සහරාවක' අතරමංව සිටින

* වෙළුම් 11කින් යුත් මේ පොත් පෙළෙහි වෙළුම් 11 ම නිකුත් වී ඇත.

වත්මන් පාඨක සමාජයට මේ තුළින් ලොවුතුරු මඟට යම් 'තරු සළකුණක්' හෝ ලැබෙතොත් අප දැරූ උත්සාහය සඵල වූ ලෙස සළකමු.

'ආනුපුබ්බී කථා' නම් වූ අනුපිළිවෙළ කථාමාර්ගයක් අනුගමනය කරමින් දහම් දෙසූ බුදු පියාණෝ එවැනිම 'අනුපිළිවෙළ කථාවක්' ධර්මදේශකයින්ට අනුදැන වදාළහ. දාන කථාව, සීල කථාව, සග්ග කථාව, කාමයන්ගේ ආදීනව හා නෙක්ඛම්මයෙහි ආනිසංස ඒ අනුපිළිවෙළ කථාවට අයත්වේ. ඒ සියල්ල තුළින් සකස් වූ, මෘදුවූ, පුබුදුවූ, පහන්වූ සිතට චතුරාර්යසත්‍ය දේශනාව මැනවින් විෂය වේ. දේශනා විලාස වශයෙන් සළකන කල, බුද්ධ දේශනාවෙහි ඉස්මතුව පෙනෙන ආදර්ශවත් අංග සතරක්ද ඇත. එනම්, උපමා, නිදර්ශන, ආදියෙන් ධර්ම කරුණු සන්දර්ශනය කිරීම ('සන්දස්සෙති') සිත් කාවදින අන්දමින් එත්තු ගන්වාලීම (සමාදපෙති) ඒවා ප්‍රතිපත්තියට නැංවීමෙහිලා උත්සාහවත් කිරීම (සමුත්තෙජෙති) සහ අසන්නන්ගේ සිත්සතන් ප්‍රසාදයට පත්කිරීමයි (සම්පහංසෙති).

ධර්මපදයෙන් තෝරාගත් ගාථා මාතෘකා කොටගෙන පැවැත්වෙන මෙම දෙසුම් පෙළෙහිදීද හැකිතාක් දුරට ඉහත සඳහන් මූලධර්ම අනුගමනය කිරීමට තැත් දැරුවෙමු. බුද්ධෝත්පාද කාලයක ලැබිය හැකි අග්‍රඵලය වන අර්හත් ඵලයෙන්ම දේශනාවක් කුළුගැන්වීමට උනන්දු වීමු. වෙනත් සුලභ ලෞකික පරමාර්ථ තුළ අසන්නන් සිරකොට නොතබා, බුදුපියාණන් වහන්සේ වදාළ අප්‍රමාද පදය සිහිගන්වමින් සංසාර විමුක්තිය දෙසටම ඔවුන් යොමු කරවීම අපගේ පරම අධ්‍යාශය විය. 'පහන් කණුවෙන්' විහිදෙන මෙම ධර්මාලෝකයෙන් ලෝකයාට නිවන් මඟ හෙළි පෙහෙළි වේවා!

මෙම 'පහන් කණුව ධර්මදේශනා' පොත් පෙළද, 'නිවනේ නිවීම' දෙසුම් පෙළ එළිදැක්වීම උදෙසා කොළඹ හැව්ලොක් පාරේ 'රෝයල් ඉන්ස්ටිටියුට්හි' පින්වත් ජී.ටී. බණ්ඩාර මහතා විසින් මහාභාරකාර දෙපාර්තමේන්තුවේ පිහිටුවන ලද 'ධර්ම ග්‍රන්ථ මුද්‍රණභාරය' මගින් මුද්‍රණය කරවීමට මහාභාරකාර තැන්පත් යූ. මාපා මහතා තීරණය කිරීම අපට මහත් ධෛර්යයක් විය. අමිලවූ ධර්මය මිල කිරීමකින් නොපිරිහෙළා පාඨකයින් අතට පත්කිරීමේ අප ප්‍රතිපත්තියට දිරිදෙන ඒ පින්වත් මහතුන් දෙපොළටත්, මේ සත්කාර්‍යයට සහාය දීමට මේතාක් ඉදිරිපත්වූ පරිත්‍යාගශීලී හැම පින්වතුන්ටත්. පටිගත කළ 'පහන් කණුව' දෙසුම් පිටපත් කරදීමේ කාර්යයට සහාය වන පින්වත් ඒ.එස්.වයි. අබේවර්ධන මහතාට සහ අනුලා හිඳගොඩ, එම්. නාගහවත්ත, ජයන්ති රණවීර යන මහත්මීන්ටත්, දෙන දේ පිරිසිදුව දීමට ශෝභන ලෙස

මුද්‍රණ කටයුතු නිම කරන, සීමාසහිත කරුණාරත්න සහ පුත්‍ර සමාගමේ අධ්‍යක්ෂක මහතුන්ට හා කාර්ය මණ්ඩලයටත් අපගේ පුණ්‍යානුමෝදනා නිර්වාණාවබෝධය පිණිසම හේතුවාසනාවේවායි පතමු.

'චිරං තිට්ඨතු ලෝකස්මිං - සම්මාසම්බුද්ධ සාසනං'

මෙයට
සසුන් ලැදි,
**කටුකුරුන්දේ ඤාණනන්ද භික්ෂු**

පොත්ගුල්ගල ආරණ්‍ය සේනාසනය
'පහන් කණුව'
කන්දේගෙදර
දේවාලේගම
(2542) 1999 පෙබරවාරි 12

# ප්‍රකාශක නිවේදනය

අතිපූජ්‍ය කටුකුරුන්දේ ඤාණනන්ද ස්වාමීන්ද්‍රයන් වහන්සේගේ "නිවනේ නිවීම" දේශනා මුද්‍රණය කොට, ඒ පිළිබඳව උනන්දුවක් දක්වන අයහට එම දහම් පොත් ලබාදීමේ මූලික අදහස අප තුළ ඇතිවී මුත්, මුද්‍රණය සඳහා වැය වන මුදල උපයා ගැන්ම ප්‍රශ්නයක් විය. එය විසඳීම පිණිස අප කිහිප දෙනෙක් යෝජනා කළේ වැයවන මුද්‍රණ වියදම පමණක් අය කර ගැන්මට ප්‍රමාණවත් වූ මිලකට එම දහම් පොත් විකිණීමයි. එහෙත්, අපගේ එම යෝජනාව ගරු ඤාණනන්ද ස්වාමීන් වහන්සේ එකහෙළා ප්‍රතික්ෂේප කරමින් "ධර්මය මිල කරන්න බැහැ. එය අවශ්‍ය අයහට නොමිලේ ලබා ගැන්මට හැකිවිය යුතුයි...." කීහ.

එබැවින් උන්වහන්සේ අදහස් කළ පරිදි මුලින්ම මුද්‍රණය කළ "නිවනේ නිවීම" දේශන මාලාව සඳහා වියදම් ලබා ගැන්මේ වැඩ පිළිවෙලක් වශයෙන් රෝයල් ඉන්ස්ටිටියුට්හි අධිපති ජී.ටී.බණ්ඩාර මහතා විසින් මහා භාරකාර දෙපාර්තමේන්තුවෙහි "ධර්ම ග්‍රන්ථ මුද්‍රණ භාරය" නමින් අරමුදලක් අරඹනු ලැබීය. එවකට මහා භාරකාර ධූරය දරූ යූ. මාපා මහතාගේ අදහසක් අනුව පිහිටුවන ලද එකී භාරයෙහි අරමුණ වූයේ මෙම පුණ්‍ය ක්‍රියාව ඉටුකර ගැනීම සඳහා දායක වීමට කැමති අයහට මුදලින් කෙරෙන තම පුණ්‍යාධාර එම භාරයට බැර කිරීමට අවස්ථාව සළසා දීමයි.

1997 වසරේදී ඇරඹුණු මෙම ධර්ම ග්‍රන්ථ මුද්‍රණ භාරය මගින් පූජ්‍ය ඤාණනන්ද හිමියන්ගේ දේශනා 33 කින් යුත් "නිවනේ නිවීම" වෙළුම් 11 කින් මුද්‍රණය කොට නොමිලේ බෙදා දීමට අමතරව පසළොස්වක පොහෝ දිනයන්හිදී පහන් කණුව සෙනසුන වෙත රැස්වෙන උපාසක උපාසිකාවන් සඳහා උන්වහන්සේ විසින් කෙරෙන ධර්ම දේශනා "පහන් කණුව ධර්ම දේශනා" නමින් මේ වන විට ග්‍රන්ථ 5ක් පළකොට තිබේ. එතැනින් නොනැවතී උන්වහන්සේගේ අනෙකුත් සිංහල සහ ඉංග්‍රීසි ග්‍රන්ථ එසේම ධර්ම දාන වශයෙන් පළකිරීමට හැකිවීම ඊට දායක වූ අප සැමගේ ඉමහත් සතුටට හේතුවිය.

අති පූජ්‍ය ඤාණනන්ද ස්වාමීන් වහන්සේගේ ඒ ධර්ම දේශනා අගයමින් එම සත්කාර්යය නොනවත්වා කරගෙන යෑම පිණිස දායක භවතුන්ගෙන් අප වෙත ලැබෙන පැසසුම් සහිත ප්‍රතිචාරය නිසාම ඒ අයගේ පහසුව පිණිස අප විසින් මෑතකදී "ධර්ම ග්‍රන්ථ මුද්‍රණ භාරය" නමින් සම්පත්

බැංකුවේ නුගේගොඩ ශාඛාවේ අංක 0003 6000 1415 දරණ ජංගම ගිණුම විවෘත කරන ලදී.

අති පූජ්‍ය කටුකුරුන්දේ ඤාණනන්ද හිමියන් විසින් පහදා දෙනු ලබන නිර්මල බුදු දහම ඔබ අතට පත් කිරීම අපගේ එකම අරමුණයි. ඊට ඔබගෙන් ලැබෙන දායකත්වය ඉමහත් කුශලයකි. අපට ඉමහත් ධෛර්යයකි.

මෙම වටිනා ග්‍රන්ථ මුද්‍රණය කොට බෙදා හැරීමේ සම්පූර්ණ කාර්යභාරය ජී.ටී. බණ්ඩාර මහතා විසින් රෝයල් ඉන්ස්ටිටියුට් හි පින්වත් නිලධාරීන්ගේ සහායද ඇතිව වෙහෙස මහන්සි නොබලා ඉටුකර දීම ගැන අපගේ බලවත් ප්‍රසාදය මෙහිලා විශේෂයෙන්ම සඳහන් කළයුතු වේ.

මෙයට,
සදුන් ලැදි
ධර්ම ග්‍රන්ථ මුද්‍රණ භාරකාර මණ්ඩලය

# ධර්ම ග්‍රන්ථ මුද්‍රණ භාරය මගින් පළකැරෙන ග්‍රන්ථ මුද්‍රණයට දායක වීම

අති පූජ්‍ය කටුකුරුන්දේ ඤාණනන්ද ස්වාමීන්ද්‍රයන් වහන්සේ විසින් දේශිත නිර්මල බුදු දහම, "නිවනේ නිවීම" සහ "පහන් කණුව ධර්ම දේශනා" නමින් පළ වී ඇති දහම් පොත් තුළින් මේ වන විටත් ඔබ ඇතැම් විට කියවා තිබිය හැක.

එම ස්වාමීන් වහන්සේගේ ධර්ම දේශනා හැකි පමණ මුද්‍රණය කොට නොමිලේ බෙදා දීම ධර්ම ග්‍රන්ථ මුද්‍රණ භාරයේ අරමුණයි.

මෙතෙක් එම භාරය මගින් පළකොට ඇති ධර්ම ග්‍රන්ථ එකී ග්‍රන්ථ වල අවසාන පිටුවෙහි දක්වා ඇත.

මෙම මහඟු පුණ්‍ය ක්‍රියාව සඳහා දායක වීමට කැමති පින්වතුන්, පහත සඳහන් උපදෙස් පිළිපැදීම මැනවි.

1. චෙක්පත් මගින් එවන සියලු ආධාර "ධර්ම ග්‍රන්ථ මුද්‍රණ භාරය" නමින් සම්පත් බැංකුවේ නුගේගොඩ ශාඛාවේ අංක 0003 6000 1415 දරණ ගිණුමට බැර කිරීම පිණිස පහත සඳහන් ලිපිනයට එවිය හැකිය.
2. දිවයිනේ පිහිටි ඕනෑම සම්පත් බැංකු ශාඛාවක් මගින් ඔබගේ ආධාර මුදල් ඉහත සඳහන් ගිණුමට බැර කල හැක.
3. කෙසේ වුවද, ඔබගේ පහසුව පිණිස සියලු පුණ්‍යාධාර කොළඹ 05, හැව්ලොක් පාරේ අංක 191 හි පිහිටි රෝයල් ඉන්ස්ටිටියුට් ආයතනයේ ධර්ම ග්‍රන්ථ මුද්‍රණ භාරය වෙනුවෙන් පිහිටුවා ඇති අංශයටද බාර දියහැක.
4. මෙම භාරය මගින් නිකුත් කැරෙන ධර්ම ග්‍රන්ථ මගින් ඔබගේ දායකත්වය වරින් වර දායක භවතුන්ගේ දැනගැන්ම සඳහා පළ කරනු ඇත.
5. ඔබ විසින් කරනු ලබන ආධාරය බැංකු ගිණුමට බැර කරන විට ඒ සඳහා නිකුත් කරනු ලබන කුවිතාන්සියෙහි ඡායා පිටපතක් පහත සඳහන් ලිපිනයට එවීමෙන් මෙම ධර්ම දානමය කටයුත්තට දායක වන ඔබගේ නම සහ දායක මුදල අප විසින් වරින් වර පළ කරන දායක ලැයිස්තුවෙහි ඇතුළත් කිරීම කළ හැකිය.

ධර්ම ග්‍රන්ථ මුද්‍රණ භාරය
රෝයල් ඉන්ස්ටිටියුට්
අංක 191, හැව්ලොක් පාර
කොළඹ 05

# අමා ගඟ

මහවැලි ගඟ උතුරට හැරවීමෙන් පසු එතෙක් තිසරු මුඩු බිම් ලෙස පැවති පෙදෙස්වල සිදුවූයේ ඉමහත් වෙනසෙකි. පිපාසයට පැන්බිඳක් නොලබා සිටි ගොවීහු පෙදෙස පුරා නිහඬව ගලා යන සිසිල් දිය දහරින් පිනා ගියහ. මැලවුනු ගොයම සරුව තිල්වන්ව කරලින් බර විය. මල් පලින් ගැවසීගත් තුරු-ලිය බලා සැනසෙන පෙදෙස් වැසියෝ තුටු කඳුළු වගුළහ.

දහම් අමා ගඟ "උතුරට" හැරවීමේ වැඩ පිළිවෙළක් මෙයට තෙවසරකට පෙර ඇරඹුණි. දහම් පත-පොත තබා "එදා-වේල" සඳහා වත් විය පැහැදම් කිරීමට වත්-කමක් නැත්තෝ, නිහඬව නොමිලයේ ගලායන අමිල දහම් අමා දිය දහරින් සදහම් පිපාසය සන්සිඳුවා ගත්හ. අරිටු මසුරිටු හැර, සැදැහැයෙන් සරුව, ගුණ නුවණින් බරව පිළිවෙත් මහට නැමී ගත්හ. ලොවී - ලොවුතුරු මල් පල නෙලා ගනිමින් හද පුරා පිරි බැතියෙන් නන් අයුරින් සොම්නස පළකළහ.

"ධර්ම ග්‍රන්ථ මුද්‍රණ භාරය" නමින් දියත් කළ මෙම ධර්මදාන වැඩපිළිවෙල සඳහා අපගෙන් වැයවුනේ පිරිසිදු ධර්මදාන සංකල්පය පමණි. අමාගඟ "උතුරට" හැරවූවෝ සදහම් ගුණ හඳුනන පරිත්‍යාගශීලී සැදැහැවත්හුමය. "තිවනේ නිවීම" පොත් පෙළ එළි දැක්වීමෙන් නොනැවතී "පහන් කණුව ධර්මදේශනා" පොත් පෙළෙහි "බර පැන" දැරීමටත්, දෙස් - විදෙස්වල දහම් පිපාසිතයින් උදෙසා අප අතින් ලියැවෙන අතිකුත් පොත - පත ඒ අයුරින්ම එළි දැක්වීමටත් ඔවුහු උත්සුක වූහ. "දෙන දේ පිරිසිදුවම දීමේ" අදහසින් අමිල වූ දහම ඊට තිසි ශෝභන මුද්‍රණයකින්ම ධර්මකාමීන් අතට පත් කිරීමට පියවර ගත්හ. මුද්‍රිත පිටපත් සංඛ්‍යාව අවසන්වනු හා සමගම "නැවත මුද්‍රණ" පළකිරීමෙන් දහම් අමා ගඟ වියළී යා නොදීමට දැඩි අදිටනකින් ඇප කැපවූහ.

"පොත් අලෙවිය" පිළිබඳව මෙකල බහුලව දක්නට ලැබෙන වාණිජ සංකල්පයට පිටුපා, තහංචිවලින් තොරව, තමන් අතට නොමිලයේම පත් කැරෙන "දහම් පඬුර" තුළින් ධර්මදාන සංකල්පයෙහි අගය වටහා ගත් බොහෝ පාඨක පින්වත්හු තමන් ලද රස අහරක්, නෑ-හිතවතුන් සමග බෙදා-හදා ගන්නාක් මෙන් නොමසුරුව අන් දහම් ලැදියනටද දී ධර්ම දානයට සහභාගී වූහ. ඉනුදු නොනැවතී, ශක්ති පමණින් "ධර්ම ග්‍රන්ථ මුද්‍රණභාරයට" උරදීමටද ඉදිරිපත්වූහ, ඇතැමෙක් ලොකු කුඩා දහම් පොත් මුද්‍රණය කරවීමේ හා නැවත-නැවත මුද්‍රණය කරවීමේ බරපැන ඉසිලීමට පවා පසුබට නොවූහ.

සම්බුදු සසුන මේ ලක් පොළොවෙහි පවතින තාක් මේ දහම් අමාගඟ ලෝ සතුන් සිත් සනහමින් නොසිඳී ගලා යේවා යනු අපගේ පැතුමයි.

"සබ්බදානං ධම්මදානං ජිනාති"

මෙයට,
සසුන් ලැදි
**කටුකුරුන්දේ ඤාණනන්ද හිමි**

පොත්ගුල්ගල ආරණ්‍ය සේනාසනය
'පහන් කණුව'
කන්දේගෙදර,
දේවාලේගම.
2000 ජුනි 05 (2544 පොසොන්)

# ධර්ම දේශනා සංයුක්ත තැටි

මෙම ධර්මදාන වැඩ පිළිවෙලෙහි දෙවෙනි අදියර වශයෙන් පිහිටුවන ලද මහනුවර ධර්මශ්‍රවණ මාධ්‍ය භාරය මගින් සකස් කරනු ලබන ධර්ම දේශනා සංයුක්ත තැටි දැනට ධර්මදාන පොතපත බෙදා හරින ස්ථාන කිහිපයෙන් ධර්මශ්‍රවණාභිලාෂීන්ට නොමිලයේම ලබාගත හැකිය.

ධර්මශ්‍රවණ මාධ්‍ය භාරයේ ධර්මදාන කටයුතුවලට සහාය වනු කැමති පින්වතුන් ඒ පිළිබඳව පහත සඳහන් දුරකථන අංකයකට විමසීම් යොමුකිරීම මැනවි.

1. අනුර රූපසිංහ මහතා
   අංක 27, කොළඹ වීදිය, මහනුවර.
   දුඃක : 081-2232376

2. එම්.එම්.කේ. සිරිසේන මහතා
   දුඃක: 071-8248608

# 36 වන දේශනය (පහන් කණුව ධර්ම දේශනා අංක 119)

'නමෝ තස්ස භගවතෝ අරහතෝ සම්මා සම්බුද්ධස්ස'

අනේක ජාති සංසාරං
සන්ධාවිස්සං අනිබ්බිසං
ගහකාරකං ගවෙසන්තෝ
දුක්ඛා ජාති පුනප්පුනං

ගහකාරක දිට්ඨෝසි
පුන ගේහං න කාහසි
සබ්බා තෙ ඵාසුකා භග්ගා
ගහකූටං විසංඛිතං
විසංඛාරගතං චිත්තං
තණ්හානං ඛයමජ්ඣගා

සැදැහැවත් පින්වතුනි,

තථාගත සම්මා සම්බුදුරජාණන් වහන්සේ සම්බෝධි ඥානය ලබා ගත්තේ අවුරුදු හයක් දුෂ්කර ක්‍රියා කරලයි. අසම සම උට්ඨාන වීර්යයකින් තමන් වහන්සේ ප්‍රත්‍යක්ෂ කරගත්තු ඒ උත්තරීතර සංසාර විමුක්තිය පිළිබඳව ආශ්චර්යවත් ප්‍රීති වාක්‍යයක් උදාන ගාථා දෙකක් වශයෙන් උන්වහන්සේගේ ශ්‍රීමුඛයෙන් නිකුත් වුනා. අද මේ සම්බුද්ධ පරිනිර්වාණයෙන් වර්ෂ දෙදහස් පන්සිය පනස් වසරක් ලබන මේ උතුම් වෙසක් පෝය දවසේ ධර්ම දේශනාවට මාතෘකාව වශයෙන් තෝරා ගත්තේ ඒ ඉතාමත්ම ගම්භීරාර්ථවත් ධර්මයයි. පොත පතේ දැක්වෙන හැටියට බුදුරජාණන් වහන්සේ මේ උදාන ගාථා දෙක පිළිබඳ ප්‍රවෘත්තිය ප්‍රකාශ කොට වදාළේ උපස්ථායක ආනන්ද ස්වාමීන් වහන්සේගේ යම්කිසි ප්‍රශ්නයකට පිළිතුරු වශයෙනුයි.

බුද්ධ චරිතයේ ඉතාමත්ම වැදගත් කාරණා රාශියක් අපට ශ්‍රී මුඛ දේශනා වශයෙන්ම ඒ ඒ සූත්‍ර දේශනාවල දකින්නට ලැබෙනවා. සම්බෝධිය බලාපොරොත්තුවෙන් ඒ සිද්ධාර්ථ කුමාරයාණන් කළ අභිනිෂ්ක්‍රමණය ආර්ය පර්යේෂණයක් හැටියට බුදුරජාණන් වහන්සේ එක්තරා අවස්ථාවක අරියපරියෙසන සූත්‍රයේදී සංඝයා වහන්සේලාට විස්තර කර වදාළා. ඒ

තීරණාත්මක අදහස, අධිෂ්ඨානය උන්වහන්සේ තුළ මෝදු වුන හැටි, සකස්වුන හැටි, මෙන්න මේ අන්දමට බුදුරජාණන් වහන්සේ ප්‍රකාශ කරනවා.

"මහණෙනි, මමත් සම්බෝධියට කලින් බෝධිසත්ත්ව අවධියේදී ඉපදෙන ස්වභාවය ඇතිව, ඉපදෙන ස්වභාවය ඇති දේම සොයමින් ගියා. දිරන ස්වභාවය ඇතිව, දිරන ස්වභාවය ඇති දේම සොයමින් ගියා. ලෙඩ වෙන ස්වභාවය ඇතිව, ලෙඩවෙන ස්වභාවය ඇතිදේම සොයමින් ගියා. මැරෙණ ස්වභාවය ඇතිව, මැරෙණ ස්වභාවය ඇතිදේම සොයමින් ගියා. ශෝක කරන ස්වභාවය ඇතිව, ශෝක කරන ස්වභාවය ඇතිදේම සොයමින් ගියා. කෙලෙසෙන ස්වභාවය ඇතිව, කෙලෙසෙන ස්වභාවය ඇතිදේම සොයමින් ගියා. නමුත් මට මෙහෙම හිතුනා. ඇයි මම ඉපදෙන ස්වභාවය ඇතිව, ඉපදෙන ස්වභාවය ඇතිදේම සොයමින් යන්නේ? ඇයි මම දිරන ස්වභාවය ඇතිව, දිරන ස්වභාවය ඇතිදේම සොයමින් යන්නේ? ඇයි මම ලෙඩ වෙන ස්වභාවය ඇතිව, ලෙඩ වෙන ස්වභාවය ඇතිදේම සොයමින් යන්නේ? ඇයි මම මැරෙන ස්වභාවය ඇතිව, මැරෙන ස්වභාවය ඇතිදේම සොයමින් යන්නේ? ඇයි මම ශෝක කරන ස්වභාවය ඇතිව, ශෝක කරන ස්වභාවය ඇතිදේම සොයමින් යන්නේ? ඇයි මම කෙලෙසෙන ස්වභාවය ඇතිව, කෙලෙසෙන ස්වභාවය ඇතිදේම සොයමින් යන්නේ? නරකද මම ඉපදෙන ස්වභාවය ඇතිව ඉපදෙන ස්වභාවය ඇතිදෙයෙහි ආදීනව තේරුම් අරගෙන ඉපදෙන ස්වභාවය නැති උත්තරීතර බන්ධන විමුක්තිය වන නිවන සොයා ගියොත්? නරකද මම දිරන, ලෙඩවෙන, මැරෙන, ශෝක කරන, කෙලෙසෙන ස්වභාවය ඇතිව දිරන, ලෙඩවෙන, මැරෙන, ශෝක කරන, කෙලෙසෙන ස්වභාවය ඇතිදෙයෙහි ආදීනව තේරුම් අරගෙන නොදිරන, ලෙඩනොවන, නොමැරෙන, ශෝකනොකරන, නොකෙලෙසෙන, නොකිළිටි ඒ උත්තරීතර සංසාර විමුක්තිය - බන්ධන විමුක්තිය වන නිවන සොයා ගියොත්"?

මෙන්න මේ විදියේ චින්තන විප්ලවයක් සිද්ධාර්ථ කුමාරයාණන් හැටියට ඒ අවස්ථාවේ ඇතිවූ බව බුදුරජාණන් වහන්සේ ප්‍රකාශ කොට වදාළා.

දැන් එතකොට මේ පින්වතුන්ට තේරුම් ගන්න පුළුවනි, මේ බුද්ධ චරිතය ගැන හොඳින් දන්නා පින්වතුන්ට, ඇයි සිද්ධාර්ථ කුමාරයා තමන්ට පුත් රුවනක් - මේ කාලයේ කියන හැටියට 'පුත් රුවනක්' - උපන්නා කියන ආරංචිය ලැබුනාම "රාහුලං ජාතං බන්ධනං ජාතං". "රාහුලයෙක් උපන්නා බන්ධනයක් හටගත්තා" කියල ඒ විදියට ප්‍රකාශයක් කළේ?. සාමාන්‍යයෙන් ගෙදරක දරුවකු උපන්නාම පියෙකුට ඇතිවන සෙනෙහස, සොම්නස, සතුට ඇයි සිද්ධාර්ථ කුමාරයා තුළ ඇති නොවුනේ කියන එක අන්න අර කලින් අපි කළ විස්තරය අනුව මේ පින්වතුන්ට හිතා ගන්න පුළුවනි. ඇත්ත වශයෙන් රාහුල කියන වචනයේ තේරුම "මේ පින්වතුන් දන්නවා

'හඳ රාහු අල්ලනවා, ඉර රාහු අල්ලනවා' කියලා. අතීතයේ සඳහන් වන හැටියට ඉරෙත් හඳෙත් ආලෝකය, බැබළීම වසා ලන දෙය රාහු හැටියටයි සැලකුයේ. **එතකොට අපි හිතමු සිද්ධාර්ථ කුමාරයා තමාගේ රාහුල පුතු ගැන ඇති ස්නේහය, ඇල්ම නිසා එදා ඒ අබිනික්මන නොකළා නම් අද අපිට තුන් ලෝකයක් එළිය කරන බුද්ධ සූර්යයා පහළ වේද? අද අපට වෙසක් හඳක් පායාවිද?** අන්න එතකොට ඒ අනුව මේ පින්වතුන්ට හිතාගන්න පුළුවනි ආර්ය පර්යේෂණයේ වටිනාකම. දැන් මේ විස්තරය තුළින්ම මේ පින්වතුන්ට සළකාගන්න පුළුවනි අනාර්ය පර්යේෂණය කියන්නේ මොකද්ද කියල.

අනාර්ය පර්යේෂණය කියන්නේ මේකයි. ඒකත් බුදුරජාණන් වහන්සේ මුලදිම විස්තර කර තියනවා ඒ සූත්‍රයේ.

"යම් කිසි කෙනෙක් ඉපදෙන ස්වභාවය ඇතිව ඉපදෙන ස්වභාවය ඇතිදේම සොයමින් යනවා. දිරන ස්වභාවය ඇතිව දිරන ස්වභාවය ඇතිදේම සොයමින් යනවා. ලෙඩ වෙන ස්වභාවය ඇතිව ලෙඩ වෙන ස්වභාවය ඇතිදේම සොයමින් යනවා. මැරෙන ස්වභාවය ඇතිව මැරෙන ස්වභාවය ඇතිදේම සොයමින් යනවා. ශෝක කරන ස්වභාවය ඇතිව ශෝක කරන ස්වභාවය ඇතිදේම සොයමින් යනවා. කෙලෙසෙන ස්වභාවය ඇතිව කෙලෙසෙන ස්වභාවය ඇතිදේම සොයමින් යනවා." ඔන්න ඕකයි අනාර්ය පර්යේෂණය.

එතකොට ඒ බුද්ධ වචනයට අනුව දැන් මේ කාලයේ ශ්‍රේෂ්ඨ හැටියට ලෝකයේ සැලකෙන පර්යේෂණ රාශියක්ම අපට කියන්න වෙන්නේ අන්න අර අනාර්ය පර්යේෂණයට වැටෙන බවයි. "ඉපදීම දුකයි" කියන බුද්ධ වචනය පවා මේ ලෝකයා, භව තෘෂ්ණාවට යටවුන ලෝකයා, පිළිගන්න සූදානම් නැහැ. නමුත් අපි දන්නවා දුක්ඛ ආර්ය සත්‍යය ගැන විස්තර කරන අවස්ථාවේ බුදුරජාණන් වහන්සේ, "ජාතිපි දුක්ඛා" "ඉපදීමම දුකක්" බව දක්වා වදාළ බව. මොකද? ඉපදීමත් එක්කම අත්වැල් බැඳගෙන දිරීම, ලෙඩවීම, මරණය, ශෝකකිරීම, කෙලෙසීම කියන මේ කාරණා ඇදිලා එනවා. එතකොට අපි සාමාන්‍යයෙන් හිතන්නේ ගෙදරක දරුවකු උපන්නාම මෙන්න මේ ආර්ය සත්‍යයේ පළමු වන සත්‍යය තේරුම් ගන්න අවස්ථාවක් පහළ වුනා කියලා. නමුත් පින්වතුනි, ඒ හඬාගෙන මව් කුසින් නික්මෙන දරුවගෙ මව්පියෝ ඒ චතුරාර්ය සත්‍යයෙන් පළමුවන ආර්ය සත්‍යය වටහා ගන්න සූදානම් නැහැ. ඒ වෙනුවට සතුටු වෙනවා. අර කියාපු විදියට සොම්නස් බලාපොරොත්තු ඇතිකර ගන්නවා. එතකොට මේ ඉපදීම පිළිබඳ ප්‍රශ්නයෙන්මයි ඒ කාරණයෙනුයි මේ ගාථාව ආරම්භ වන්නේ.

නමුත් ගාථාව ඉදිරිපත් කරන්න කලින්, තේරුම් කරන්න කලින්, ඒ

ගාථාවට පසුබිම් වුන තවත් කාරණා කිහිපයක් මතු කර දෙන්න බලාපොරොත්තු වෙනවා. දැන් අපි සඳහන් කළා බෝධි සත්වයන් වහන්සේ අවුරුදු සයක් දුෂ්කර ක්‍රියා කළා. එක්තරා අවස්ථාවක මහා සීහනාද සූත්‍රය නමැති සූත්‍රයේදී ශාරිපුත්‍ර අග්‍ර ශ්‍රාවකයන් වහන්සේ ප්‍රධාන සංඝයා වහන්සේලාට හෙළිකර වදාළා ඉතාමත් දීර්ඝ විස්තරයකින් ඒ සාවුරුද්දක් තිස්සේ තමන් කළ දුෂ්කර ක්‍රියා කොයි තරම් පුදුමද කියල. ලෝකයේ යම්තාක් තවුසන් උග්‍ර තවුස් දම් රැක්ක නම් ඒ කිසිවකුට කිට්ටු කරන්න බැරි තරම් උග්‍ර අන්දමින් තමන් වහන්සේ දුෂ්කර ක්‍රියා සමයේ තවුස් දම් රැක්ක බවට සිංහ නාදයක් පැවැත්වුවා ඒ අවස්ථාවේ. ඒකයි ඒකට 'මහා සීහනාද සූත්‍රය' කියා කියන්නේ. ඒ දේශනාව කොයි තරම් පුදුමද ආශ්චර්යවත්ද කියතොත් ඒක අසාගෙන සිටිය නාගසමාල තෙරුන් වහන්සේ බුදුරජාණන් වහන්සේට පවන් සලමිනුයි නාගසමාල තෙරුන් වහන්සේ ඒ අවස්ථාවේ සිටියේ. උන් වහන්සේ ප්‍රකාශ කරනවා "ස්වාමීනි ආශ්චර්යයි, ස්වාමීනි, අද්භූතයි. මේ ධර්මදේශනාව අහල මට ලොමු දැහැගැන්මක් ඇතිවුනා. ලොම් කෙලින් හිටියා" කියල.

අන්න ඒ තරම් පුදුම අන්දමේ දුෂ්කර ක්‍රියාවක් කරලා අවුරුදු හයක් තිස්සේ එයිනුත් ප්‍රතිඵලයක් නැතිවුනාමයි අපි කවුරුත් අහලා තියෙන ආකාරයට මධ්‍යම ප්‍රතිපදාවට වැටිලා බුදුරජාණන් වහන්සේ එදා ඒ අනුස්මරණීය වෙසක් පෝය දවසේ ඒ අපරාජිත පල්ලංකය නමින් අපි හඳුන්වන බෝධි මූලයේ වැඩ හුන්නේ. නමුත් ඒ වැඩ හුන්නේත් 'චතුරංග සමන්නාගත වීර්ය' කියල කියන උත්කෘෂ්ටම වීර්යයක් අධිෂ්ඨාන කරගෙනයි. චතුරංග සමන්නාගත වීර්යය පිළිබඳව මෙහෙමයි සඳහන් වන්නේ. "මාගේ ශරීරයේ සම් නහර ඇට පමණක් ඉතිරි වේවා! ලේ මස් වියළී යේවා! පුරුෂ වීර්යයෙන්, පුරුෂ බලයෙන්, පුරුෂ පරාක්‍රමයෙන් යම් තත්ත්වයකට පැමිණිය හැකිද, ඒ තත්ත්වයට නොපැමිණ මේ වීර්යයාගේ බහා තැබීමක් නම් නොවන්නේය." කියන ඒ මහා ප්‍රධාන වීර්යය නමින් හඳුන්වන වීර්යයක් අධිෂ්ඨාන කරගෙනයි. එතකොට ඒ වීර්යය පලදැරු අවස්ථාවේ නිර්වාණ අමෘතය වළඳලා, විමුක්ති සුවය භුක්ති විඳලා, බුදුරජාණන් වහන්සේගේ මුවින් නිකුත් වුන ගාථා දෙකයි අපි අර මාතෘකා වශයෙන් තැබුවේ. උදාන කියලා කියන්නේ සැනසුම් සුසුමක් කියන අදහසයි. ඒ තුළ තියෙන්නේ. මහා පරිශ්‍රමයක් දැරූ කෙනෙකු තුළින් ඒ පරිශ්‍රමය සාර්ථක වුනාම ප්‍රීති වාක්‍යයක් සැනසුම් සුසුමක් වගේ පිටවීම ස්වාභාවිකයි. අපිට හිතන්න තියෙන්නේ ඒ විදියේ උදාන ගාථා දෙකක්ය කියලයි අපි ඒ මාතෘකා කළේ.

දැන් ඒ ගාථාවල අර්ථය තේරුම් ගන්න අපි උත්සාහ කරමු. කලින්ම නැවතත් ඒ ගාථා දෙක මතක් කර ගනිමු.

අනෙක ජාති සංසාරං
සන්ධාවිස්සං අනිබ්බිසං
ගහකාරකං ගවේසන්තො
දුක්ඛා ජාති පුනප්පුනං

ගහකාරක දිට්ඨොසි
පුන ගෙහං න කාහසි
සබ්බා තෙ ඵාසුකා භග්ගා
ගහකූටං විසංඛිතං
විසංඛාරගතං චිත්තං
තණ්හානං ඛයමජ්ඣගා

දැන් මේක අපි පැරණි භාෂා ශෛලියට අනුව ගීයට නගන්න උත්සාහ කළොත් මෙන්න මේ විදියට කියන්න පුළුවන්. ඒ වචන සමහර විට මේ පින්වතුන්ට නොතේරෙන්න පුළුවන්. අපි තේරුම් කරලා දෙනවා. මේ ගාථා ශෛලියට අනුව බුදුරජාණන් වහන්සේ දේශනා කළ උදාන ගාථා වලට ටිකක් කිට්ටුවෙන් යන ආකාරයට ඉදිරිපත් කිරීමේ අදහසිනුයි මේ ගාථා සිංහලට නගා තියෙන්නේ.

අනේ දෑ තුළෑ සසරෙහි
අනේ! සොයමින් දිව්වෙමි.
ගෙකරු වඩුවා නොදැකම
දුකෙකි යළි යළි ඉපැදුම්

හා වඩුව! තා දුටිමි මම්
නොකළැකිය තට ගෙය යළි
ගො නැස් හැම බිඳැලුයෙමි
සී සී කඩයැ කුළු හිස
සකර සන්හුන් නැනැ සිත
දුටිමි තණ්හාවලැ තිමි.

එතකොට ඒ ගාථා දෙකේ අර්ථයයි අපි ගීයෙන් දැක්වුයේ. දැන් මේක වඩාත් තේරුම් කිරීමට කියනවා නම් "අනෙක ජාති සංසාරං - සන්ධාවිස්සං අනිබ්බිසං" බුදුරජාණන් වහන්සේ ප්‍රකාශ කරනවා නොයෙක් ජාති වල

නොයෙක් උත්පත්තිවල ඉපදෙමින් මම මේ සංසාරයේ සැරිසැරුවා. කොහොමද? "ගහකාරකං ගවෙසන්තො" මේ ගෙය සෑදූ වඩුවා සොයමින්. නමුත් ඒ සොයා ගන්න බැරුව මම මෙච්චර කාලයක් මේ සංසාරයේ උත්පත්තිය ලැබුවා. "දුක්ඛා ජාති පුනප්පුනං", "නැවත නැවත ඉපදීම දුකක්" ඊළඟට කියවෙනවා "ගහකාරක දිට්ඨොසි" "ගෙකරු වඩුව, ගේ හැදූ වඩුව, මා තුඹ දුටුවා." "පුන ගෙහං න කාහසි" "තුඹට නැවතත් ගෙයක් හදන්න බැහැ. තුඹට යළිත් ගෙයක් හදන්න බැහැ." "සබ්බා තෙ ඵාසුකා භග්ගා" "තුඹේ ගෙයි පරාළ මම බිඳල දාලයි තියෙන්නේ." "ගහකූටං විසංඛිතං" "ගෙයි මුදුන් වහල, කැණි මඩළ නැත්නම් කුළුගිය විසන්ධි කරලා බිඳල දාලයි තියෙන්නේ." "විසංඛාර ගතං චිත්තං" "මගේ සිත සංස්කාර සංසිඳුණු, සංස්කාර වලින් තොරවූ තත්ත්වයට පත්වුණා. නිවනට පත්වුනා කියන එකයි." "තණ්හානං ඛයමජ්ඣගා" "තෘෂ්ණාවන්ගේ ක්ෂය වීම, ගෙවීයාම, මා අත්දුටුවා, ප්‍රත්‍යක්ෂ කර ගත්තා" ඕකයි එතකොට ඒ ගාථාවල අර්ථය.

දැන් මේ පින්වතුන් කල්පනා කර බලන්න දැන් මෙතන බුදුරජාණන් වහන්සේ පළමුවෙන්ම මතු කරලා දුන්නේ ජාති දුකඛය ගැනයි. දීර්ඝ කාලයක් මම ඉපදෙමින් මේ ගෙය සෑදූ වඩුවා සොයමින් ගියේ මොකද? මේ ගෙය කඩන්නයි ඕනැකම. කඩලදාන්නයි. නමුත් හමු උනේ නැහැ. "දුක්ඛා ජාති පුනප්පුනං" "නැවත නැවත ඉපදීම දුකක්. එතකොට මේ ගෙය හදන වඩුවා මොකද්ද කරන්නේ? නැවත නැවතත් ගෙවල් හදනවා. ඒ හදන හදන ගෙවල් අර කිව්ව ආකාරයට දිරනවා, බිඳ වැටෙනවා. මේක මහා දුකක්.

ඉතින් මේ කාරණය අපේ යම් උගත් බෞද්ධ කවියෙක් දහම් ගැට සිවුපදයක් හැටියට ඉදිරිපත් කරලා තියෙනවා. සමහර විට වැඩිහිටි පිංවතුන් අහලත් ඇති.

කන්දේ ගෙදර නයිදේටයි කියන්නේ
දිරන ගෙවල් තුඹ කුමටද තනන්නේ
ගෙයක් හැර ගෙයක් නොතනා ඉඳින්නේ
ගෙන් ගියදා ගෙට ගිනිලා තැවෙන්නේ

කවිය ඉතින් බැලුවම නම් තේරුම් ගන්න පුළුවන් වගෙයි. නමුත් මම හිතන්නෙ නැහැ මේ පින්වතුන්ට තේරුණයි කියලා. කන්දේ ගෙදර කියන එකවත් හරියට මේ පින්වතුන් තේරුම් ගත්තද කියන එක සැකයි. කවුද මේ කන්දේ ගෙදර නයිදේ. කවුද මේ දිරණ ගෙවල් හදන කන්දේ ගෙදර නයිදේ.

ඒ නයිදේ තේරුම් ගන්න කලින් 'කන්දේ ගෙදර' තේරුම් ගන්න ඕනැ. කන්දේ ගෙදර කියන්නේ පින්වතුනි පංච ස්කන්ධ ගෙදර. මේ අපි ළඟම තියෙන පංචස්කන්ධ ගෙදර තමයි කන්දේගෙදර. මේකෙ නයිදේ කව්ද? පංචස්කන්ධ ගෙදර නයිදෙ නායකයා තමයි විඤ්ඤාණය.

අපි මෙහෙම කිව්වට මොකද මේ ගාථාවට අටුවාවල තේරුම් දීමේදී අර ගෙකරු වඩුවා නැත්නම් ගහකාරක කියන එක තෝරන්නේ තණ්හාව හැටියට. බොහෝ විට මේ පින්වතුන් අහල ඇත්තෙත් එහෙමයි. අපිට නම් තේරෙන්නේ - අපේ අවබෝධයේ හැටියට- තණ්හාව කියල ගැනීම එතැන සුදුසු නැහැ. මොකද එහෙම නම් ගාථාව අවසාන පදයේ 'තණ්හාවන්ගේ ක්ෂය වීම' කියලා කියන්න හේතුවක් නැහැ. ඒක බහුවචනයෙන්. ඒ වගේම තවත් හේතුන් නිසා අපිට පේන හැටියට 'කන්දේගෙදර නයිදේ' එහෙම නැත්නම් ගෙකරු වඩුවා විඤ්ඤාණයයි.

අපි ඒක තව ටිකක් සහේතුකව ඉදිරිපත් කරන්න බලමු. දැන් මේ පින්වතුන් සමහරවිට අහල ඇති බුදුරජාණන් වහන්සේ මේ පංචස්කන්ධයට උපමා දීමේදී මහ ගැඹුරු උපමා කීපයක් දීල තිබෙනවා. රූපය පෙන පිඩකට. වේදනාව දිය බුබුලකට. සංඥාව මිරිඟුවකට. සංස්කාර කෙසෙල් කඳකට. විඤ්ඤාණය මායාවකට. විඤ්ඤාණයම මායාවකට උපමා කරලා තියෙනවා. එතකොට ඒ විඤ්ඤාණයේ මායාකාරී ස්වභාවය නිසා තමයි ගෙකරු වඩුවා හඳුනාගන්න බැරි. ඇත්ත වශයෙන් විඤ්ඤාණයයි මේ ගෙය හදලා තියෙන්නේ. ගෙය කියලා කියන්නේ මොකද්ද මෙතැන? මේ ආත්මභාවය කියලා කියනවා. එහෙම නැත්නම් පංචස්කන්ධය කියලා අපි හඳුන්වන එකම තමයි. නැත්නම් නාම රූපය හැටියට අපි ගන්න ශරීර කූඩුව. එතකොට මේ ශරීරකූඩුව හදන්න මූලිකව උපකාර වුනේ විඤ්ඤාණයයි. ඒකයි විඤ්ඤාණයට ගෙකරු වඩුවා කියන්නේ.

ඉතින් මෙන්න මේ කාරණය තවත් සනාථ කිරීමට නම් ඒත් බුද්ධ වචනයම උපකාර කර ගනිමු. බුදුරජාණන් වහන්සේ එක්තරා අවස්ථාවක සංඝයා වහන්සේලාට දේශනා කර වදාළා; ආහාර හතරක් ගැන. " උපන්නාවූ සත්ත්වයින්ගේ පැවැත්ම සඳහාත්, ඉපදීමක්, හටගැනීමක්, බලාපොරොත්තුවන සත්ත්වයින්ට උපකාර පිණිසත්, අනුග්‍රහ පිණිසත් පවතින්නාවූ ආහාර හතරක් තියෙනවා. මොනවද, මහණෙනි, ඒ ආහාර හතර? කබලිංකාර ආහාර කියන මුව තුළට ගන්න සියුම් හෝ ගොරෝසු ආහාර කබලිංකාර ආහාරයි. අප සාමාන්‍යයෙන් ආහාර හැටියට සලකන දේමයි. ඊළඟට ඵස්ස - ස්පර්ශයත් ආහාරයක් හැටියට දක්වනවා එතැන. මනෝ සංචේතනා-සිත තුළ ක්‍රියාකරන චේතනාවල් ඊළඟට දක්වනවා.

හතරවෙනුව දක්වනවා විඤ්ඤාණය - විඤ්ඤාණයත් ආහාරයක් හැටියට දක්වනවා.

තව තැනකදී බුදුරජාණන් වහන්සේ ප්‍රකාශ කරනවා - මොලිය ඵග්ගුණ කියන සංඝයා වහන්සේ නමක් ඇහුවා, ස්වාමීනි විඤ්ඤාණ ආහාරය ගන්නේ කවිද කියා? ආහාර ගන්න කෙනෙක් ගැන හිතලයි එහෙම ඇහුවේ. බුදුරජාණන් වහන්සේ ප්‍රකාශ කළා ඒ ප්‍රශ්නයම වැරදියි. විඤ්ඤාණ ආහාරය ගන්න කෙනෙක් නැහැ. අහන්න තියෙන්නේ 'කුමකටද විඤ්ඤාණය ආහාරයක් වන්නේ?' ප්‍රත්‍යයක් වන්නේ?

එහෙමයි අහන්න තියෙන්නේ. එහෙම ඇහුවොත් මෙන්න මේ විදියටයි මෙහෙමයි කියන්න තියෙන්නේ. නැවත උත්පත්තියක් - "ආයති පුනබ්භවාභිනිබ්බත්ති" කියල කියනවා - නැවත උත්පත්තියක් ඇතිවීමට ආහාරය වෙන්නේ, ප්‍රත්‍යය වෙන්නේ විඤ්ඤාණයයි. අන්න ඒකෙන් පෙනෙනවා එතකොට තණ්හාව නොවේ එතැන කියන්නේ විඤ්ඤාණයයි ඇත්ත වශයෙන් නැවත උත්පත්තියකට උපකාර වෙන්නේ.

ඒ බව තවත් ගැඹුරින් යම් යම් සූත්‍රවල බුදුරජාණන් වහන්සේ ප්‍රකාශ කරල තියෙනවා. එක් අවස්ථාවක ආනන්ද ස්වාමීන් වහන්සේට ප්‍රකාශ කළා. දැන් මේ කාලයේ බොහෝ දෙනෙක් ඔය අන්තරාභව ආදී කතාන්දර තුළ හිරවී සිටිනවා. මහා දාර්ශනිකයෝ ඕවා අල්ලගෙන පටලැවිලි හදා ගෙන තියෙනවා. දැන් විඤ්ඤාණයත් එක්කම යන තව වචනයක් තමයි නාමරූප කියන ඒක. අපි ඒ ටික ඉස්සරවෙලා කියල හිටිමු. දැන් මේ පින්වතුන් මේ විඤ්ඤාණය ගැන යම් ප්‍රමාණයකට අහලා ඇති. නමුත් ඒකේ පසුබිම කල්පනා කරල බැලුවොත් අපි ඒක ඉස්සෙල්ල කියමු. අවිජ්ජා පච්චයා සංඛාරා, සංඛාර පච්චයා විඤ්ඤාණං ආදි වශයෙන් ඔය පටිච්ච සමුප්පාද ධර්මයේ තියෙනවා නෙ. එතකොට අවිද්‍යාව ප්‍රත්‍යය කරගෙනයි සංස්කාර ඇති වෙන්නේ. සංස්කාර ප්‍රත්‍යය කරගෙනයි විඤ්ඤාණයක් ඇති වෙන්නේ. එහෙම කියනවා. විඤ්ඤාණය ප්‍රත්‍යය කරගෙන නාමරූපයක් ඇති වෙනවා. ඔන්න ඔය නාම රූපයයි ඇත්ත වශයෙන් අපට ගන්න තියෙන්නේ මේ "ගේ" - මේ "ආත්මභාවය" හැටියට, 'මමය, මාගේය කියලා. ශරීර කූඩුව නාම රූප හැටියට හැඳින්වුවත් වරදක් නැහැ. මොකද? මෙතැන කියනවා, මව් කුසයෙහි නාම රූපයක් හට ගන්නේ නාම රූපයක් උත්පත්තිය ලබන්නේ පුද්ගලයෙක් හැටියට, ආත්ම භාවයක් හැටියට, විඤ්ඤාණය ඒක තුළට වැදගත්තොත් පමණයි කියලා. ඒ කියන්නේ මෙහෙම සඳහන් කරනවා දැන් මව්කුසක විඤ්ඤාණයත් නාමරූපයත් දෙක එකට වැඩී සම්පූර්ණ වුනාම තමයි දරුවකු උපදින්නේ. යම් අවස්ථාවකදී මව් කුසයේදීම විඤ්ඤාණය පහව ගියොත් නාමරූපය

සත්ත්වයෙක් හැටියට උපදින්නේ නැහැ. ඒක නිකම් මස් ගොඩක් විතරයි. එයින් අපට තේරුම් ගන්න පුළුවන් යම් කිසි කාරණයක්. ඒ වගේම බුදුරජාණන් වහන්සේ ප්‍රකාශ කරනවා යම් කුඩා දරුවකුගේ හෝ දැරියකගේ විඤ්ඤාණය ළමා කාලයෙදිම නැති වුනොත්, තිරුද්ධ වුනොත් නාම රූපය වැඩෙන්නේ නැහැ. අපි මේ නාම රූපය කියලා කියන්නේ මම මාගේය කියන ශරීරකූඩුව කියල කියමු. ඒක වඩා ගැලපෙනවා. අපි කෙනෙක් හැටියට හඳුන්වන එක, නිකම් සාමාන්‍ය රූපයක් විතරයි. ධාතු හතර ආශ්‍රයෙන් පඨවි, ආපො, තේජො, වායො කියන ධාතු හතර ආශ්‍රයෙන් රූප සඤ්ඤාවක් - නමට ඇති රූපයක් මේක. එකක්වත් වෙන්කරගන්න බැහැ, මේ ධාතු හතර. ඒක නිකම් නමට රූපයක් විතරයි. වේදනා, සඤ්ඤා, චේතනා, ඵස්ස, මනසිකාර කියන ධර්ම නාම ධර්ම හැටියට දක්වනවා. එතැනත් නමක් හැටියට ගන්න දෙයක් නැහැ. ඉතින් මෙන්න මේ නාමරූපය තමයි අපි මේ ආත්මභාවය ආදි වශයෙන් සලකන්නේ. ඉතින් ඒ නාමරූපය උත්පත්තියක් ලබන්නේ විඤ්ඤාණය නිසාය කියලයි එතන බුදුපියාණන් වහන්සේ ප්‍රකාශ කරන්නෙ.

එතකොට දැන් අපි ඊළඟට කල්පනා කරල බලමු අපි අර මායාව ගැන කියාපු කතාව. මොකද මේ විඤ්ඤාණයේ යථාස්වභාවය තේරුම් ගැනීම පහසු නැහැ. ඒක බුදුපියාණන් වහන්සේ තවත් උපමාවකින් දක්වනවා. අපි කලින් සඳහන් කළ උපමාව කථාවක් හැටියට දක්වනවා. ඒ කාරණය බුදුරජාණන් වහන්සේ සංඝයා වහන්සේලාට ප්‍රකාශ කරනවා "මහණෙනි, යම් මායාකාරයෙක් - දැන් මේ කාලයේ වචනයෙන් කියනවා නම් විජ්ජා කාරයෙක්, මැජික්කාරයෙක් - හතරමං හන්දියක විජ්ජා දර්ශනයක් පවත්වනවා. ඒක දැකල කෙනෙක් මුළා වෙනවා. නමුත් අවසානයේ ඇත්ත වශයෙන් බලනව නම් නැති දෙයක් ඇති හැටියට පෙන්වීමක් මේ මායාකාරයා කළේ. රැවටිල්ලක්. නමුත් ලෝකයා විඤ්ඤාණයේ මේ යථාතත්ත්වය තේරුම් නොගෙන ඒකට රැවටෙනවා. ඒකයි අර සංසාරයේ දිගට දිගට යන්නේ. ඉතින් ඒ අවබෝධය තමයි පටිච්ච සමුප්පාදය තුළින් බුදුරජාණන් වහන්සේ ප්‍රකාශ කරන්නේ. අවිද්‍යා අන්ධකාරය, අවිද්‍යාව කියන එක, දැන් විජ්ජාව ගැන කිව්වොත් විජ්ජාවේ විජ්ජා තත්වය නොදැනීම තමයි අවිජ්ජාව. විජ්ජාවේ භාෂාවෙන් කිව්වොත් අර විජ්ජාකාරයාගේ රහස නොදැනීම තමයි අවිජ්ජාව. ඒ විදියටම තෝරන්න යන්න එපා. ඔය ධර්ම විග්‍රහ වලදී අවස්ථානුකූලවයි අපි ඒ කිව්වේ. ඒක අන්ධකාරයක් වාගේ. මෝහ අන්ධකාරය. ඒ මෝහ අන්ධකාරය තුළ තමයි ආස්වාදයක් ලබන්නේ විජ්ජා දැක්මක් තුළින්. යම් කිසි අවස්ථාවක අර විජ්ජා කාරයාට හොරෙන් වේදිකාවේ හැංගිලා හරි ඒවා සොයා ගත්තා නම් එයාට විජ්ජාව නැති වෙනවා. විජ්ජා දර්ශනයෙ විජ්ජාව නැතිවෙලා යනවා. ඒකේ මැජික්කම නැති වෙල යනවා. ඔන්න

ඔය විදියේ තත්ත්වයක් තියෙනවා. ඒකම - විජ්ජා දර්ශනයෙන් කෙරෙන ටිකම - තමයි දැන් කාලයේ නානාවිධ - මේ පින්වතුන් දන්නවානේ, දැන් චලන චිත්‍රපට ටෙලිනාට්‍ය ආදී නානාවිධ දේවල් තියෙන්නෙ ලෝකේ. ඒ හැම එකක් තුළම තියෙන්නේ අර මෝහයම තමයි. විශේෂයෙන්ම සිනමාව ආදියකදි අපි දන්නවා අන්ධකාරය - අවිද්‍යා අන්ධකාරය - ක්‍රියාත්මක වන හැටි. චිත්‍රපටියක් ආස්වාදය කරන කිසිම කෙනෙකුට ඒ මොහොතෙදී අර තමන්ට ඒ ආස්වාදය ලබන්න හේතු වුනේ අවිද්‍යා අන්ධකාරයය කියන එක හිතෙන්නේ නැහැනේ. මේ අඳුර නිසයි මෙච්චර වෙලා ලස්සණට සිනමා තිරයෙන් මේවා පේන්නේ කියන එක ඒ වෙලාවට හිතෙන්නේ නැහැ. ඒ අන්ධකාරය තුළ තිමග්න වෙලා ඒ මෝහයෙන්ම තමයි ආස්වාදය කරන්නේ. අන්න ඒකයි අවිජ්ජාව. බුදුකෙනෙක් සොයා දෙනවා මිසක් ඒක සොයා ගන්න බැහැ සාමාන්‍ය කෙනෙකුට.

එතකොට ඒ අවිද්‍යාව තුළ ක්‍රියාත්මක වන සංස්කාර තුළින් තමයි අර ආස්වාදය ලබන්නේ. ඒ සංස්කාර තමයි අපි හිතමු ඒ සිනමාව දැකලා චිත්‍රපටිය දැකලා ඒ පුද්ගලයා තුළ - සිත තුළ ක්‍රියාත්මක වන දේ, වචනයෙන් ක්‍රියාත්මක වන දේ, ශාරීරිකව ක්‍රියාත්මක වන දේ හැම එකක්ම අන්න අර මූළාව තුළයි. ඒක තමයි සංස්කාර කියන්නේ. ඒ සංස්කරණයයි. එතකොට කර්ම රැස් වන්නෙත් ඒ සංස්කරණය තුළිනුයි. ඔන්න ඔය සංස්කාර නිසයි අපි මේ දීර්ඝ සංසාරයේ, සංසාරය ගැන කල්පනා කරල බැලුවොත් අර කියන සංස්කාරවල කර්ම ශක්තිය තුළින් මම, මාගේ කියා ඇතිකර ගන්නා කර්ම ශක්තිය තුළින් තමයි නැවත උත්පත්තියක් ඇති වෙන්නේ. ඒ කර්ම, විපාක දෙනවමයි. විපාක දෙමින් යනවා. ඒ නිසා රූප මැවෙනවා. ඒකට අනුව නාමරූප ආදිය මව්කුසේ ඇති වෙනවා. ඒකත් අර කිව්ව වගේ විඤ්ඤාණය යම් අවස්ථාවක මව් කුසින් පහවෙලා ගියොත් වෙන තැනක උත්පත්තිය ලබනවා. අර මූසගභීයක් වගේ. ඔන්න ඔය වගේ තත්ත්වයක්. ඉතින් අපි දෙපැත්තටම මේ ජීවිතයට අදාළ පමණිනුත්, ගැඹුරිනුත් ගත්තොත් ධර්මතාවක් වශයෙන් ඒ විජ්ජාවක හෝ සිනමාවක හෝ චලන චිත්‍රයක හෝ මෝහනය හෝ රැවටිලි ස්වභාවයක් ඇතිවෙන්නේ අන්ධකාරය නිසයි. ඒ අන්ධකාරය පිහිට කරගෙන ඇතිවන හිත තුළ හෝ ක්‍රියාකාරීව එහෙම නැත්නම් අපි හිතමු රැවටීම සඳහා යෙදූ අඟ පසඟ වල සැරසීම. ඇත්ත වශයෙන් 'සංස්කාර' කියන වචනය අතීතයේ යෙදුනේ ඒ ඒ නළු නිළියන්ගේ හැඩ වැඩ දැමීම් වලට. ඒ හැඩ වැඩ දැමීම් ඔක්කොම රැවටිලි. ඒ රැවටීම් වලට මූළාවෙන්නෙ අවිද්‍යාව නිසයි. අන්ධකාරය නිසයි. යම් අවස්ථාවක දැන් මේ පින්වතුන් දන්නවා සිනමාවක එහෙම රස විඳින අවස්ථාවක සම්පූර්ණ ආලෝකයක් ආපු හැටියේ අර සිනමා තිරය මැකී යනවා. විවර්ණ වෙලා යනවා. අන්න ඒ වාගේ දෙයක් මෙතන මේ ප්‍රඥා ආලෝකය ආවාම. එතකොට බුදුරජාණන්

වහන්සේට ප්‍රඥා ආලෝකය පහළවුන අවසථාවේ අන්න අර සංස්කාර සංසිඳුන හැටි. ඒකයි අර 'විසංඛාරගතං චිත්තං' කියන්නේ.

එතනම ඔන්න අපිට තේරුම් ගන්න පුළුවන් අනිත් හරියත්, මේ මායාකාරයා විඤ්ඤාණය කියලා ගත්තොත් ඒ තරම් දුරට අපිට හිතාගන්න පුළුවන් මේ ගාථාව වඩාත් අර්ථවත් හැටියට. "විසංඛාරගතං චිත්තං" සංස්කාර විසංස්කාර වෙනවා. සංස්කාර වලින් කරන්නේ රැවටිල්ල නම් ඒ රැවටිල්ල නැතිවුන අවසථාවේ ඒවා විසංස්කාර. නමට විතරයි සංස්කාර. අන්න ඒ විදියේ තත්ත්වයක්. එතකොට ඒ සිත. බුදුරජාණන් වහන්සේගේ විමුක්ත සිත සංස්කාරවල පීඩනයෙන් විමුක්තයි. ඒක තමයි ලෝකයේ තියෙන උතුම්ම සුවය හැටියට බුදුරජාණන් වහන්සේ ප්‍රකාශ කරන්නේ. " සබ්බ සංඛාර සමථ" - සියලු සංස්කාරයන්ගේ සංසිඳීම වෙන්නේ අන්න අර අවිද්‍යා අන්ධකාරය ඉවත්වුන අවසථාවේදීයි. එතකොට සංසාරයේ දිව්වේ අවිද්‍යා අන්ධකාරය නිසයි. ඒ අවිද්‍යා අන්ධකාරය නිසා රැස්කර ගත්තු සංස්කාර කර්ම වශයෙන් සැලකුවොත් ඒක නැවත නැවත උත්පත්තියට හේතුවෙනවා. ඒ ඇතිකර ගත්තු කර්ම ශක්තීන් විපාක දීම් වශයෙන් ඔන්න අර තව තවත් ගෙවල් හද හදා ඔන්න මාරයට ඉඩ ලැබෙනවා. ඒ විකට තමයි අපි මාරයයි කියන්නේ. හද හදා මරණවා. ගෙවල් හදනවා කැඩෙනවා. ඉතින් ඔය විදියට මේ විඤ්ඤාණ මායාවගේම ක්‍රියාකාරීත්වයක් අපට පෙන්නුම් කරන්නේ. ඉතින් මේ ආකාරයෙන් අපට හිතා ගන්න පුළුවන් මේ ගාථාවේ "ගහකාරක" එහෙම නැත්නම් ගෙකරු වඩුවා විඤ්ඤාණයයි.

ඊළඟට "ගහකාරක දිට්ඨෝසි පුන ගෙහං න කාහසී" නැවත ගෙයක් හදන්න බැරිය කියපු එකත් අපි අර මව්කුසේ දරුවා ඇතිවෙලා ගිලිහිලා යන ආකාරය ගැන කිව්වා වගේ හිතා ගන්න පුළුවන්. නැවත ගෙයක් හැදෙන්නට "ආයති පුනබ්භවං" නැවත උත්පත්තියක් ඇති වීමට විඤ්ඤාණයයි උපකාර වන්නේ. විඤ්ඤාණ නාම රූප දෙක අතර අන්‍යෝන්‍ය ප්‍රත්‍ය සම්බන්ධතාවක් ඇතැයි කියලා බුදුපියාණන් වහන්සේ ප්‍රකාශ කළා. මහපුදුම දෙයක් එතැන තියෙන්නේ. නාමරූපයේ පැවැත්මට විඤ්ඤාණය උපකාර වෙනවා. විඤ්ඤාණය නැතිවූ හැටියේ මව්කුසේ නාමරූපයත් නෑ - නාමරූපය කියන එක දැන් මේ පින්වතුන් දන්නව නේ ව්‍යවහාරයේ හැටියට මව්කුසේ ඔය කළල රූපය ඇතිවෙන්නෙ. කළල රූපය කියල ව්‍යවහාරයට ඇවිල්ල තියෙන්නෙ. හරියට ඔය ඡායාරූපයක් වගෙයි. අවසාන හිතක් කොහේ හරි නැතිවන අවසාන හිතක ඒ ඒ ග්‍රහණය කරගත්තු ඒ ඒ කර්ම ශක්තිය තුළින් විඤ්ඤාණය ගිහිල්ලා තැන්පත් වෙනවා, ඉස්සර වෙලාම යම්කිසි ඡායාවක් හැටියට. ඒක තමයි නවමාසයක් තිස්සේ වැඩිලා අන්තිමට දරුවෙක් හැටියට 'රත්තරං පුතෙක් - රත්තරං දුවෙක්' හැටියට එළියට එන්නේ - අඬාගෙන. ඉතින් ඔන්න ඕකයි ජීවන තත්ත්වය. ඇත්ත

වශයෙන් බැලුවොත් මේ කාරණය තව දුරටත් පැහැදිලිවන වටිනා සූත්‍ර දේශනා තියනවා සාධක අවශ්‍ය නම්.

බුදුරජාණන් වහන්සේ තවත් අවස්ථාවක ප්‍රකාශ කරනවා මේ සත්ත්වයාගේ උත්පත්තිය ගැන ප්‍රකාශ කරන තැන "කම්මං ඛෙත්තං, විඤ්ඤාණං බීජං තණ්හා සිනෙහො" කියලා. කර්මය තමයි කෙත, විඤ්ඤාණය තමයි බීජය, තණ්හාව තමයි දිය සීරාව. එතකොට කර්මය නමැති කෙතේ විඤ්ඤාණ බීජය වැටිලා තණ්හාව නමැති දිය සීරාව උපකාර කරගෙන වැඩෙනවා.

මේ කාරණය වඩාත් අර්ථවත් අන්දමින් ප්‍රකාශවෙන තවත් සූත්‍ර දේශනාවක් තියෙනවා සේලා නමැති රහත් මෙහෙණිය පිළිබඳව. මේ සේලා නමැති රහත් මෙහෙණියට අභියෝග වශයෙන් මාරයා ඇවිල්ලා ඇසූ ගාථාවක් ධර්මයේ සඳහන් වෙනවා. ඒ ගාථාවේ - පාලි වැකියෙන් කියන විට මේ පින්වතුන්ට බාධාවක් වන නිසා - අදහස පමණක් කියන්නම්. ඒ මාරයා අහන ප්‍රශ්නය මොකද්ද? එතන යෙදෙනවා අමුතු වචනයක් "බිම්බ" කියලා. ප්‍රතිබිම්බ කියල කියන්නේ - පිළිබිඹුව කියල කියන්නේ. දැන් බිම්බ කියන වචනය යෙදෙනවා ප්‍රතිමාවටත්. යමක ආකෘතිය. යමක අනුරුව. එහෙම නැත්නම් පිළිරුව, පිළිබිඹුව. ඔය ආදී අර්ථ යෙදෙනවා බිම්බ කියන එකට. එතකොට බිම්බ කියන වචනය යෙදෙනවා ශරීරකූඩුවට. මාරයා අහනවා මේ බිම්බය, ශරීරකූඩුව කවුද මැව්වේ? කා විසින්ද මවනු ලැබුවේ? කවුද මේකේ මැවුම් කාරයා? මැවුම් කාරයා කියන අදහසයි මාරයා ඉදිරිපත් කරන්නේ. මේ ශරීර කූඩුව හැදූ මැවුම්කාරයා කවුද? කොතනද මේක ඇතිවුනේ? කොතනද මේක නිරුද්ධ වෙන්නේ? ඔන්න ඔහොම ප්‍රශ්න කීපයක් මාරයා අසනවා. ඊළඟට සේලා තෙරණිය ඊට දෙන පිළිතුරෙ කියනවා, මේ බිම්බය, මේ පිළිබිඹුව, මේ ප්‍රතිරූපය, මේ ආකෘතිය තමා කළත් නොවෙයි, තමා හැදුවත් නොවෙයි. අනුන් විසින් කළත් නොවෙයි. නමුත් හේතුවක් නිසා, යම්කිසි හේතුවක් නිසා, මේක ඇතිවුනා. ඒ හේතුව බිඳීයාමෙන් මේක නිරුද්ධ වෙනවා. ඔන්න ඊළඟට තියෙනවා ඒ ගාථාවේ වඩාත්ම වැදගත් කොටස. දැන් අපි කියපු බුද්ධ වචනයට යා කර ගන්න පුළුවන්. ඔන්න උපමාවක් දෙනවා සේලා තෙරණිය. යම්සේ යම්කිසි බීජයක් කෙතක පැල කළ කල්හි වැඩෙනවා මොනවා උපකාර කරගෙනද? පෘථිවි සාරයත්, පොළවේ සාරයත් දියසීරාවත් උපකාර කරගෙන යම් කිසි බීජයක් වැඩෙන්නේ යම්සේද එසේම මේ සත්ත්වයා හේතු ප්‍රත්‍යය නිසා ඇතිවෙනවා. ඒ හේතු ප්‍රත්‍යය නැති කිරීමෙන් නැති වෙනවා. ඔපමණයි සේලා තෙරණිය ප්‍රකාශ කරන්නේ. නමුත් අපි කලින් කිවූ බුද්ධ වචනය අටුවාවක් හැටියට මෙතනට එකතු කර ගත්තොත් හිතා ගන්න පුළුවන් මේ තෙරණිය මෙතනින් අදහස් කළේ කර්මය නමැති කෙතේ අන්න අර විඤ්ඤාණ බීජය පෘථිවි රසයත්, දිය සීරාවත් උපකාර කරගෙන විඤ්ඤාණ බීජය වැඩෙනවා වගේ

තමයි අර බිම්බය වැඩෙන්නේ. අර සත්ත්වයෙක්, ශරීරකූඩුවක් කියන ඒක ලෝකයට පහළ වෙන්නේ.

ඇත්ත වශයෙන් කියනව නම් පැය ගණනකින් කියයුතු ධර්ම කාරණා රාශියක් මේ අපි කෙටියෙන් දක්වන්නේ මේ පින්වතුන්ට ඒ ඒ මට්ටමින් තේරුම් ගැනීමට. යටත් පිරිසෙයින් උපමා ආශ්‍රයෙන් හෝ තේරුම් ගැනීමටයි. මෙයිනුත් අපට තේරෙනවා එතකොට මේ මායාකාරයා නැත්නම් ගෙකරු වඩුවා විඤ්ඤාණයයි. විඤ්ඤාණයේ යථා ස්වභාවය දැකීමට උපකාර වන්නේ ප්‍රඥා ආලෝකයයි. ප්‍රඥා ආලෝකය මතුවුන අවස්ථාවේ පෙනෙනවා. මේ විඤ්ඤාණයත් හේතු ප්‍රත්‍ය නිසා ඇතිවෙනවා. විඤ්ඤාණයට හේතු ප්‍රත්‍යය නාමරූපයයි. නාමරූපය නිසා විඤ්ඤාණය පවතිනවා. ඒ දෙකේ පැවැත්මට උපකාර වන්නේ අන්න අර ඊට පසුබිම්ව සිටින අවිද්‍යා අන්ධකාරයත් සංස්කාර කියලා කියන සංස්කරණයත්. යම්කිසි සංස්කරණයක් තුළිනුයි මේ ගේ ගොඩ නැගෙන්නේ. ඒ සංස්කරණය තමයි හිතින් වචනයෙන් කයෙන් කරන කර්ම. කාය සංස්කාර, වචී සංස්කාර, මනෝ සංස්කාර. මේ පින්වතුන් දන්නවා නරක කර්ම කළොත් අපායට යනවා කියනව. හොඳ කර්ම කළොත් දිව්‍යලෝකයට යනවා කියනව. ඒ කොයි එක වුනත් ඔය සංස්කරණයක් කෙරෙනවා. ඒ සංස්කරණයට හේතුව අපි සාමාන්‍යයෙන් කියන්නේ අවිද්‍යාව නිසාය කියලයි. අවිද්‍යාව කියලා කියන්නේ මොකද්ද? "මමය, මාගේය" කියන හැඟීම. මමය මාගේය කියන හැඟීම අර හේතු ප්‍රත්‍ය කියන ඒ අවබෝධයට විරුද්ධයි නේ. බුදුරජාණන් වහන්සේලා කියන්නේ මේක හේතු ප්‍රත්‍ය පරම්පරාවක් හැටියට. නමුත් සාමාන්‍ය ලෝකයා, "සක්කාය දිට්ඨිය" කියන ඒ ආත්ම දෘෂ්ටියේ බැසගත් පුද්ගලයා, හිතන්නේ මම කරනවා, මම කරනවා කියලා. මම කරනවා නම් මම වගකීමත් ගන්න ඕනෑ. ඒ දෙක එකට යනවා. ඒකයි කර්මයයි විපාකයි කියන්නේ. එතනදී බේරෙන්න බැහැ. මම නොවෙයි කළේ කියලා. එතකොට යම් කර්මයක් මමත්වයකින් යුතුව කරනවා නම් ඒ කර්මයේ විපාකයත් ඒ එක්කම ඇදිලා එනවා. ඕක ධර්මතාවක්. ඔන්න ඒ පැත්ත හුගක් තේරුම් ගන්න පුළුවන් ඒක ආශ්‍රයෙන්. ඒ ඉතින් ගහකාරකයා ගැන කිව්ව ටික.

ඊළඟට තවත් මේ ගාථාවේ තේරුම් කළ යුතු කොටස් තිබෙනවා. "ගහකාරක දිට්ඨොසි - පුනගෙහං න කාහසි" කියන එක ඔය ටිකෙන් තේරුනා. නැවත ගෙයක් - බුදුරජාණන් වහන්සේට නැවත ගෙයක් - හදන්න බැරි ඒ ප්‍රඥා ආලෝකය තුළින් යථා තත්ත්වය දුටු නිසයි. ඒ දුටු නිසා කර්මය ක්ෂය කළා. කර්ම ඇතිවීමේ ශක්තිය නැතිවුනා. හරියට අර විජ්ජාවක පිටිපස්සෙන් විජ්ජාවේ හොර දක්ක කෙනා ආයෙ යන්නේ නැහැ නෙ විජ්ජාකාරයා ළඟට විජ්ජා බලන්න. ඒ වගේ බුදුරජාණන් වහන්සේ ඒක සර්ව ප්‍රකාරයෙන්ම අවබෝධ කර ගත්තා. හේතු ප්‍රත්‍ය නිසා ඇතිවන

දෙයක් මේක. සාරයක් නැති දෙයක්. ඒක තේ අවසානයේ බුදුරජාණන් වහන්සේ අර මායාවේ උපමාව දීලා විජ්ජාකාරයාගේ උපමාව දීලා සංඝයා වහන්සේලාගෙන් අහනවා "කිමෙක්ද මහණෙනි, මායාවක ඇති සාරය?" සාරයක් නැතිය කියන එකයි. නමුත් මුළු මහත් ලෝකයාම හිතන්නේ විඤ්ඤාණය තමයි හරයක් ඇතිදේ කියලා. ඔය අන්‍ය ආගමිකයින් අවසානයේ අල්ලා ගත්තේ, දැඩිව ගත්තේ, විඤ්ඤාණයයි. ඒක හරයක් ඇති දෙයක්, සාරයක් ඇති දෙයක්, සත්‍ය දෙයක්, නිත්‍ය දෙයක් හැටියට සලකනවා. නමුත් බුදුපියාණන් වහන්සේ එතැනටමයි ගහන්නේ. ඒක මායාවක්. බොරු පෙන්වීමක් විතරයි. රහස නොදන්න නිසයි ඒකට රැවටෙන්නේ. රහස දැනගත්තු හැටියේ ඒ විඤ්ඤාණය නිරුද්ධ වෙනවා. මැජික් නොමැජික් වෙනවා. ඒ වගේ දෙයක් වෙන්නේ. විඤ්ඤාණය නිරුද්ධ වෙනවා. ඉතින් අන්න ඒ විදියෙ තත්ත්වයක් ඊළඟට. 'පුනගෙහං න කාහසි'.

දැන් මෙතැන කියවුනා 'සබ්බා තෙ ඵාසුකා භග්ගා" ඒකත් විස්තර කළ යුතු දෙයක්. ගෙකරු වඩුවාටයි බුදුපියාණන් වහන්සේ ඊළඟට අමතන්නේ. හා වඩුව! තා දුටිමි මම් - නොකළැකිය තට ගෙය යළි - ගොනැස් හැම බිඳ ලූයෙමි - අපි මේ පරණ වචනයක් ගත්තේ මේ ගාථාවේ ප්‍රායෝගිකත්වය සළකලා. ගොනැස් කියන වචනය නම් දැනට ව්‍යවහාරයෙ නැහැ. ගොනැස් කියල කියන්නේ පින්වතුනි පරාල වලට. ඒ මේ වහළ දරාගෙන ඉන්න අර්ථයෙන් මේකට ගොනැස් කියල කියනවා. නමුත් මේ පරාල කියන එකත් අටුවාවෙ වෙන විදියකට තෝරන්නේ. අටුවාව මේ පරාල කියන එක තෝරන්නේ 'අවසෙස කිලෙසා' 'ඉතිරි කෙලෙස්' - ඉතිරි කෙලෙස් කියලා කිව්වේ මොකද? තණ්හාවත් ක්ලේශයක් නේ. එතකොට වඩුවා තණ්හාව, ඉතිරි කෙලෙස් පරාල. නමුත් අපට නම් වැටහෙන විදියට මීට වඩා ගැඹුරු දෙයක් මෙතැන තියනවා. මේ පරාල කියන්නේ සළායතනයයි. ආයතන හයයි. ආයතන කියන එක මේ පින්වතුන්ගෙන් ඇතැම් කෙනෙක් දන්නේ නැතිව ඇති. ඇස, කණ, නාසය, දිව, කය, මන කියන ආයතන හයට. ඒවා ආධ්‍යාත්මික ආයතන නමින් හඳුන්වනවා. ඇතුළත කියන ආයතන හය. ඕකට අරමුණු වන දේවල් තමයි මේ පින්වතුන් දන්නවා රූප, සද්ද, ගන්ධ, රස, ඵොට්ඨබ්බ හා ධම්ම කියන දේවල්. ධම්ම කියල කියන්නේ දේවල්. හිතට අරමුණු වන දේවල්. එතකොට මේ දෙකක් අතර ආයතනයක් තියනවා. ඇසයි - රූපයයි, චක්ඛු ආයතනය, කණයි - ශබ්දයයි, සොත ආයතනය, ඔය විදියට ගිහිල්ලා මනසයි - ධර්මයයි, සිතයි - සිතුවිලි කියන දෙක අතරත් ආයතනයක් තියනවා. ඒක අපට හිතා ගන්න පුළුවන් පරාල කොන් දෙක වගේ කියලා. එතකොට මෙන්න මේ පරාල උපමාව අපට තෝරන්න වෙන්නේ මේ සළායතනය තුළින්. මොකද, අර නාමරූපය උපකාර කරගෙන නාම රූපයේ අතු ඉති විහිදලා එතකොට අර දරුවා

ඉපදුනාට පස්සේ ඔය ආයතන තමයි ක්‍රියාත්මක වෙන්නේ. ඇස රූප ඔස්සේ දුවනවා. අර මුවා මිරිඟුව ඔස්සේ දුවන්න වගේ. කණ ශබ්දය ඔස්සේ දුවනවා. මිහිරි හඬ ඔස්සේ. ඒ විදියට මේ දිවිල්ල කෙරෙනවා ඔය දෙක අතර. ඒකයි ඒ ආයතන හය - මේකයි මේ පරාල. ඉතින් කෙලෙස් වහල ඔක්කොම දරාගෙන ඉන්නේ මේ හය නේ? මේ පරාල හයයි ඔක්කොම කෙලෙස් දරාගෙන ඉන්නේ. ඒක වෙනම කෙලෙස් හැටියට දක්වන්න සුදුසු නැහැ. ඊළඟට තවත් ඒක ඔප්පු වෙන්න තව දුරටත් කියමු "සබ්බා තෙ ඵාසුකා භග්ගා" ඒ පරාලත් බිඳ දාලයි තියෙන්නේ. මොකද නාමරූප, විඤ්ඤාණ දෙකේ රහස දක්කට පස්සේ නාමරූප නිසා ඇතිවන සළායතනයන් ක්‍රියාත්මක වෙන්නේ නැහැ. අර මුවා අඳුනගත්ත නම් - මුවා තේරුම් ගත්ත නම් - මේ පේන්නෙ මිරිඟුවක්, වතුර නොවෙයි මේක, යම්කිසි ස්වාභාවික කාලගුණික ක්‍රියාදාමයක් කියල, මුවා දුවන්නේ නැහැනෙ ඒක ඔස්සේ - මුවා එතකොට ඒ වතුර සංඥාව ඉවත් කරනවා. අන්න ඒ වගේ දෙයක් මෙතන මේ ආයතන නිරෝධය කියලා කියන්නේ. බුදුරජාණන් වහන්සේගේ අවිද්‍යා නිරෝධය අනුවම අර අතින් නිරෝධත් සිද්ධවුනා කියල අපට හිතා ගන්න වෙනවා. සංස්කාර, විඤ්ඤාණ, නාමරූප, සළායතන, සළායතන වල ආයතන තත්ත්වය **ආයතන කියල කියන්නේ වෙන විදියකින් කියනව නම් කෙලෙස් නිෂ්පාදනාගාර.** කෙලෙස් නිෂ්පාදනාගාර හයක් තියෙනවා අපට. ඉතින් ඔන්න ඔය ආයතන ක්‍රියා විරහිත වෙනවා ප්‍රඥාව මතුවුනාට පස්සේ. කර්ම රැස්වන්නේ ඕවා තුළින්. ඉතින් "සබ්බා තෙ ඵාසුකා භග්ගා".

ඊළඟට කියනවා "ගහකූටං විසංඛිතං" ගහකූට කියල කියන්නේ අර කුළු හිස, ගෙයක කුළු හිස. ඒක විසන්ධි කරලා දාන් තියෙන්නේ. අන්න එතනදි නම් අටුවාව කියන්නේ 'ගහකූටං' කියන්නේ අවිජ්ජාව. ඒක අපිත් පිළිගන්නව - අවිද්‍යාව තමයි. ඒක නෙ අවිද්‍යාවෙන් නේ මේ ඔක්කොම ඇතිවන්නේ. 'අවිජ්ජා පච්චයා සංඛාරා' කියල එතැන ඉඳල නේ එන්නේ. මේ අවිද්‍යාවම තමයි ඇත්ත වශයෙන්ම කුළු හිස. මේ කූටාගාරයට සම්බන්ධයි අර කියාපු පරාල හය. ඇස, කණ, නාසය, දිව, කය, මන කියන ඒවා මේ අවිද්‍යාව තුළින් ක්‍රියාත්මක වෙන්නේ. ඒ අවිද්‍යාව තුළින් තමයි ඒවාට අරමුණු ඉදිරිපත් කරන්නේ. කෙලෙස් අරමුණු. ඒවා ඔස්සේ ඊළඟට දුවනවා. ඉතින් අවිද්‍යාව තමයි ඇත්ත වශයෙන් කියනවා නම් මෙන්න මේ ගේ හදන වඩුවාගේ ඒ කුළුහිස. එතකොට යම් අවස්ථාවක මේ කූටාගාරය, මේ වහළ, සම්පූර්ණයෙන් සුණුවිසුණු කළා නම් ආයේ ඒක හදන්න ලැබෙන්නේ නැහැ. ඒකයි මේ "ගහකූටං විසංඛිතං" අන්න විසංඛිතං කියන වචනයෙන් අර සංස්කාර ශබ්දය තිබෙනවා. ඒක යම්කිසි සංස්කරණයක් කළා, අර වඩුවා. මේ අවිද්‍යාව නොපෙනෙන හැටියට. නමුත් දාන් ඒක එහෙම පිටින්ම ක්‍රියාවිරහිත කරලා. විසන්ධි කරලා.

"විසංඛාරගතං චිත්තං 'ඒක නිසා මගේ සිත' - මේ බුදුරජාණන් වහන්සේ ප්‍රකාශ කරනවා - මගේ සිත විසංඛාර තත්ත්වයට පැමිණිලා කියලා. ඒක වෙනත් විදියකින් කියනව නම් සංස්කාර සංසිඳීමයි. සංස්කාර සංසිඳුන තැන සංස්කාරවලට තැනක් නැහැ. අර අපි වෙන විධියකින් කියනව නම් සිනමා තිරයේ අර ආලෝකය ආවාට පස්සේ කොයිතරම් වෙවණී දේවල් තිරයට වැටුනත් ප්‍රේක්ෂකයාට ඒකේ ගන්න දෙයක් නැහැ. එයාට සිනමාව නතරවෙලා. අන්න ඒ වගේ මෙතනදිත් සංස්කාර විසංස්කාර වෙලා. "විසංඛාරගතං චිත්තං" ඒක තුළින්මයි ඒ සංස්කාරවල රචටන ස්වභාවය නැති වෙනකොට තණ්හාව එතනම ඉවරයි. චිත්‍රපටියක් නම් ඒ අවස්ථාවේදි රස විඳින්න, ආස්වාදය කරන්න බැහැ. ඒ වගේම තණ්හාවන්ගේ අවසානය එතැනයි.

මෙන්න මේ ගාථාව ගැඹුරු ගාථාවක්. නමුත් කාල වේලාවේ හැටියට යම් කිසි ප්‍රමාණයකට තේරුම් කරන්න උත්සාහ කළා. ඉතින් මේක තුළ තවත් අපට හිතා ගන්න තියෙන්නේ අන්න අර කලින් ප්‍රකාශ කළ ආකාරයට අපේ මේ ජීවිතයේ අපි මේ සැපය කියල අල්ලගෙන ඉන්න නැවත නැවත ඉපදීම, නැතිනම් භව තෘෂ්ණාව. ලෝකයා තුළ ගැඹුරින්ම තිබෙන්නේ භව තෘෂ්ණාවයි. මේ තෘෂ්ණාවේ කවදාවත් කෙළවරක් නැහැ. තෘෂ්ණාව කියන්නේ පිපාසයක්. දැන් මිරිඟුව ගැන කිව්ව වගේ ලෝක සත්ත්වයා තුළ මේ පිපාසය මේ ජීවිතය තුළ සංසිඳුව ගන්න බැරිවෙන කොට අපේ අවසාන සිත හැටියට - නිවන් තත්ත්වය ප්‍රත්‍යක්ෂ නොකළා නම් - ඒ හිතට යම්කිසි නිමිත්තක් එනවා. මේ පින්වතුන් අහල ඇති ඔය කර්මය ගැන කියන කොට කම්ම නිමිත්ත, ගති නිමිත්ත ආදි වශයෙන් පොත පතේ ඔය හඳුන්වන්නේ. යම්කිසි නිමිත්තක් එනව. මොකද මේ මායාව සත්‍යය හැටියට නේ ගන්නේ. එතකොට ලෝකයේ ඒ තියන මිරිඟු ඔස්සේ දිව්වා. මුළු ජීවිතේම දිව්වා. ඇහැට පෙනෙන මිරිඟු ඔස්සේ වගේම කණට ඇහෙන මිරිඟු ඔස්සේත් දිව්වා. අනෙක් මිරිඟු ඔස්සේත් දිව්වා. දුවල දුවල නමුත් තෘප්තියක් නැහැ. තෘප්තියක් නැහැ. එතෙන්ට යනකොට ඒක ඇත. අපි හිතමු ඉතාමත්ම කැමති ඇහෙන් දකින්න කැමතිම දේ අපි ඒක සොයා ගෙන ගිහිල්ල ලොකු මුදලක් දීල ඒක ගත්ත. ටික දවසක් යනකොට ඒක එපා වෙනව. 'ඊට වඩා හොඳ දෙයක්.' දැන් මේ සුඛෝපභෝගී ලෝකයේ පින්වතුන්ම දන්නවනෙ. වියපැහැදම් කරලා අල්ලපු ගෙදර තියන වටිනාම දේ අපි ලබා ගන්නව. ටික දවසක් යනකොට ඒක යල් පැනල. ඊළඟ එක සොයාගෙන යනව. ඒවගේම පුදුම මිරිඟුවක් ඔස්සෙයි මේ ලෝකයා දුවන්නේ. සිංදු පිළිබඳවත් එහෙමයි. ඔය යල් පැනපු තත්ත්වයට පත් වෙනවා. ඉතින් වෙන එකක් සොයනවා. ඔහොම යනවා. ඉතිං ඊළඟට මරණ අවස්ථාවේ තෘප්තියක් නැති නිසාම හිතට එන්නේ ඒ නිමිති.

අපි ළඟට එන බොහොම දෙනෙක් කියනව "මට නම් තවත් උපදින්න

ඕන කමක් නැහැ. මම නම් තවත් උපදින්න කැමතිම නැහැ" කියල. ඒ කිව්වට ඒකට කරන්න ඕන පරිත්‍යාගය කරන්න සූදානම් නැහැ. ඔහොම කිව්ව පලියට ඉපදීම නැතිවෙනව නම්! එහෙම ජාති දුක්ඛය නැති කරන්න බැහැ. ඕකට තමයි බුදුරජාණන් වහන්සේ සතිපට්ඨාන සූත්‍රයේ දේශනා කරන්නේ "සත්ත්වයින්ට ඉච්ඡාවක් ඇතිවෙනව" "යම්පිච්ඡං න ලභති තම්පි දුක්ඛං" ඒක තෝරන්නේ යමක් කැමති වේද එය නොලැබීම දුකක් කියල. බුදුරජාණන් වහන්සේ සතිපට්ඨාන සූත්‍රයේ චතුරාර්ය සත්‍ය විග්‍රහයේදී තෝරන්නේ "යම්පිච්ඡං න ලභති තම්පි දුක්ඛං" කියල. තමන් යමක් කැමතිද ඒක ලබා නොගැනීම දුකක් කියලා කීවාම සාමාන්‍ය ලෝකයා හිතන්න පුළුවන් දැන් මට කාර් එකක් ගන්න ඕන. ඒක ගන්න බැරිවුනාම ඒක දුකක් කියන එකයි බුදුහාමුදුරුවො කියන්නේ කියලා. නමුත් ඒක නොවේ බුදුරජාණන් වහන්සේ දේශනා කරන්නේ. ඒ විග්‍රහයේදී මෙහෙමයි තෝරන්නේ. "ජාති ධම්මානං භික්ඛවෙ සත්තානං එවං ඉච්ඡා උප්පජ්ජති අහො වත මයං න ජාති ධම්මා අස්සාම න ඛො පන එතං ඉච්ඡාය පත්තබ්බං".

ඒ කියන්නේ "ඉපදීම ස්වභාවය කොට ඇති සත්ත්වයාට මෙන්න මෙහෙම ආශාවක් ඇති වෙනව. අනේ අපි තවත් උපදින්නේ නැත්නම් කියල. නමුත් මහණෙනි මේක පැතූ පමණින් ලැබෙන්නේ නැහැ". ඒකයි මේ "යම්පිච්ඡං න ලභති තම්පි දුක්ඛං" කියල කියන්නේ. අපි හිතන දේ නොලැබීම දුකක් කියල බුදුරජාණන් වහන්සේ වදාළේ අන්න අර අපි හිතන ලෞකික දේවල් ලබා ගැනීම නොවේ. ඔන්න ඔය ලෝකෝත්තර තත්ත්ව සසරින් මිදීම පිළිබඳ කාරණා. ඒ වගේම තමයි "ජරා ධම්මානං භික්ඛවෙ සත්තානං එවං ඉච්ඡා උප්පජ්ජති" කියල ඒ විදියට දක්වනවා. ජරාව ස්වභාවය කොට ඇති සත්ත්වයාට මෙහෙම ආශාවක් ඇති වෙනව. "අනේ අපි ජරාවට යන්නේ නැත්නම්," එහෙම හිතුවට මේක එහෙම හිතල පතල ලබා ගන්න පුළුවන් දෙයක් නොවෙයි. ඒකට ඒ යායුතු මාර්ගයේ, නිර්වාණ මාර්ගයේ යාම තුළින් - යාමෙන් තමයි ජරාව නැතිවෙන්නේ. ජාතිය නැති කිරීමෙන්. එතකොට අපි මේ ජාතිය තියාගෙන ජරාව නැති කරන්න ගන්න උත්සාහය මෝඩ වැඩක්. අඥාන වැඩක්. අපිට සදාකාලික නිත්‍ය ජීවිතයක් කවදාවත් ලබා ගන්න බැහැ. වෙන නොයෙකුත් විදියේ ඔය මේ කාලයේ පොහොසත් රටවල කරනවා වාගේ ජරාව වසාගන්න නොයෙකුත් ශල්‍යකර්ම කරනව කියල ආරංචියි. ඊළඟට තව නොයෙකුත් විධි රූපලාවන්‍යය රැක ගන්න. ඒ කොච්චර කළත් ජරාව වළක්ව ගන්න බැහැ. ඊළඟට ඒ එක්කම ලෙඩත් එනව ජරාවට අතදෙන. ඊළඟට මරණය එනව. ඕකයි සංසාර තත්ත්වය. මේකෙන් මිදෙන්න බැහැ ප්‍රර්ථනා පමණකින්. ඒකයි බුදුපියාණන් වහන්සේ සතිපට්ඨාන සූත්‍රයෙන් අපට මතක් කරලා දෙන්නේ.

මේකට මාර්ගය මොකක්ද? අන්න අවබෝධයයි. ප්‍රඥාවයි. මොකද, අනවබෝධය නිසයි, මෝහය නිසයි මේ හැම එකක්ම. අපි මේ මායාවක්

ඔස්සේ යන්නේ. ඒ මෝහය නැති කිරීමේ මාර්ගයයි බුදුපියාණන් වහන්සේ ප්‍රත්‍යක්ෂ කර ගත්තේ එදා වෙසක් දවසේ. අපි මේ නිවන කියල කියන්නේ ඒකයි. නිවීම. නිවන කියන්නේ නිවීම බවවත් බොහෝ දෙනා තේරුම් ගන්නේ නැහැ. බුදු රජාණන් වහන්සේ දක්වනවා මෙතන මේ සංසිඳීම් සුවයක් ලෝකයාට තේරුම් ගන්න බැරි. ඒක තවත් විදියකින් දක්වනව අවේදයිත සුවයක් හැටියට. වේදනාවක් නැහැ. වේදනාවන් සංසිඳුන තැනයි සැපත. ලෝකයා හිතනව දුක් වේදනාව තමයි අපට කරදර. සැප වේදනාව සැපයක් කියල ඒක අල්ල ගන්නව. නමුත් බුදුරජාණන් වහන්සේ ප්‍රකාශ කරනව සැප වේදනාව හෝ දුක් වේදනාව හෝ වේවා වෙනෙකක් තබා නොදුක් නොසුව වේදනාව කියන මැද වේදනාව හෝ වේවා ඒ හැම එකක් ම දුකයි කියල. මොකද එහෙම දුකක් කියල ප්‍රකාශ කළේ. සැප වේදනාව සැපයක් හැටියට දැනෙන්නේ ඒක තිබෙනකම් පමණයි. ඒක වෙනස් වෙනකොට දුකයි. දුක් වේදනාව දුක් හැටියට දැනෙන්නේ ඒක තියනකොට. වෙනස් වෙනකොට සැප වගේ තේරෙනවා. නමුත් පින්වතුනි එපමණකින් අපි කවුරුවත් දුකක් පතන්නේ නැහැ නේ. ඒකත් දැන් තර්කයක් බවට පත්කරගෙන තියන බව පේනවා. මේ අනිත්‍යතා ධර්මය ගැන ප්‍රශ්න උපදවන්න. දුක් වේදනාවේ ස්වභාවය ඒක වෙනස් වෙනවා. වෙනස් වුන පමණින් නැවත නැවත එනවා. **ඉතින් ඒක නිසා කවුරුවත් දුකට ආ වඩන්නේ නැහැ, එය සංසිඳීමෙන් ඇතිවන සැපය බලාපොරොත්තුවෙන්.** ඒ සැප දුක් දෙකට මැදින් තියන නොදුක් නොසුව වේදනාව අතීතයේ ඒ යෝගීන් ඍෂිවරුන් ලොකුවට ගත්තේ ඒකයි - නොදුක් නොසුව - ඒක ශාන්තයි. කාරණය ඇත්තයි. නමුත් ඒකත් නිත්‍ය නැහැ. ඒකත් පෙරළෙනව. ඒ හැම එකක්ම අතහැරලා සියලු සංස්කාර සංසිඳවලා වේදනාවත් ඉවත් කරපු තැනයි මේ නිවන කියන්නේ.

බුදුරජාණන් වහන්සේ ඉන්න කාලේ ඔය ශාරිපුත්‍ර මහරහතන්වහන්සේගෙන් පවා ඇහුවා ඇතැම් කෙනෙක්, ඔය පරිබ්‍රාජකයෙක් එහෙම ඇහුවා "මේක කොහොමද සැපක් වෙන්නේ වේදනාවක් නැති තැන. වේදනාවක් නැති තැන මොන සැපයක්ද?" එතකොට ශාරිපුත්‍ර මහරහතන්වහන්සේ කියනවා "වේදනාව නැති එකමයි සැපය". "යං කිඤ්චි වෙදයිතං තං දුක්ඛස්මිං පඤ්ඤපෙමි" වේදයිත හැම දෙයක්ම සැප හෝ වේවා දුක් හෝ වේවා නොදුක් නොසුව හෝ වේවා හැම එකක්ම දුකක් හැටියටයි බුදුරජාණන් වහන්සේට පෙනුනේ. එතකොට ඒ සියලු සංස්කාර සංසිඳුවීම කියන එකට ඔක්කොම අහුවෙනවා. වේදනා, සංඥා ඒ හැම එකක්ම අවසාන වශයෙන් කියෙන්නේ විඤ්ඤාණය. විඤ්ඤාණය කියල අපි මේ ලොකුවට ගන්න - හරයක් කියල ගන්න දේ. ඇත්ත වශයෙන් ඒක අර මායාවක් පමණයි. බෞද්ධ ධර්මයට අනුව විඤ්ඤාණය මායාවක් කියන එක වෙන කිසිම ධර්මයක නැහැ. ඒක හරයක් ඇති දෙයක් හැටියටයි සලකන්නේ. නමුත්

බුදුරජාණන් වහන්සේ පෙන්නුම් කරලා දෙනවා මේක අවිද්‍යාව තුළින්, නොදැන්ම තුළින් - අවිද්‍යාව කියලා කියන්නේ මොකද්ද යම් නොදැන්මක් නිසා ඇතිකර ගන්නා ක්‍රියා ශක්තියක් අවසන් වන්නේ දුකින් නම් - ඒ කියන්නේ චතුරාර්‍ය සත්‍යය නොදැනීම කියලනේ, අවිද්‍යාව ගැන කියන කොට තෝරන්නෙ. ඒ සත්‍ය නොදැනීම නිසා තමයි දුකක් ඇතිවන ක්‍රියාදාමයක් ආරම්භ කරන්නේ. එතකොට අවිද්‍යාව කියන ඒ නොදැනීම නිසා යම් ක්‍රියා දාමයක් ඇතිකර ගන්නවා. ඒකෙ අවසාන ප්‍රතිඵලය දුක. යම් අවස්ථාවක ඒක හරියාකාරව තේරුම්ගත්ත නම් මේවා හේතු ප්‍රත්‍ය සමවායක් පමණයි කියල අර මමත්වයක් නැතිව - අන්න ඒ අවස්ථාවේ මේක අර "හේතු භංගා නිරුජ්ඣති" හේතුව නැතිකළ අවස්ථාවේ ඒ ඵලයත් නැති වෙනවා. එතකොට විඤ්ඤාණයත් නාම රූපයත් අතර මහ පුදුම විදියේ සම්බන්ධයක් එතන දක්වනවා. විඤ්ඤාණය නැතිවෙනකොට නාමරූපයත් නැති වෙනවා. නාම රූපය නැතිවෙන කොට විඤ්ඤාණයත් නැති වෙනවා. ඒක හරියට අර බට කෝටු මිටි දෙකක් එකකට එකක් හේත්තු කරලා තිබ්බා වගේ. මේ මුළු මහත් පැවැත්ම තියෙන්නේ හේතු ප්‍රත්‍යය සම්බන්ධතාවක් උඩයි - අන්‍යෝන්‍ය ප්‍රත්‍ය සම්බන්ධතාවක් උඩයි - කියල බුදුපියාණන් වහන්සේ ධර්මයේ දක්වලා තියෙනව, පටිච්ච සමුප්පාද ධර්මය වශයෙන්.

නමුත් ලෝකයා නිත්‍ය සංඥාව උඩයි සිටින්නේ. ඒ නිත්‍ය සංඥාව උඩ සිටින සත්ත්වයාට තමයි අවසාන මොහොතෙදි ඒ ගත්තු යම්කිසි නිමිත්තක් අර කිව්ව වගේ කර්ම නිමිත්තක් ගති නිමිත්තක් හැටියට ඉදිරිපත් වෙනවා. එතකොට අනිවාර්යයෙන්ම ඒ නිමිත්ත ගිහිල්ලා අර කළල රූපය හැටියට යම්කිසි මව්කුසක කර්මානුරූපව කෙතක් සකස් වෙනවා. අන්ධයෙක් වෙන්න ඕන නම් ඊට සුදුසු ආකාරයට, බීරෙක් වෙන්න ඕන නම් ඊට සුදුසු ආකාරයට. අම්මලට තාත්තලට නැති ලෙඩක් වෙන්න පුළුවන්, නැති අංග විකලත්වයක් වෙන්න පුළුවන්. නමුත් අන්න කළල රූපයේ අරක වැටිලා, මූලික ඡායාව වැටිලා, ඒක තමයි මව්කුසේ පෝෂණය වෙලා අන්තිමට එළියට එන්නේ අන්ධයෙක්, බීරෙක්, ගොළුවෙක්, කොරෙක් හැටියට. ඔන්න කර්ම වේගය. ඒ ගත්තු නිමිත්තයි. ඒකයි මේ සංසාරයේ භයානකත්වය. අපි බලාපොරොත්තු නොවුන ආකාරයටයි. මාර්ග ඵල අවබෝධයෙන් නිර්වාණ ප්‍රත්‍යක්ෂයෙන් අර කියාපු ගෙයි මුදුන් වහල කඩල නැත්නම්, පරාල කඩල නැත්නම්, විසන්ධිකරලා නැත්නම්, ඔන්න වෙන්නේ අර ගත්තු නිමිත්ත අනුව නැවත උත්පත්තියක් එනව. ඒ එක්කම අර කියාපු සියල්ල අතිනත් අරගෙන එනව. ජරාව, ව්‍යාධිය, මරණය ඒ සියල්ලම.

එතකොට යම්කිසි අවස්ථාවක - අපි තවත් ටිකක් ගැඹුරින් කල්පනා කරලා බැලුවොත් - රහත් හිතකින් කෙරෙන්නේ මොකද්ද? මෙතෙක් ලෝකයා නිත්‍ය හැටියට සලකපු දේ අනිත්‍ය හැටියට සලකන්න පුරුදුවෙනවා.

ඔන්න දැන් අපි කවුරුත් අහල තියන ත්‍රිලක්ෂණයටයි එන්නේ. මේක ගකුළුවා දක්වීමට ත්‍රිලක්ෂණයක් බුදුරජාණන් වහන්සේ දක්වා වදාළේ මොකද? ඒ ත්‍රිලක්ෂණ භාවනාව තුළින් අර නිමිත්ත ටික ටික ගෙවී යනවා. නිමිත්තේ ඇති මෝහන ශක්තිය ටිකෙන් ටික ගෙවෙනව. අපි අනිත්‍ය හැටියට දකින්න දකින්න ඒකේ අවසාන කෙළවර දක්වන්නේ "අනිමිත්ත චේතෝ විමුක්තිය" හැටියටයි. නිවනට දොරටු තුනක් හැටියට දක්වනවා. අනිමිත්ත, අප්පණිහිත, සුඤ්ඤත කියලා. අනිමිත්ත කියල කියන්නේ අනිත්‍ය සංඥාව දියුණු කරලා ඒකෙ අවසාන කෙළවර මාර්ග ඵල ලැබීමට ළං වෙනකොට ඒ අවසාන දොරටුව හැටියට එනකොට ඔන්න අනිමිත්ත කිසිම දෙයක නිමිත්තක් හිතට වැටහෙන්නෙ නැහැ. ඒ වෙලාවේ දැනෙන්නේ පුදුම සැනසීම් සුවයක්. මේවා තියනකොට නේ - නිත්‍ය සංඥාව පිට නේ - මේවා දිරනවාද, බිඳෙනවාද මේවා රැකගන්න ඕන. මේ හැම එකක්ම. එතකොට හිතට වැටහෙන්නෙ නැත්නම් නිමිත්තක් - ඒක විශාල සැනසිල්ලක්. ඒ වගේම තමයි ඒ නිමිති නිසාම ඇතිවෙනවා ආශාවක්. අපි "ප්‍රණිධි" කියල කියන්නේ ආසාව, එහෙම නැත්නම් ඉලක්කය. එතකොට අන්න 'අප්පණිහිත' කියල කියන්නේ ප්‍රණිධීන් නැතිවෙලා යනවා. නිමිත්ත ගිලිහිලා යනකොට ඒ නිමිත්ත උඩ රැඳිල තිබුන ආසාවන් ඉච්ඡාවන් බලාපොරොත්තු ඒවා එහෙමම සමනය වෙලා යනවා. ඔන්න අප්පණිහිත. එතකොට - එහෙම වෙනකොට - ආසාවන් ඇතිකර ගන්නේ මොකද අර මමත්වය නිසා නෙ. 'මම -මම' කියන ඒක තුළ ආත්ම සංඥාව පිටයි. ධර්මයේ දැක්වෙන හැටියට අනිත්‍ය සංඥාවේ කෙළවර "අනිමිත්ත විමොක්ඛ" කියලත් කියනව. "අනිමිත්ත දොරටුවට ළං වෙනවා නිමිත්තෙහි භයානකත්වය තේරුම් ගැනීමෙන්.

ඊළඟට දුක කියන ඒ ලක්ෂණය යම් කෙනෙක් බැලුවොත් දැඩිව, දුක්ඛ ලක්ෂණය ඇතැම් කෙනෙකුට වැඩියෙන් වැටහෙනවා. දකින දකින තැන මේක මහ දුකක්, මහ කරදරයක් කියල. එහෙම වැටහෙන කෙනාට අන්න ප්‍රණිධි කියල කියන ආශාව ක්‍රම ක්‍රමයෙන් තුනී වෙලා ගිහිල්ලා අන්න අප්පණිහිත කියල කියන අර විදියේ ආශාවන් තුනීවුන ඒත් යම්කිසි සැනසීම් තත්ත්වයකට එතනින් එනවා නිවනේ දොරටුවට ළං වෙනකොට.

ඊළඟට අනාත්ම හැටියට අපි හිතමු එදිනෙදා - විශේෂයෙන් ප්‍රඥාවන්ත අයට නුවණින් කල්පනා කරල බලනකොට මේ එකකවත් මමය කියල ගතයුත්තක් නැහැ. හේතු ප්‍රත්‍යය ගොඩක් කියන වැටහීම දියුණු කරගෙන යන කොට - යම් අවස්ථාවක වැටහෙනවා මෙතන ශූන්‍යයි, හිස්. එක බටකෝටු මිටියක් තව බටකෝටු මිටියකට හේත්තු කරල තියනව නම් එකකටවත් තනිව හිටගන්න බැහැ නේ. හේතු ප්‍රත්‍ය පටිච්ච සමුප්පාදයේ මූලික න්‍යාය. ධර්මතාව ඒකයි. එකක් වත් තනිව හිටගන්නේ නැහැ. යටත්

පිරිසෙයින් දෙකක් හෝ තියෙන්න ඕනෑ එකිනෙකට උපකාර වන. ඒක තේ අවිජ්ජා පච්චයා, සංඛාරා, සංඛාර පච්චයා විඤ්ඤාණං ඔහොම දිගට යනව යම් යම් දෙයක් ප්‍රත්‍යය කරගෙනයි යන්නේ හැම එකක්ම. ඒක නිසා මේක තුළ සාරයක් නැහැ. ආත්ම සාරයක් නැහැ. අන්න එහෙම බලන්න පුළුවන් පුද්ගලයාට එතකොට අනාත්ම දර්ශණය දියුණු කරගත් පුද්ගලයාට එන අවසාන දොරටුව තමයි "සුඤ්ඤත".

දැන් අපි මේ ප්‍රකාශ කළේ මේ පින්වතුන්ට දැන් කවුරුත් මේ පින්වතුන් අහලා තියෙනව අනිත්‍ය සංඥාව වඩන්න. එහෙම නැත්නම් පහසුවෙන් කීවොත් නිත්‍ය සංඥාව ලෝකයා තුළ තියෙනවා. සුඛ සංඥාව ලෝකයා තුළ තියෙනවා. ආත්ම සංඥාව ලෝකයා තුළ තියෙනවා. ඊට ප්‍රතිවිරුද්ධව බුදුරජාණන් වහන්සේ ප්‍රකාශ කර තියෙනවා අනිත්‍ය සංඥාව වඩන්න. දුක්ඛ සංඥාව වඩන්න. අනාත්ම සංඥාව වඩන්න. ඒක කෙළවර වන විට නිවනට ළං වෙන කොට ඔන්න අර කියාපු අනිමිත්ත අප්පණිහිත, සුඤ්ඤත කියන ඒ නිවන් දොරටු තුනට ළංවුන කෙනා තමයි අන්තිමට ඒ ඵලයට පත්වෙලා අර කියාපු මාර්ගඵල සෝවාන්, සකදාගාමී, අනාගාමී, අර්හත් කියන මාර්ගඵල ප්‍රතිවේධයෙන් සියලු සංස්කාර සංසිඳුන තත්ත්වයට පත්වෙලා මේ සංසාරයේ ජාත්‍යාදී සියලු දුකින් මිදෙන්නේ.

එතකොට මේ පින්වතුන් අද මේ වටිනා දවසේ මේ සාමාන්‍යයෙන් ගැඹුරු ගාථාවක් පැය ගණනාවකදී විග්‍රහ කළයුතු තරම් දෙයක්. නමුත් අපි මේ අවස්ථානුකූලව මේ පින්වතුන්ට අදහස් කීපයක් දම්මා, ඇතුල්කළා. ඒවා ආශ්‍රයෙන් තර්ක විතර්ක කිරීම නොවේ - ඇත්ත වශයෙන්ම බලාපොරොත්තු වන්නේ. අර බුදුරජාණන් වහන්සේ ගිය ඒ ධර්ම මාර්ගයේ සීල සමාධි ප්‍රඥා කියන මාර්ගය තුළින්ම මේවා ප්‍රත්‍යක්ෂ කර ගන්න උනන්දුවන්න ඕනෑ. එතකොට මෙතෙක් මේ පින්වතුන් අද වගේ වටිනා දවසක සීලයෙනුත් භාවනාවෙනුත් ධර්ම ශ්‍රවණයෙනුත් රැස්කරගත් කුසල් සිතුවිලි රාශිය මේ ජීවිතයේදීම ඒක උපකාර කරගෙන තම තමන්ගේ භාවනා මුදුන්පත් කරගෙන මේ ජාත්‍යාදී සියලු සංසාර දුකින් අත්මිදී උතුම් අමා මහ නිවන සාක්ෂාත් කර ගැනීමට මේ ධර්ම ශ්‍රවණ ආනිසංසයත් ඒකාන්තයෙන්ම හේතු වාසනා වේවා කියා ප්‍රර්ථනා කර ගන්න. එසේම අවීචියේ සිට අකනිට්ඨා දක්වාවූ යම්තාක් දෙව් දේවතාවුන් සහිත අපගේ ඥාතීනුත් සහිත යම් කෙනෙක් මෙබඳු ධර්ම දේශනා ශ්‍රවණය කළා නම් ඒ අයටත් ඒ ධර්ම ශ්‍රවණයේ ආනිසංසය හේතු කොට තම තමන්ගේ ප්‍රාර්ථනීය බෝධියකින් උතුම් අමා මහ නිවනින් සැනසීමට ශක්තිය බලය ලැබේවා කියා ප්‍රාර්ථනා කර ගන්න. මේ ගාථා කියා පිං දෙන්න.

"එත්තාවතාච අම්හේහි ................"

# 37 වන දේශනය (පහන් කණුව ධර්ම දේශනා අංක 146)

'නමො තස්ස භගවතො අරහතො සම්මා සම්බුද්ධස්ස'

යදා බුද්ධො අභිඤ්ඤාය - ධම්මචක්කං පවත්තයි
සදෙවකස්ස ලොකස්ස - සත්ථා අප්පටිපුග්ගලො
සක්කායඤ්ච නිරොධඤ්ච - සක්කායස්ස ච සම්භවං
අරියඤ්චට්ඨංගිකං මග්ගං - දුක්ඛූපසම ගාමිනං

යෙපි දීඝායුකා දෙවා - වණ්ණවන්තො යසස්සිනො
භීතා සන්තාසමාපාදුං - සීහස්සෙවිතරෙ මිගා

අවීතිවත්තා සක්කායං - අනිච්චා කිර භො මයං
සුත්වා අරහතො වාක්‍යං - විප්පමුත්තස්ස තාදිනොති

සැදැහැවත් පින්වතුනි,

බුදුගුණ මෙනෙහි කිරීමේදී අපි **'සත්ථා දෙවමනුස්සානං'** කියන පදයෙන් බුදුරජාණන්වහන්සේ දෙවිමිනිසුන්ගේ ශාස්තෲන්වහන්සේ බව පිළිගන්නවා. ඇසළ පුර පසළොස්වක පෝය දවසකයි ඒ විධියේ උත්තරීතර ශාස්තෲන්වහන්සේ කෙනෙක් පහළවෙච්ච බව දෙවියන් සහිත ලෝකයාට ප්‍රකට වුනේ. මේ වගේ උතුම් දවසක බරණැස ඉසිපතනෙ මිගදායෙ වායුගෝලයට එකතුවුනු ධම්මචක්කපවත්තන සූත්‍ර දේශනාවේ ඒ අසිරිමත් ප්‍රවෘත්තිය දෙව්ලොවින් දෙව්ලොවට, බඹලොවින් බඹලොවට ක්ෂණිකවම විකාශනය වුනු බව අපි කවුරුත් අහල තියෙනවා. ඒ ශ්‍රේෂ්ඨ බුද්ධ දේශනාවෙ තේජාන්විත භාවය හෙළිකෙරෙන අන්දමේ ගාථා කීපයකුයි අද අපි මාතෘකා කරගත්තේ.

මේ ගාථා ඉදිරිපත් කරන්න කලින්, බුදුරජාණන් වහන්සේ සැවැත් නුවර ජේතවනාරාමයේදී කාරණයක් ඉදිරිපත් කිරීමට ප්‍රස්තාවනාවක් වශයෙන් එක්තරා උපමාවක් ප්‍රකාශ කළා.

"මහණෙනි, මෘගරාජවූ සිංහයා සවස් කාලයෙහි ගුහාවෙන් නික්මෙනවා. ගුහාවෙන් නික්මිලා පිට දිග හැරලා ඇඟමැලි කඩනවා. පිට දිගැරලා ඇඟමැලි කඩලා අවට හතර දිසාව බලනවා. අවට හතර දිසාව බලලා

තුන්වරක් සිංහනාදය නගනවා. තුන් වරක් සිංහ නාදය නගලා ගොදුරු පිණිස පිටත්ව යනවා. මහණෙනි, ඒ සිංහයාගේ සිංහනාදය ඇසූ වනයේ යම්තාක් වනසත්තු සිටිනවා නම් ඒ හැම කෙනෙක්ම භයට සංත්‍රාසයට සංවේගයට පැමිණෙනවා. බිලයේ වසන සත්තු බිලයට ඇතුල්වෙනවා. දියෙහි වසන සත්තු දියට ඇතුල්වෙනවා. පක්ෂීන් අහසට පියාඹා යනවා. වෙනෙකක් තබා ගම් නියම් ගම් රාජධානිවල දැඩි වරපටින් බැඳි ඇත්රාජයින් පවා, මංගල හස්තීන් පවා ඒ සිංහනාදය අහලා ඒ වරපටවල් සිඳ බිඳ ගෙන මලමූත්‍ර හෙළමින් හිස් ලුහු අත පලා යනවා. මහණෙනි මෘගරාජවූ ඒ සිංහයා වනසතුන් අතර ඒ සා මහත් සෘද්ධි ඇත්තෙකි. ඒ සා මහේශාක්‍ය බවක් ඇත්තෙකි. ඒ සා අනුභාව සම්පන්න සතෙකි.

එසේම මහණෙනි, යම් අවස්ථාවක තථාගත සම්මා සම්බුද්ධ කෙනෙක් - අර්හත්වූ, සම්මා සම්බුද්ධවූ, විජ්ජාචරණසම්පන්නවූ, සුගතවූ, ලොකවිදූවූ අනුත්තර පුරිස දම්මසාරථීවූ, දෙවිමිනිසුන්ට ශාස්තෘවූ බුද්ධවූ භාග්‍යවත්වූ තථාගතයන් වහන්සේ කෙනෙක් ලෝකයේ පහළවෙත්ද - උන්වහන්සේ මේ විධියට ධර්මය දේශනා කරත්ද - මේය රූපය, මේය රූපයේ හටගැන්ම, මේය රූපයේ ගෙවීයාම. මේය වේදනාව, මේය වේදනාවේ හටගැන්ම, මේය වේදනාවේ නැතිවී යාම. මේය සංඥාව, මේය සංඥාවේ හටගැන්ම, මේය සංඥාවේ නැතිවී යාම. මේය සංස්කාර, මේය සංස්කාරයන්ගේ හටගැන්ම, මේය සංස්කාරයන්ගේ නැතිවී යාම, මේය විඤ්ඤාණය, මේය විඤ්ඤාණයේ හටගැන්ම, මේය විඤ්ඤාණයේ නැතිවී යාම යනුවෙන් ධර්ම දේශනාවක් පවත්වද්ද එවිට දීර්ඝායුෂකවූ වර්ණවත්වූ පරිවාර සම්පත් ඇති දීර්ඝ කාලයක් උස් දිව්‍ය විමන්වල සිටියාවූ දෙවිවරු පවා භයට සන්ත්‍රාසයට පැමිණෙනවා. "අපි අනිත්‍යව සිටගෙනම නිත්‍යයයි සිතුවා. සදාකාලික නොවීම අපි සදාකාලික යැයි සිතුවා. අපිත් අනිත්‍යලු. අපිත් අස්ථිරලු. අපි සදාකාලික නොවෙයිලු. අපි සක්කාය දිට්ඨියට අහුවෙලාලු," අන්න ඒ අන්දමින් ඒ දෙවිවරු භයට සන්ත්‍රාසයට පත්වෙනවා. මහණෙනි, දෙවියන් සහිත ලෝකයේ තථාගතයන් වහන්සේ ඒ සා මහත් සෘද්ධි ඇත්තෙකි. ඒ සා මහේශාක්‍ය කමක් ඇත්තෙකි. ඒ සා මහානුභාව සම්පන්න ඇත්තෙකි කියලා ප්‍රකාශ කරලා, ඔන්න ඒ කාරණය තමයි බුදුරජාණන් වහන්සේ අර අපි කලින් සඳහන් කළ ගාථාවලින් හකුළා දක්වූ බව ඒ සූත්‍ර දේශනාවේ සඳහන් වෙන්නෙ.

යදා බුද්ධො අභිඤ්ඤාය - ධම්මචක්කං පවත්තයි
සදෙවකස්ස ලොකස්ස - සත්ථා අප්පටිපුග්ගලො

යම් අවස්ථාවක දෙවියන් සහිත ලෝකයාට අසමසම ශාස්තෘවූ බුදුවරයෙක්, අභිඥාවෙන් දන ධර්මචක්‍රය පවත්වයිද ඒ ධර්ම චක්‍රයේ අඩංගු දේවල් ඊළඟ ගාථාවේ තියෙන්නේ.

සක්කායඤ්ච නිරොධඤ්ච - සක්කායස්සච සම්භවං
අරියඤ්චට්ඨංගිකං මග්ගං - දුක්ඛූපසම ගාමිනං

මෙතන සක්කාය කියල කියන්නේ පින්වතුනි පංච උපාදානස්කන්ධයමයි. ඒ පංචඋපාදාන ස්කන්ධයමයි දුක කියලා කියන්නේ. එතකොට ඒ චතුරාර්ය සත්‍යයයි මෙතනින් ඉදිරිපත් කරන්නේ. සක්කාය නම්වූ ඒ පංචඋපාදාන ස්කන්ධ දුකද, එහි නිරොධයද එහි හටගැත්මද, ඒ දුක සංසිඳීමට උපකාරවන මාර්ගය වන ආර්ය අෂ්ටාංගික මාර්ගය කියන මේ චතුරාර්ය සත්‍යය දේශනා කරත්ද ඒක අහලා

යෙපි දීඝායුකා දෙවා - වණ්ණවන්තො යසස්සිනො
භීතා සන්තාසමාපාදුං - සීහසෙසවිතරෙ මිගා

ඒ දේශනාව අහලා දීර්ඝායුෂක වර්ණවන්ත, පරිවාර සම්පත් ඇති දෙවිවරුන් පවා භයට සන්ත්‍රාසයට පැමිණෙනවා. හරියට සිංහයා ඉදිරියේ මෘගයන් වගේ.

අවීතිවත්තා සක්කායං - අනිච්චා කිර භො මයං
සුත්වා අරහතො වාක්‍යං - විප්පමුත්තස්ස තාදිනොති

අර්හත්වූ, මැනවින් විමුක්තවූ, ස්ථිරසාර ගුණ ඇති, ඒ බුදුරජාණන් වහන්සේගේ වචන අසලා ඒ අය මෙහෙම ප්‍රකාශ කරනවා. අපි මේ සක්කාය කියලා කියන සක්කාය දිට්ඨිය නොඉක්මවූ අයයි. අපි අනිත්‍යවූ අයයි. කියලා ඔන්න ඒ දෙවිවරුන් සංවේගයට පත්වෙනවා.

ඒකයි එතකොට මේ ගාථාවල අදහස.

දැන් එතකොට පින්වතුනි, අපි මේ ඉදිරිපත් කළේ ධම්මචක්කප්පවත්තන සූත්‍ර දේශනාවේ සාරය චතුරාර්ය සත්‍යය. මේ පින්වතුන් කවුරුත් දන්නවා බුදුරජාණන් වහන්සේ දේශනා කළේ මොකද්ද කියල ඇහුවාම එක පාරටම කියන්නේ දුක්ඛ, සමුදය, නිරොධ, මග්ග නමින් අපි හඳුන්වන ඒ චතුරාර්ය සත්‍යයයි. ඒක නොයෙකුත් ආකාරයෙන් ඇතැම්විට කෙටියෙන්, ඇතැම් විට

දීර්ඝ වශයෙන් බුදුරජාණන් වහන්සේ විග්‍රහ කරලා තියෙනවා. ධම්මචක්ක පවත්තන සූත්‍රයේම - මේ පින්වතුන් දන්නවා ඇති - දුක කියන එක දුක්ඛ ආර්ය සත්‍යය විග්‍රහ කළේ ඉපදීම දුකක්, දිරීම දුකක්, ජරාව දුකක්, ව්‍යාධිය දුකක්, මරණය දුකක්, අප්‍රියයන් හා එක් වීම දුකක්, ප්‍රියයන්ගෙන් වෙන්වීම දුකක්, බලාපොරොත්තු වන දේ නොලැබීම දුකක්. එහෙම කියාගෙන ගිහිල්ලා අවසානයේ කියනවා සැකෙවින් කියතොත්, කෙටියෙන් කියතොත්, පඤ්චඋපාදාන ස්කන්ධයම දුකක්. පංචඋපාදානස්කන්ධය කියලා කියන්නේ පින්වතුනි රූප, වේදනා, සඤ්ඤා, සංඛාර, විඤ්ඤාණ කියලා අපි මේ මමය මාගේය කියලා ග්‍රහණය කරගෙන, උපාදානය කරගෙන ඉන්න පහටයි. එතකොට ඒ පහ ඇතැම් අවස්ථාවක සක්කාය නමින්නුත් හඳුන්වලා දීලා තියෙනවා. ඇතැම් අවස්ථාවක බුදුරජාණන් වහන්සේ "මහණෙනි මම තුඹලාට දුකත් දුකෙහි හේතුවත්, දුකෙහි නිරෝධයත්, දුක නිරුද්ධ කිරීමේ මාර්ගයත් දේශනා කරනවා කියලා පටන්ගෙන දුකය කියලා කියන්නේ පංචඋපාදානස්කන්ධයමය කියලා ප්‍රකාශ කරනවා. අර මුලින් කියපු ඒවා අමුතුවෙන් කියන්න දෙයක් නැහැ. ඒ පහ බදාගත්තු තැනයි ජාති ජරා ව්‍යාධි මරණ ශෝක පරිදේව ආදී ඒ සියල්ල මතුවන්නේ. ඒකයි.

ඊළඟට ඒකම තමයි සක්කාය කියන්නේ. සක්කාය කියන වචනයෙ සමහරවිට තේරුම පැහැදිලි නොවන්න පුළුවන්. "සත්" කියල කියන්නේ තිබෙනවා කියන අදහසයි. "කාය" කියන්නේ සමූහය - සමූහවාචී පදයක්. එතකොට අපි මේ "රූපය මගේය කියල කියන කොට අපි මේ රූප සමූහයක් අල්ලා ගන්නවා. උපාදානය කරනවා. සන සංඥාවෙන් ග්‍රහණය කරනවා. මේක මගේය කියලා. ඒක තුළ තියෙන බිඳීම් ස්වභාවය, අනිත්‍ය ස්වභාවය, ගැන නොතකා. වේදනාවත් ඒ වගේ. සංඥාවත් ඒ වගේ. සංස්කාරත් ඒ වගේ. විඤ්ඤාණයත් ඒ වගේ. ඒක තමයි මේ පින්වතුන් නිතර අහලා තියෙන අර පෙණපිඩේ උපමාව, දියබුබුලේ උපමාව, මිරිඟුවේ උපමාව, කෙසෙල් කඳේ උපමාව, මායාවේ උපමාව තුළින් බුදුරජාණන් වහන්සේ ඉදිරිපත් කරලා තියෙන්නේ. අන්න ඒ වගේ ඒවායේ යථා ස්වභාවය නොදැනීම නිසා ඒවා ග්‍රහණය කරනවා. ඒ නිසාම දුකට හේතුවක් වෙනවා.

එතකොට ඒවා ග්‍රහණය කරන්නේ මක් නිසාද? උපාදානය කියලා කියන්නේ අල්ලාගැනීම නම් ඒ අල්ලා ගැනීමට හේතුවන්නේ තණ්හාවයි. අන්න ඒ තණ්හාවයි එතකොට දුකට හේතුව හැටියට දක්වන්නේ. දුක්ඛ සමුදය හැටියට දක්වන්නේ. ඒ තණ්හාව ත්‍රිවිධ වශයෙන් දක්වනවා. කාම තණ්හා, භව තණ්හා, විභව තණ්හා හැටියට. ඒ තණ්හාව තමයි කෙනෙකුගේ නැවත නැවත ඉපදීමට හේතුවන්නේ.

'තණ්හා පොනොභවිකා' කියල කියනව. "නන්දිරාගසහගතා තත්‍රතත්‍රාභිනන්දිනී" සතුටුවීම් ඇලීම් ස්වභාව ඇති - ඒ ඒ තැන සතුටු වීම් ස්වභාව ඇති තණ්හාව. ඊළඟට ඒ තණ්හාව නැතිවුන අවස්ථාව ඒ නැතිවීම තමයි නිරෝධය හැටියට - නිවන හැටියට - දක්වන්නේ. ඊළඟට ආර්ය අෂ්ටාංගික මාර්ගය මේ පින්වතුන් කවුරුත් අහලා තියනවා. සම්මා දිට්ඨි, සම්මා සංකප්ප, සම්මා වාචා, සම්මා කම්මන්ත, සම්මා ආජීව, සම්මා වායාම, සම්මා සති, සම්මා සමාධි කියල කියන ඒ ආර්ය අෂ්ටාංගික මාර්ගයයි. එතකොට ඒ චතුරාර්ය සත්‍යයයි.

ඉතින් මේ චතුරාර්ය සත්‍යය තමයි බුද්ධ දේශනාවේ හරය. මේ තත්ත්වය විශේෂයෙන්ම නොතේරෙන්නේ නිත්‍ය සංඥාව ලෝකයා තුළ තිබෙන නිසයි. අර මේ දෙවිවරුන් කැළඹෙන්නේ මේ දේශනාව අහල, විශේෂයෙන්ම දීර්ඝායුෂ්ක දෙවිවරුන් බ්‍රහ්මරාජයින් එහෙම, ඒ අය මාන්නය ඇතිකර ගන්නවා නිත්‍යයි කියලා. එබඳු ප්‍රවෘත්ති ධර්මයේ සඳහන් වෙනවා. ඇතැම් අවස්ථාවල බුදුරජාණන් වහන්සේ ඉදිරිපත්වෙලා ඒ මාන්නය - බ්‍රහ්මයින්ගේ මාන්නය කැඩූ අවස්ථා ධර්මයේ සඳහන් වෙනවා. බක නමැති බ්‍රහ්මයා ගැන කියවෙන්නේ බක නමැති බ්‍රහ්මයාට දීර්ඝ කාලයක් තිස්සේ - කල්පයක් විතර - හිටිය නිසා අමතක වුනා අතීතය. තමන් මෙතැනට ආපු බව අමතක වුනා. හිතා ගත්තා මේක තමයි නිත්‍ය, මේක ස්ථිරයි, ජාති මරණ මොකක්වත් මෙතන නැහැ කියල. ඒ විධියේ මාන්නයක් ඇති වුනාම බුදුරජාණන් වහන්සේට ජේතවනාරාමයේදී ඒක වැටහිලා ඒ අවස්ථාවෙම අර දික් කළ අතක් වක්කල සැණින් කියල කියන වේගයෙන් බුදුරජාණන් වහන්සේ සෘද්ධියෙන්ම ඒ බ්‍රහ්ම ලෝකයට වැඩියාම බ්‍රහ්මරාජයා බුදුරජාණන් වහන්සේටත් ආරාධනා කරනවා, ආ! නිදුකාණනි, එන්න එන්න, මෙතන තමයි නිත්‍ය, ස්ථිර මෙතන සදාකාලිකයි" කියලා කිව්වාම බුදුරජාණන් වහන්සේ බ්‍රහ්මයාට කියනවා 'ඔබ අවිද්‍යාවට යටවෙලයි ඉන්නේ' කියලා. ඒ මිථ්‍යාදෘෂ්ටිය ඉවත් කරන්ට නැත් කළා. නමුත් බ්‍රහ්ම රාජයා කිව්වා මේ ලෝකේ ඉන්න බොහෝ සත්ත්වයින් මනුෂ්‍යයින් මේ මාගේ තත්ත්වය ලබන්න බ්‍රහ්ම තත්ත්වය ලබන්න බොහොම උත්සාහ කරනවා කියල. ඒ දෘෂ්ටිය ඉවත් නොකළාම බුදුරජාණන් වහන්සේ ඊළඟට "ඔය දීර්ඝ කාලයක් කියල හිතන එක කෙටි කාලයක් බව පෙනෙනවා, ඔබේ අනන්ත අතීතය" කියල බුදුරජාණන් වහන්සේ එතන නිදසුන් සහිතව පෙන්නුවා. බ්‍රහ්ම රාජයාට අතීතයේ අභිඥාලාභී තාපසයෙක්ව ඉඳගෙන කළ කුසල්කර්ම නිසයි ඔබට මේ තත්ත්වය ලැබුනේ කියලා. ඒ අතීත ප්‍රවෘත්තිය හෙළිකලාට පස්සේ බක බ්‍රහ්මයා ඒ මාන්නය ඉවත් කළා කියල සඳහන් වෙනවා. එයින් අපට හිතා ගන්න පුළුවන් අර නිත්‍ය සංඥාව. ඉතින් ඒ අතීතයේ

කල්පගණන් වාසය කළ බ්‍රහ්මයින්ට නිත්‍ය සංඥාව නිසා මාන්නය ඇතිවීම අපට හිතාගන්න පුළුවන්. නමුත් අවුරුදු සීයක්වත් ජීවත්වන්නේ නැති අපට මේ ජීවිතය පිළිබඳ 'ජීවිත මද' කියල කියන මාන්නයක් ඇතිවන්නේ කොහොමද කියල සමහරවිට කල්පනා කරලා බැලුවොත් කොයි තරම් අවිද්‍යාවක් අප තුළ තියෙනවාද?

නමුත් අන්න ඒ අවිද්‍යාව බිඳීමට, නිත්‍ය සංඥාව බිඳීමට, බුදුරජාණන් වහන්සේ ඉදිරිපත් කරන්නේ අනිත්‍ය සංඥාවයි. මේ අනිත්‍ය සංඥාව කියන ඒ භාවනාව බුදුරජාණන් වහන්සේ ඉතාමත්ම ඉහළින් වර්ණනා කරපු එකක්. කොයිතරම්ද කියතොත් බුදුරජාණන්වහන්සේ ප්‍රකාශ කරනවා " මහණෙනි, අනිත්‍ය සංඥාව හරියාකාරව වැඩුවොත්, බහුල වශයෙන් කළොත්, ඒ අනිත්‍ය සංඥාව තුළින් සියලුම කාමරාගය සම්පූර්ණයෙන්ම නැතිවෙලා යනවා. රූපරාගය සම්පූර්ණයෙන්ම නැතිවෙලා යනවා. භව රාගය සම්පූර්ණයෙන්ම නැතිවෙලා යනවා. සියලුම අවිද්‍යාව සම්පූර්ණයෙන්ම නැතිවෙලා යනවා. අස්මිමානය සම්පූර්ණයෙන්ම නැතිකරල මුලින් උපුටා දමනවා. ඒ තරම් බලසම්පන්නයි මේ අනිත්‍ය සංඥාව" කියල අනිත්‍යසංඥාව කියන ඒ විදර්ශනා භාවනාව බුදුරජාණන් වහන්සේ ඉහළින්ම වර්ණනා කළා. එයින් නැවතුනේ නැහැ. ඊළඟට උපමා කීපයක් දුන්නා. එක උපමාවක් තමයි "මහණෙනි, සරත් සමයෙහි ගොවියෙක් මහ නඟුලකින් සීසාන කොට ඒ කෙතේ තියන සියලුම වැල්මුල් එහෙම්පිටින්ම මුලින් උපුටා දමනවද, අන්න ඒ විධියටම මේ අනිත්‍ය සංඥාව වැඩුවොත් බහුල වශයෙන් කළොත් අර කියාපු කාමරාග, රූපරාග, භවරාග, අවිද්‍යාව, අස්මිමාන මේ සියල්ල මුලිනුඋපුටා දමනවා.

ඊළඟට ඒ වගේම තවත් උපමාවක් දෙනවා යම්සේ අඹ වල්ලක නටුව කැපුවාම නටුවට සම්බන්ධ සියලුම අඹගෙඩි වෙන් වෙන්නා වගේ අනිත්‍ය සංඥාව තුළින් අර කියාපු කාමරාග භවරාග ආදී සියල්ල නැතිවී යනවා.

ඊළඟට තවත් උපමාවක් දක්වනවා සරත් සමයේ සූර්යයා වළාකුල් නැති අහසට පැන නැඟී සියලුම අන්ධකාරය දුරු කරන්නා වගේ අනිත්‍ය සංඥාව හරියාකාරව වැඩුවොත්, බහුල වශයෙන් පුරුදු කළොත්, අර කාමරාග, රූපරාග, භවරාග, අවිද්‍යා, අසමි මාන කියන සියලු කෙලෙස් මුලින් උපුටා දමනවා. සම්පූර්ණයෙන් නැති කරනවා කියල.

ඉතින් ඒ අනිත්‍ය සංඥාව පිළිබඳව ඒ විධියට වර්ණනා කරලා තියෙනවා.

කොහොමද ඒතකොට ඒ අනිත්‍ය සංඥාව වඩන්නේ කියන එකත් බුදුරජාණන්වහන්සේ ප්‍රකාශ කළා. කොහොමද අනිත්‍ය සංඥාව වඩන්නේ?

ඒක කෙටියෙන් දක්වෙන්නේ - නමුත් අපි හිතාගන්න ඕනෑ. ඒක ප්‍රායෝගික වශයෙන් අපේ ජීවිතවලට ළං කර ගන්න ආකාරය කල්පනා කරලා තේරුම් ගන්න ඕනෑ. මේ විදියටයි සඳහන් වෙන්නේ. 'මේය රූපය, මේය රූපයේ හටගැන්ම, මේය රූපයේ නැතිවී යාම, මේය වේදනාව, මේය වේදනාවේ හටගැන්ම, මේය වේදනාවේ නැතිවී යාම, මේය සංඥාව, මේය සංඥාවේ හටගැන්ම, මේය සංඥාවේ නැතිවී යාම, මේය සංස්කාර, මේය සංස්කාරයන්ගේ හටගැන්ම, මේය සංස්කාරයන්ගේ නැතිවී යාම, මේය විඤ්ඤාණය, මේය විඤ්ඤාණයේ හටගැන්ම, මේය විඤ්ඤාණයේ නැතිවී යාම කියල ඒක ප්‍රත්‍යක්ෂ වශයෙන් නිරන්තරයෙන්ම ඒ ගැන මනසිකාරයේ යෙදීමෙන් තහවුරු කරගත යුතු සත්‍යයක් හැටියටයි බුදුරජාණන් වහන්සේ එතන දක්වන්නේ.

ඊළඟට මේ අනිත්‍ය සංඥාව දන් මේ පින්වතුන් කවුරුත් අහලා තියනවා අර චතුරාර්ය සත්‍යය ගැන කිව්වා වගේ බුදුරජාණන් වහන්සේ දේශනා කරල තියෙන්නේ කුමක්ද කියල ඇහුවොත් හඳුනාගන්න ලක්ෂණ තුනක් තියෙනවා. මොනවද ලක්ෂණ තුන. අනිත්‍ය, දුක්ඛ, අනාත්ම කියන ත්‍රිලක්ෂණයයි. මේ ලක්ෂණ තුන එකිනෙකට සම්බන්ධයි. ඇතැම් විට මේ කාලයේ කෙනෙක් ප්‍රශ්න කරනවා. බුද්ධ වචනයේ හැටියට "යදනිච්චං තං දුක්ඛං - යං දුක්ඛං තදනත්තා" "යමක් අනිත්‍යද එය දුකයි. යමක් දුක් සහිතද එය අනාත්මයි". කෙටියෙන් දක්වන්නේ එහෙමයි. ඉතින් මෙන්න මේ අනිත්‍ය දේ දුක්වන සැටිත්, දුක් සහිත දේ අනාත්ම වන සැටිත් අපි තේරුම් ගන්න බලමු. බුද්ධ දේශනාව ආශ්‍රයෙන්.

මේ අනිත්‍යතාව දුකක් වන්නේ මක්නිසාද? මේ අනිත්‍යවූ දේ අපි උපාදාන වශයෙන් අල්ල ගන්න නිසයි. අන්න ඒකට බුදුරජාණන් වහන්සේ හොඳ උපමාවක් දීල තියෙනවා. ගඟක් පිළිබඳ උපමාව - නදී උපමාව. එක් අවස්ථාවක බුදුරජාණන් වහන්සේ ප්‍රකාශ කරනවා මහණෙනි, පර්වතයෙන් ගලා බස්නා වේගයෙන් ගලන ජලධාරා ඇති බොහෝ දුර යන ගඟක් දෙපසේ තියෙනවා කසපඳුරු, කුස පඳුරු, බබුස්, තණ පඳුරු. ඊළඟට තවත් ගස්. ඒ හැම එකක්ම ගඟට නැමිලා තියෙන්නේ. මේ ගඟේ වේගයෙන් ගසා ගෙන යන මනුෂ්‍යයෙක් අර කස පඳුරු, කුස පඳුරු, ඒවා අල්ලනවා. ගස්වල අතු අල්ලනවා. ඒ අල්ලන හැම එකක්ම කැඩිලා බිඳිලා යනවා. මේ මනුෂ්‍යයා ඒක නිසා ව්‍යසනයට දුකට පත් වෙනවා. අන්න ඒ උපමාවෙන් අපට හිතාගන්න තියෙන්නේ මේ ජීව ශ්‍රෝතය ගලාගෙන යන අනිත්‍ය ස්වභාවය ගැන නොතකා නිත්‍ය වශයෙන් ග්‍රහණය කිරීම තුළින් නොයෙකුත් කම්පන වලට පත්වන බවයි. දන් අපි දන්නවා විශේෂයෙන්ම ඔය කුස තණ පඳුරක් ඇල්ලුවොත් ඒ පඳුර ගිලිහිලා යන්න

කලින් සමහරවිට අතත් කැපෙන්න පුළුවන්. අන්න ඒ විධියේ ව්‍යසන වලට පත් වන්න පුළුවන් කියල ප්‍රකාශ කළා.

මේ ග්‍රහණය කරන ආකාරයත්, කොහොමද ග්‍රහණය කරන්නේ කියන කාරණයත්, බුදුරජාණන් වහන්සේ ප්‍රකාශ කරනවා. රූපය ආත්මය වශයෙන් දකිනවා. ආත්මය රූප සහිත දෙයක් හැටියට සළකනවා. ආත්මය තුළ රූපය තියෙනවා කියා හිතා ගන්නවා. රූපය තුළ ආත්මය තියෙනවා කියා හිතා ගන්නවා. ඔය හතර ආකාරයකින් ග්‍රහණය කර ගන්නවා. ඒ වගේම වේදනාව, සංඥාව, සංස්කාර, විඤ්ඤාණය කියන අන්න ඒ උපාදාන අල්ලා ගැනීමේ ක්‍රම හතරක් දක්වලා තියෙනවා. අතහරින්න අකමැති බවයි එයින් පෙන්නුම් කරන්නේ. රූපය ආත්මය හැටියට ගන්නවා. ඒකට ඉඩක් නැති බව පෙනෙන කොට "නෑ නෑ මේ මගේ ආත්මය රූපය සහිත එකක්. "ඒකටත් ඉඩ නැතිවෙන කොට, "නෑ ආත්මය තුළ රූපය තියෙන්නේ." ඒකටත් ඉඩ නැතිවෙන කොට, රූපය තුළ ආත්මය තියෙන්නේ" ඔය ආකාරයෙන් රූප උපාදාන ස්කන්ධය. අල්ලගත්තු රූපය අතහරින්න අකමැත්තයි එතනින් පෙන්නුම් කරන්නේ. ඒ හතරම තමයි අර පංචස්කන්ධයේ පහෙන් වැඩි කළාම විස්සක් වන්නේ. ඉතින් ඕකට තමයි සක්කාය දිට්ඨිය කියන්නේ. දැන් සක්කාය දිට්ඨිය කියල කියන්නේ මේ මගේ ආත්මය කියල ආත්මය හැටියට ග්‍රහණය කිරීමෙන් ඒ තුළින් හදාගත්තු දෘෂ්ටි විස්ස. ඉතින් මේක ඉක්මවන්නේ සෝවාන් ඵලයට පත්වුනු පුද්ගලයායි. ප්‍රත්‍යක්ෂ වශයෙන් අර අනිත්‍යතාව වටහා ගත්තු තැනැත්තායි.

ඉතින් ඊළඟට අනිත්‍යතාව ගැන කිව්වා වගේම අර යමක් අනිත්‍යද ඒ අනිත්‍යවූ දේ උපදාන වශයෙන් අල්ලා ගැනීමෙන් දුකට ව්‍යසනයට පත්වන නිසයි අර බුදුරජාණන් වහන්සේ ප්‍රකාශ කළේ "යදනිච්චං තං දුක්ඛං" කියල. ඊළඟට ඒ දුක් සහිත දේ අනාත්ම වන සැටි ඒ අනාත්ම ස්වභාවය අනාත්ම ලක්ෂණය බුදුරජාණන් වහන්සේ ඉදිරිපත් කරලා තියෙන්නේ මේ පින්වතුන් කොතෙකුත් අහලා තියෙනවා අර පස්වග මහණුන් වහන්සේලා අර්හත්වයට පත්වූනේ "අනත්තලක්ඛණ සූත්‍ර දේශනාව" අහලයි කියල. ඒත් ඉසිපතන මිගදායේ අර ධම්මචක්කප්පවත්තන සූත්‍රය අහල අඤ්ඤාකොණ්ඩඤ්ඤ ස්වාමීන් වහන්සේ සෝවාන් ඵලයට පැමිණියා. නමුත් අර අනිත් ස්වාමීන් වහන්සේලාත් ඇතුළු පස්නමම අවසානයේ අර්හත් ඵලයට පැමිණියේ බුදුරජාණන් වහන්සේ දේශනා කළ අනාත්ම ලක්ෂණ සූත්‍ර දේශනාව අහල කියල කියනව.

එපමණක් නොවේ අන්න එතනදි බුදුරජාණන් වහන්සේ ප්‍රථම වරට මේ අනාත්ම තත්ත්වය සංඝයා වහන්සේලාට ප්‍රකාශ කළා. එහෙම නැත්නම්

ලෝකයාට ප්‍රකාශ කළා ඒ තුළින්. මේ විධියටයි පටන් ගත්තේ. "මහණෙනි, රූපය අනාත්මයි. ඉස්සරවෙලා ප්‍රකාශ කළා. මේ විදියටයි පටන්ගත්තෙ මහණෙනි, රූපය අනාත්මයි. ඔන්න ඊළඟට අනිත් පැත්ත කියනවා. රූපය ආත්ම නම්, ආත්මයක් නම්, ඒක තමන්ට කරදර පිණිස පවතින්නේ නැහැ - ආබාධ පිණිස, රූපය අපට ලෙඩ දෙන්නේ නැහැ, කොටින් කියතොත්. රූපය ආත්ම නම්, රූපය මගේ නම්, ඒක ලෙඩ දෙන්නේ නැහැ අපට. ඒ වගේම රූපය පිළිබඳව අපේ පාලනයක් අපේ වසයේ පවත්වා ගන්න හැකියාවක් තිබෙන්න ඕන." මගේ රූපය මෙසේ වේවා මගේ රූපය මෙසේ නොවේවා. "මහණෙනි, නමුත් එහෙම තත්ත්වයක් නැහැ. රූපය අනාත්ම නිසා. රූපය පිළිබඳව මගේ රූපය මෙසේ වේවා! මෙසේ නොවේවා කියලා පාලනයක්, වසයක් පවත්වා ගන්න බැහැ. ඒ වගේම රූපය අපට ලෙඩ දෙනවා. ඒ විදියටම වේදනාව සංඥාව සංස්කාර විඤ්ඤාණය පිළිබඳව බුදුරජාණන් වහන්සේ ඒත්තු ගැන්වූවා අර පස්වග මහණුන් වහන්සේලාට මේක අනාත්ම බව.

ඊළඟට ඒ වෙනස්වීම, අනිත්‍ය බව, විපරිනාමය, වෙනස්වනවා, තිබුණු තත්ත්වයෙන් වෙන පැත්තකට හැරෙනවා. ඒක නිසාම ඊළඟට බුදුරජාණන් වහන්සේ ත්‍රිලක්ෂණය මතුකරලා දෙනවා. "මහණෙනි, රූපය නිත්‍යද අනිත්‍යද? අනිත්‍යයි ස්වාමීනී" කීවාම "යමක් අනිත්‍ය නම් ඒ සැපද දුකද?" දුක් සහිතයි කියලා පිළිගන්න වෙනවා. අර කලින් කිව්ව කාරණා අනුව. ඊළඟට යමක් අනිත්‍ය නම්, දුක් සහිත නම්, වෙනස්වන සුළු නම් ඔන්න ඊළඟට ඒ අයගේ අවබෝධ ශක්තියටම ඉඩදීලා අහනවා, එයට "මමය" "මාගේය" කියලා කියන්න සුදුසුද? ඒක දක්වන්නේ, ඒ මමය මාගේය කියන කාරණය තුන් ආකාරයකින් දක්වනවා. 'එතං මම' 'එසොහමස්මි' 'එසො මෙ අත්තා'. 'එතං මම' කියලා කියන්නේ 'මෙය මගේය' තණ්හාව වශයෙන් ඒක අල්ලා ගන්නවා. 'එසො හමස්මි' කියන්නේ මාන වශයෙන් 'මෙය මම වෙමි' කියලා මාන වශයෙන් අල්ල ගන්නවා. 'එසො මෙ අත්තා' දිට්ඨි වශයෙන් 'මේක මගේ ආත්මය' කියල. ආත්මය කියන්නේ මොකද්ද දන්නෙ නැහැ. නමුත් මගේ ආත්මය මේකයි - කියල දිට්ඨි වශයෙන් අල්ල ගන්නවා. ඔන්න තණ්හා මාන දිට්ඨි වශයෙන් ග්‍රහණය කිරීමක්. තුන් ආකාරයකට ග්‍රහණය කරනවා. ඔන්න ඔය විධියට තමයි බුදුරජාණන් වහන්සේ අනාත්ම ලක්ෂණය ඉදිරිපත් කළේ. එතකොට ඒ සංඝයා වහන්සේලාටම පිළිතුරු දෙන්න සිද්ධ වෙනවා ඒක සුදුසු නැහැ යමක් අනිත්‍ය නම් ඒ පංච උපාදානස්කන්ධය හැම එකක්ම අනිත්‍ය නම් ඒවා දුකට හේතුවනවා නම් තමන් වසයේ පවත්වා ගැනීමට බැරිනම් ඒකට "මමය" 'මාගේය' කියලා කීම සුදුසු නැහැ කියල පිළිගන්න

සිද්ධවෙනවා. අන්න ඒ විධියටයි බුදුරජාණන් වහන්සේගේ ඒ දේශනාව අවසාන වෙනකොට උන්වහන්සේලා අර්හත්වයට පත්වුනු බවයි ධර්මයේ සඳහන් වෙන්නේ.

එතකොට ඔන්න අපිට පැහැදිලි වෙනවා 'යදනිච්චං තං දුක්ඛං, යං දුක්ඛං තදනත්තා' කියන එකේ ත්‍රිලක්ෂණය හරි බව. යමක් අනිත්‍ය නම් එය දුකට හේතු වෙනවා දුකට හේතු වෙනව නම්, ඒ තමන්ගේ වසයේ පවත්වන්න බැරි නම්, අප සැප තේ බලාපොරොත්තු වෙන්නේ. එතකොට අපේ වසයේ පවත්වා ගන්නවා කියන්නේ. අපට සැප එන ආකාරයට පවත්වා ගන්නවා. ඒක කරන්න බැරි නිසා ඒවා ආත්ම හැටියට ගැනීම එහෙම පිටින්ම වැරදියි, කියන එකයි බුදුරජාණන් වහන්සේ පෙන්නුම් කරන්නේ. ඒ දෘෂ්ටි අතහරින්න වෙනවා යම් අවස්ථාවක. ඒ දෘෂ්ටි තබාගෙන බැහැ ඉදිරියට යන්න. ඒකයි ඔය සක්කාය දිට්ඨිය ප්‍රබල එකක් කියල කියන්නේ. දීර්ඝ කාලයක් සංසාරයේ අපි අරගෙන ඇවිල්ලා තියෙන්නේ ඔය ආත්ම දිට්ඨියයි. ඒක අතහරින්න අකමැත්ත නිසා තමයි හතර ආකාරයකට ඒකේ එල්ලිලා ඉන්නේ.

ඉතින් ඒවා අතහරින්නේ කොහොමද? ඔන්න ඊළඟට බුදුරජාණන් වහන්සේ ප්‍රකාශ කරනවා අර කාම රාග, රූපරාග, භවරාග, අස්මිමාන, අවිද්‍යා සියල්ලම නැති වන්නේ අනිත්‍ය සංඥාව තුළින් කියලා. එතකොට අපි මේක අනිත්‍ය හැටියට දකීමට පුරුදුවෙන්න ඕනෑ. ඒ අනිත්‍ය හැටියට දකීමේදී බුදුරජාණන් වහන්සේ තව නොයෙකුත් විධියට මේ කාරණය පැහැදිලි කරනවා මේ අනිත්‍යතාව. දැන් ඔන්න. මේ රූප, වේදනා, සංඥා, සංස්කාර, විඤ්ඤාණ කියන ඒවා හේතු ප්‍රත්‍ය වලින් ඇතිවෙනවා. ඒ හේතු ප්‍රත්‍යය අනුව සැළකීමෙනුත් මේවායේ අනිත්‍ය ස්වභාවය තේරුම් ගන්න පුළුවන්. පටිච්චසමුප්පාද කියලා කියන්නේ 'නිසා උපන්'. පටිච්ච කියලා කියන්නේ 'නිසා'. නොනිසා කිසිවක් ඇතිවන්නේ නැහැ. 'නිසා' හේතු ප්‍රත්‍යයන්ගෙන්මයි හැමදෙයක්ම ඇතිවන්නේ. තනිව හිටගන්න ශක්තියක් නැහැ එකකටවත්. අන්න ඒ විධියේ තත්වයක් මේ භවය පිළිබඳව පවතින්නේ. මේ ආත්ම දෘෂ්ටියට තැනක් නැතිවන්නේ ඒකයි. නුවණින් සලකලා බලනකොට, මනසිකාරයට ගොදුරු කරනකොට, හැම එකකම යටින් තියෙනවා හේතු ප්‍රත්‍යය. හේතු ප්‍රත්‍යයන්ගෙන් තොරව කිසිවක් හටගන්නේ නැහැ.

අන්න ඒ කාරණය - එතනදී රූපයට හේතුව දක්වනවා, රූපයට හේතු ප්‍රත්‍ය හැටියට දක්වන්නේ සතර මහා භූතයින් කියලා කියන - මේ පින්වතුන් දන්නවා - පඨවි, ආපො, තේජො, වායො. පඨවි කියන කොට

අපිට සාමාන්‍යයෙන් මතක් වන්නේ ගලක් පර්වතයක් වැනි දෙයක්. ආපො කියල කියනකොට ජලයක් මතු වෙනවා - ජලය පිළිබඳ අදහස. ළිඳක් සාගරයක් වගේ. තේජෝ කියන කොට මහගින්නක්. වායො කියන කොට කුණාටුවක්. එහෙම කිව්වාට මොකද බුදුරජාණන් වහන්සේ පෙන්නුම් කරනවා මේවා තනිව පවතින්නේ නැති අඳුනගන්න බැරිවිධියේ මහා භූත ධර්ම හතරක් කියලා. මේවා එකටයි පවතින්නේ. එතකොට මේවායේ අඩුවැඩිවීම් අනුව තමයි අපි මේවාට පඨවි ආපො ආදි වශයෙන් නම් දීලා තියෙන්නේ. ඒක ප්‍රත්‍යක්ෂවන අවස්ථාවක් තිබෙනවා. අර කුඩා දරුවකුට යමක් තේරුම් කරනකොට රූප ඇඳලා තේරුම් කරන්නා වගේ නමුත් අවබෝධය එනවිට ඒ රූප අනවශ්‍ය වගේ යම් කෙනෙකුට මේවා ප්‍රත්‍යක්ෂ වනකොට, අවබෝධ වනවිට අන්න මහා භූතධර්ම තේරුම් ගන්න බැරි විධියේ සියුම් ආකාරයකින් පවතින දේවල් හැටියට වැටහෙනවා. ඉතින් ඒ මහා භූත ධර්ම උපමාවකට කිව්වොත් අයිස් කැටයට අත ගැහුවාම ඒක ඝණ නිසා සමහරවිට ඒක ගලක් වගේ දෙයක් කියලා හිතේවි. නමුත් ඒක දියවෙන කොට වතුර, තවත් ඒක උණුවෙනකොට වාෂ්ප. ඔය විධියට හැමදේකම නිරන්තරයෙන් වෙනස් වන ස්වභාවයක් තියෙනවා. අපි ඒක අමතක කරලා අපි මේ රූපය දැඩිව අල්ලා ගන්නවා. අපේ ශරීරයත් අපි නොදැනුවත්වම වගේ දිරාපත් වෙනවා. නමුත් අපි 'මගේ රූපය, මගේ රූපය' කියලා ඒ ඒ අවස්ථාවල ඡායාරූප ගන්නවා විතරක් නොවේ මේවා මමය මාගේය කියලා ග්‍රහණය කරලා හොඳට අල්ලා ගෙන අර මමත්වය තහවුරු කරගන්න උත්සාහ කරනවා. ඉතින් ඒ රූපය. අනික් ඒවාත් එහෙම තමයි.

බුදුරජාණන් වහන්සේ පෙන්නුම් කරනවා අර කලින් කියාපු උපමා වලින් පෙන්නුම් කරන්නේ ඈතට පෙනෙන ආකාරයයි, දෘෂ්ටිය කියලා කියන්නේ. පෙණපිඩ ඈතට පෙනෙන ආකාරය අනුව ඒක අල්ලා ගැනීම. කිට්ටුවෙලා බැලුවේ නැහැ. කිට්ටු වෙලා බැලුවොත් - එතන අර සුදුපාට ගලක්වගේ දෙයක් පේන්නේ, නමුත් අන්තිමට ඒක එහෙම එකක් නොවෙයි. වේදනාව දිය බුබුලක්. ඔය ආදී උපමා වලින් දක්වූවේ, කිට්ටුවෙලා ඇතුළට ගිහින් බලනකොට මේක වෙන එකක්. මායාව ඒ අතින් ඉහළම පුදුම විධියේ කෙනෙක් රවට්ටන්න පුළුවන් දෙයක්. **මායාව, විජ්ජාව කෙනෙක් රවට්ටන්නටම තිබෙන දෙයක්.** ඒ විඤ්ඤාණය.

ඔන්න ඔය විධියට එතකොට බුදුරජාණන් වහන්සේ දන් මෙතන රූපයට කිව්වා හේතු ප්‍රත්‍ය සතර මහා භූතයින් කියලා. වේදනාවට හේතු ප්‍රත්‍ය හැටියට දක්වන්නේ ස්පර්ශයයි. ස්පර්ශය, කෙනෙක් මේ ස්පර්ශය ගැන මෙනෙහි නොකර වේදනාව දැඩිව අල්ලා ගන්නවා. නමුත් වේදනාවට

යටින් තියෙන්නේ ස්පර්ශයයි. එක් එක් සියුම් ස්පර්ශය තුළින් මේ වේදනාව ශීඝ්‍රයෙන් වෙනස්වෙවී යනවා. නමුත් ඒක මනසිකාරයට අහුවෙන්නේ නැහැ, සාමාන්‍ය පුද්ගලයාගේ. මේ මගේ වේදනාව කියලා අල්ලා ගන්නවා එකක් හැටියට. නමුත් ඒක නුවණින් සමාධිමත් සිතින් බලන කොට මේ එක් එක් ස්පර්ශය නිසා **එක් එක් වේදනාවන් ඇතිවෙනවා. ඒ ඒ ස්පර්ශය නැතිවන විට ඒ ඒ වේදනා නැතිවී යනවා.** එතකොට වේදනාවට ප්‍රත්‍යය හැටියට දක්වන්නේ ස්පර්ශයයි.

සංඥාවටත් හේතුව ප්‍රත්‍යය හැටියට දක්වන්නේ ඒත් ස්පර්ශයයි. දුන් ඈත පෙනෙන මිරිඟුවක් **ඒ අර මිරිඟුව පෙනෙන්නේ යම් ස්ථානයක ඉඳලා කෙරෙන ඒ ස්පර්ශය නිසා බව තේරුම් නොගෙන** ඒක ඔස්සෙ දුවනවා මුවා. මුවා දුවනවා පමණක් නොවෙයි සාමාන්‍ය ලෝකයා ඔය ගන්න දර්ශන හැම එකක්ම අප තේරුම් ගන්න ඕනෑ, බුදුරජාණන් වහන්සේගේ වචනයට අනුව හැම සංඥාවක්ම මිරිඟුවක්.

ඊළඟට ඒ වගේම තමයි සංස්කාර. ඒවටත් හේතු ප්‍රත්‍යය හැටියට දක්වන්නේ ස්පර්ශයමයි. සංස්කාර, අපි මේ චේතනා ආදී වශයෙන් සිතින් කරන සකස් කිරීම්. ඒවාත් යම් ස්පර්ශයක් - සිතට එන ස්පර්ශයක් අනුවයි ඒවා. ඉතින් ඒකත් අර ග්‍රහණය කරනවා. කෙසෙල් කඳක් වගේ **'එකක්'** හැටියට ගන්නවා. **පතුරු ගොඩක් විතරයි එතැන.** චේතනා ආදිය බලනකොට පතුරු ගොඩක් විතරයි.

ඊළඟට ඔක්කොටම වඩා පුදුම දේ තමයි විඤ්ඤාණය. අන්න එතැනදි තමයි බොහෝ දෙනා හිරවෙන්නේ. මේ විඤ්ඤාණයට හේතු ප්‍රත්‍ය හැටියට දක්වලා තියෙන්නේ බුදුරජාණන් වහන්සේ - නාමරූපයයි. නාමරූපය - ඔන්න මේ කාරණය පිළිබඳ බොහෝ දෙනා තුළ වැරදි අදහසක් තියනවා. දුන් මේ සියල්ලම නැතත් ඇතැම් පින්වතුන් දන්නවා ඇති පටිච්චසමුප්පාද ධර්මයේ අංග දොළහක් තිබෙන බව. අවිජ්ජාවෙන් පටන් ගෙන දුක දක්වා අංග දොළහක් තිබෙනවා. මේ අංග අතර විඤ්ඤාණයත් නාමරූපයත් අතර අන්‍යෝන්‍ය ප්‍රත්‍යය සම්බන්ධතාවක් තිබෙනවා. බුදුරජාණන් වහන්සේ පෙන්නුම් කරන්නේ "විඤ්ඤාණ පච්චයා නාමරූපං - නාම රූප පච්චයා විඤ්ඤාණං" විඤ්ඤාණය නිසා නාමරූපය පවතිවනවා. නාමරූපය නිසා විඤ්ඤාණය පවතිනවා කියලා. පටිච්ච සමුප්පාද විග්‍රහයේ අන්‍යෝන්‍ය ප්‍රත්‍යය වශයෙන් තිබෙනවා එතන පැහැදිලිවම. නමුත් ඇතැම් කෙනෙක් පංච උපාදානස්කන්ධය විග්‍රහ කිරීමේදී ඒක පටලවා ගන්නවා මේ නාම රූපයත් එක්ක. දුන් බොහෝ උගතුන් කියනවා නාම රූපය තේරුම් කරන්න ගිහිල්ලා නාමරූපයේ රූපය කියලා කියන්නේ රූප

උපාදානස්කන්ධයයි. නාම කියලා කියන්නේ අර අනිත් වේදනා, සංඥා, සංස්කාර, විඤ්ඤාණ හතරම දානවා නාමය හැටියට. නමුත් ඒක අවුල්කර ගැනිල්ලක්. පංච උපාදාන ස්කන්ධ විග්‍රහයත්, පටිච්චසමුප්පාද විග්‍රහයත් පටලවා ගැනීමෙකිනුයි ඒ විධියට කෙනෙක් කල්පනා කරන්නේ.

මොකද, බුද්ධ දේශනාවේ පැහැදිලිවම තිබෙනවා විඤ්ඤාණයට ප්‍රත්‍යවන්නේ නාමරූපය. අන්න එතන තමා ගැඹුරුම එක. ඒ නාමරූපය පටිච්චසමුප්පාද ධර්මයට අනුව - නාමරූපය තුළින් තමයි ඊළඟට සළායතනය හැටියට බෙදිලා යන්නේ. සළායතන කියලා කියන්නේ පින්වතුනි, ඒක ධර්මයේ දක්වලා තිබෙන්නේ - කොටින්ම විඤ්ඤාණ හයක් හැටියට. නිකම් විඤ්ඤාණයක් නැහැ. චක්ඛු විඤ්ඤාණ, සොත විඤ්ඤාණ, ඝාණ විඤ්ඤාණය, ජිව්හා විඤ්ඤාණ, කාය විඤ්ඤාණ, මනො විඤ්ඤාණ කියලා විඤ්ඤාණ හයක් තිබෙනවා. ඇස, කණ, නාසය, දිව, කය, මන කියන ඒ අපි ඉන්ද්‍රිය කියලා ගන්න ඒවා. **ඒවායේ විඤ්ඤාණය තැන්පත් වෙලා නැහැ.** බුදුරජාණන් වහන්සේ දක්වන්නේ පටිච්චසමුප්පාද ධර්මයට අනුව **විඤ්ඤාණයත් හේතු ප්‍රත්‍යයන්ගෙන් ඇතිවන එකක්.** "අඤ්ඤත්‍ර පච්චයා නත්ථි විඤ්ඤාණස්ස සම්භවො" **ප්‍රත්‍යයන්ගෙන් තොරව විඤ්ඤාණයක් හටගන්නේ නැහැ** කියනවා. එතන තමා ගැඹුරුම දේ. එතකොට ඒ වගේම බුදුරජාණන් වහන්සේ ප්‍රකාශ කරනවා 'ද්වයං භික්ඛවෙ පටිච්ච විඤ්ඤාණං සම්භොති' **දෙකක් නිසයි විඤ්ඤාණය ඇති වන්නේ. මොකද්ද දෙක, ඇසයි රූපයයි.** ඇසයි රූපයයි නිසා චක්ඛු විඤ්ඤාණය ඇතිවෙනවා. කණයි ශබ්දයයි නිසා සොත විඤ්ඤාණය ඇතිවෙනවා. දැන් මේ වචනයකට කන් දෙන්නේ ඒ අවස්ථාවේ ශබ්දය ඇහෙන්නේ නැත්නම් සොත විඤ්ඤාණයක් නැහැ ඒ අවස්ථාවේ. නමුත් අපි හිතනවා කණ තිබෙන නිසා සොත විඤ්ඤාණයක් තිබෙනවා කියලා. ඒක වැරදි අදහසක්. **ගිනි පෙට්ටියේ ගින්දර තියෙනවා කියලා හිතීම වගේ.** ගිනිකූර ගැහුවට පස්සෙ තේ ගින්දර එන්නේ. **මේක සවිඤ්ඤාණක කය බව ඇත්ත.** විඤ්ඤාණය සහිත කය. නමුත් විඤ්ඤාණය මතුවන්නේ හය ආකාරයකට ඒකට ප්‍රත්‍යය එකතු වුනාමයි. අන්න එහෙම හිතාගන්න. එතකොට ඇසත් රූපයත් **නිසයි.** එතනයි බොහෝ දෙනාට වරදින්නේ. ඇසත් රූපයත් **නිසයි** චක්ඛු විඤ්ඤාණය. කණත් ශබ්දයත් නිසයි සොත විඤ්ඤාණය. ඒ විදියට අන්තිමටම එන්නේ මනසත් මනසට අරමුණු වන **'ධම්ම'** කියන **'දෙයත්'** මනසට අරමුණු වුන කාරණයත්, ඒ දෙක එකතු වුන තැනයි මනෝ විඤ්ඤාණය පවා ඇති වන්නේ, ඔන්න විධියේ මහා ගැඹුරු කාරණයක්.

එතකොට මෙන්න මේ දෙක කියල කියන එකම තමයි අර විඤ්ඤාණය නිසා නාමරූපය පවතිනවා. නාමරූපය නිසා විඤ්ඤාණය පවතිනවා.

දැන් විදර්ශනා භාවනා යෝගියා ඒ ඒ සිතට එන අරමුණු හැම එකක්ම නාම රූප හැටියටයි සළකන්නේ. ඇසට එන රූපය හෝ වේවා කණට එන ශබ්දය හෝ වේවා එතන තියෙන්නේ නාමරූප කියලා. මොකක්ද මේ **'නාමරූප'**. ඔන්න එතකොට තේරුම් ගන්න බලනවා. නාමය කියන්නේ අපි කවුරුත් පාවිච්චි කරනවා නම කියලා. නමුත් මෙතන මේ සම්මුති නාමයක් නොවේ. මෙතන කියන්නේ - **"කුමක්ද මහණෙනි නාමය? වේදනා, සඤ්ඤා, චේතනා, ඵස්ස, මනසිකාර මේවා නාම ධර්ම.** එතකොට රූප හැටියට දක්වන්නේ අර කලින් කිව්වා නේ මහා භූත හතර දෙනා එකට අල්ලාගෙන උපාදානය කරගෙන ඇතිකර ගන්නා රූප සංඥාවයි මේ රූප කියලා කියන්නේ. එතකොට නාම රූපය කියල කියන්නේ එතනම තියෙනවා අර කෘත්‍රිම ස්වභාවයක්. රැවටිලි ස්වභාවයක්. විඤ්ඤාණයට එන අරමුණේ රැවටිලි ස්වභාවය එතන නාමරූප කියන වචනයෙන් පෙන්නුම් කරන්නේ. **නාමය තනිව හිට ගන්නේ නැහැ. නාමය උපකාර කරගෙන රූපය පවතිනව. රූපය උපකාර කරගෙන නාමය පවතිනව.** මෙතනත් කියනව හේතු ප්‍රත්‍ය සම්බන්ධයක්. යමක් අපි හඳුනා ගන්නේ වේදනාව සංඥාව ඒ පිළිබඳව ඇතිවන චේතනාව ඊළඟට ඒකට මනසිකාරය යොමු කරන තැනක් තියනවා ස්පර්ශය. ඒ කාරණා ආශ්‍රයෙන් තමා අපි රූප ධර්ම පවා හඳුනාගන්නේ. ඒවායේ සණ බව ඒවායේ තද බව, බුරුල් බව, උෂ්ණ බව, සීතල බව ආදි වශයෙන් අපි අඳුනා ගන්නේ ඔන්න ඔය කියාපු වේදනා සංඥා චේතනා ඵස්ස මනසිකාර කියන නාම ධර්ම ආශ්‍රයෙන්. ඊළඟට ඒ අඳුනා ගැනීම තුළින් අපි මේක **'රූපයක්'** කියලා ගන්නවා. හරියට අන්ධයෙක් ගිහිල්ලා මොකක හරි හැපුනාම ඒ හැපුන දෙය දෙයක් කියල ගන්නවා වගෙයි. සාමාන්‍ය ලෝකයා අර සක්කාය දිට්ඨිය තුළින් මේක දෙයක් හැටියට ගන්නවා. නමුත් බුදුරජාණන් වහන්සේ පෙන්නුම් කරනවා **මෙතන තියෙන්නේ මේ ඡායාවක් පමණයි.** අපි අර කොතෙකුත් උපමාවල් පෙන්නුවා.

බුදුරජාණන් වහන්සේත්, පූර්ණ මන්තානි පුත්ත ස්වාමීන් වහන්සේත්, ආනන්ද ස්වාමීන් වහන්සේත් ප්‍රකාශ කරලා තියෙනවා අර කන්නාඩියක් අල්ලාගෙන බලන කොටයි මේ මමය කියල කියන්න පුළුවන් වන්නේ. ඒ වගේ රූපය අල්ලාගෙනයි 'අස්මි' 'වෙමි' කියන අදහස ඇතිකරගන්නේ. ඒවගේම වේදනා. යම්කිසි දෙයක් අල්ලා ගැනීමෙනුයි. ඒකටයි උපාදාන කියලා කියන්නෙත් ඒකයි. ඒ අල්ලා ගැනීම තුළ තියෙනවා දෙකක් පිළිබඳ හැඟීම. එතකොට ඒක හිතට වැටහෙන්නේ අර අල්ලාගැනීම තුළින්. අතහැරිය අවස්ථාවේදී ඒක නැහැ. නමුත් අතහරින්න කැමති නැහැ. එතකොට ඒ අල්ලා ගැනීම තුළින් 'වෙමි' කියන අදහසක් එනවා. ඕකයි ලෝකයාට තියන ලොකුම ප්‍රශ්නය. අර ඒ - දණ්ඩ උඩ බල්ලාගේ උපමාව සමහර අවස්ථාවල දක්වන්නේ ඒකයි. බල්ලෙක් ඒ - දණ්ඩ උඩින් යනකොට

උගේම රූපයට රැවටෙනවා. තවත් බල්ලෙක් කියලා ගොරවනවා එහෙම නැත්නම් වල්ගය වනනවා. එහෙම නැත්නම් විටින් විට සැරෙන් සැරේ බලනවා. මේ වතුරේ තියෙන පිළිබිඹු කරන ස්වභාවය නොදන්නා නිසා. ඒ වගේම තමා විඤ්ඤාණයෙත් තියෙනවා පිළිබිඹු කරන ස්වභාවයක්. ප්‍රත්‍යවේක්ෂා නමින් හඳුන්වන්නේ. අන්න ඒ තත්ත්වය ගැන නොදන්නා නිසා තමා ලෝකයා තමන්ට පෙනෙන දේවල් ඒ ඒ හැටියටම තියෙනවා කියලා හිතන්නේ. නමුත් විදර්ශකයාට ක්‍රමක්‍රමයෙන් පෙනෙනවා අන්න අර ඒවා තුළ තියෙන්නේ නාමධර්ම සමූහයකුත් රූප ධර්ම සමූහයකුත් පමණයි කියලා. ඉතින් ඔන්න ඔය කාරණයයි ඒ නාමරූප ධර්ම පිළිබඳව තියෙන්නේ.

ඊළඟට සළායතනය. අපි කල්පනා කර බලමු අපි කලින් කිව්ව නේ අර පංචඋපාදානස්කන්ධ විග්‍රහය වෙනමයි. පටිච්චසමුප්පාද විග්‍රහය වෙනමයි කියලා. දැන් මේක සම්බන්ධ කරන්නේ කොහොමද? අපි මේ දේශනාව පටන් ගත්තෙත් අර ඉපදීම දුකක් ජරාව දුකක් ආදී හැම එකේම අවසානයට බුදුරජාණන් වහන්සේ කියන 'සැකෙවින් කියතොත් පංචඋපාදාන ස්කන්ධය දුකක්' කියන ඒ පාඨයෙනුයි. අන්න එතැනටයි යන්න තියෙන්නේ. පටිච්චසමුප්පාදය කියන්නේ හේතු ප්‍රත්‍යයන්ගෙන් ඇතිවීම. හේතු ප්‍රත්‍යයන් නිසා ඇතිවීමේ කෙළවර තමයි පංචඋපාදාන ස්කන්ධය. අවසාන ප්‍රතිඵලය මේ පහකට බෙරිලා යනවා. දැන් මේ අත්දැකීම මේ මොහොතේ - මේ පින්වතුන් අහන බණ ටික මේ මොහොතේ, ගෙදර - දොර ඉන්න වෙලාවෙ නම් වෙන විධියකට උපාදානස්කන්ධ එකතුවන්න පුළුවන්. දැන් මේ වෙලාවේ ආපසු ගෙවල්වලට ගියාට පස්සේ තමන්ගේ මේ මොහොත ගෙවුනේ කොහොමද කියලා හිතලා බලනකොට මේකට අදාළ රූප ටික තමයි මගේ රූප ගොඩ කියලා අල්ලා ගන්නේ. මේකට අදාළ වේදනා ගොඩ තමයි මගේ වේදනා කියලා ගන්නේ. මේකට අදාළ සංඥා ගොඩ තමයි මගේ සංඥා කියලා ගන්නේ. මේකට අදාළ විඤ්ඤාණය තමයි මගේ විඤ්ඤාණය කියලා ගන්නේ. අන්න එතකොට **මේක සම්පාදනය වුනේ කොතනින්ද? සළායතනය තුළින්.** අන්න එතනයි වැදගත් වෙන්නෙ. **මේ සළායතන තුළයි නිෂ්පාදනය වන්නේ.** අපි මේ වචනය යොදන්නේ අර්ථයක් කාවද්දන්නයි. මේක පැරණි වචනයක් නොවේ. නමුත් සළායතනය තුළයි කොටින් කියතොත් මේ පංච උපාදානස්කන්ධය නිෂ්පාදනය වන්නේ. අන්න එතෙන්ටයි ඊළඟට අපි එන්නේ.

ඉතින් ඒක වෙන්නේ කොහොමද? අර කලින් කිව්ව නේ විඤ්ඤාණය - ඊට කලින් මතක්කරන්න වෙනවා මේ විඤ්ඤාණ - නාමරූප දෙක කියනකොට ඇයි අවිද්‍යාව, සංස්කාර ගැන හිතුවේ නැත්තේ කියලා කෙනෙක් අහන්න පුළුවන්. **මේ ඔක්කොම කෙරෙන්නේ අවිද්‍යා පසුබිමේ නොදන්ම නිසා.** අර බල්ලාගේ නොදැන්ම නිසා අර විධියට ග්‍රහණය කරලා නවිට වන වනා හිටියා වගේ. මේ සක්කායදිට්ඨියෙන් බැඳුනු

පුද්ගලයා තුළ - ඒකයි බුදුරජාණන් වහන්සේ ප්‍රකාශකරලා තියෙන්නේ 'අවිජ්ජා නීවරණස්ස හිකඛවෙ බාලස්ස තණ්හාය සම්පයුත්තස්ස එවං අයං කායො සමුදාගතො' **අවිද්‍යාවෙන් වැසුනාවූ තණ්හාවෙන් බැඳුනාවූ මේ අශ්‍රැතවත් පෘථග්ජනයාට මේ කය ලැබිලා තියෙනවා.** 'ඉති අයං චෙව කායො බහිද්ධාච නාමරූපං' මේ කයයි නාමරූපයයි 'ඉත්ථෙතං ද්වයං' මෙන්න මේ දෙක නිසා ස්පර්ශයත් සළායතනයත් ඇතිවෙනවා කියලා බුදුරජාණන් වහන්සේ ප්‍රකාශ කළා. මේ කිව්වේ මොකක්ද? අවිද්‍යාවෙන් වැසිලා තණ්හාවෙන් බැඳිලා ඉන්න මේ සත්ත්වයාට මේ කයක් ලැබිලා තියනවා. **මේ කයේ අර විඤ්ඤාණය මතුවෙනවා. ස්පර්ශ, අර කියාපු ප්‍රත්‍යයන් ආපු හැටියේ.** ඊළඟට ඒ එක්කම අර නාමරූපය විහිදිලා යනවා ආයතන හයක් හැටියට. ඒ ආයතන හය තමයි අපි කිව්වේ දන් මේ පින්වතුන් ඉන්ද්‍රිය හැටියට හඳුන්වන ඒවා ආයතන වෙන්නේ ක්‍රියාකාරීත්වයක් ඇති තැනයි. **ක්‍රියාකාරීත්වයක් ඇති තැනටයි ආයතනය කියලා කියන්නේ.** ඉන්ද්‍රිය තියෙනවා ඇහැ තියෙනවා පෙනෙන්නෙ නැහැ. කණ තියෙනවා ඇහෙන්නේ නැහැ. නමුත් අන්න අර ප්‍රත්‍යය ඇවිල්ලා ක්‍රියාත්මක වුන වෙලාවයි අපි ආයතන කියලා කියන්නේ. මේ චක්ඛු ඉන්ද්‍රිය තිබුනට චක්ඛු ආයතනය නැහැ. ආයතනය ඇති වෙන්නේ හේතු ප්‍රත්‍යයන් එක්ක සම්බන්ධ වුන තැනයි. **ගිනි පෙට්ටියේ ගිනිකූර වැදුන තැනයි ගින්දර පැන නගින්නේ.** අන්න හිතාගන්න නොතේරෙනවා නම් අර හරිය. ඒ විධියට තේරුම් ගන්න ඕනෑ. අන්න සළායතනයට බෙදිලා යනවා නාමරූපය. එතකොට විඤ්ඤාණය කියන මායාව තුළ අර නාමරූපය විහිදිලා යනවා.

මේ ශරීරය අතීතයේ බදාගත්තු තණ්හාව නිසා අපිට දකින්න ඕනෑ. අහන්න ඕනෑ රස බලන්න ඕනෑ. විඳින්න ඕනෑ. ඒ නොසන්සිඳුනු තණ්හාව නිසා අර අශ්‍රැතවත් පෘථග්ජනයාට මේ කය ලැබිලා තියනවා. මේ කයට ඔන්න නාමරූපය එකතු වෙනවා. ඒ නාමරූපය ඊළඟට ඒක තුළින් සළායතනය ගොඩනැගෙනවා. ඉතින් පටිච්චසමුප්පාදයට නංවලා යනවා. සළායතන නිසා ඵස්ස. 'ඵස්ස පච්චයා වේදනා' වේදනාව නිසා තණ්හාව. තණ්හාව නිසා උපාදානය අන්න අන්තිමට උපාදන ස්කන්ධ පහක් ගොඩනැගෙනවා. ඒකයි අපි කිව්වේ මේ අවස්ථාව ගැන හිතලා බලන කොට ආපසු මේකට අදාළ මගේ මේ ජීවිතයේ මේ අවස්ථාව අද දින මේ මොහොත ගතවුනා කියලා කියන්න පුළුවන් වන්නේ මේ මේ රූපයක් ඒ අවස්ථාවේ තිබුණා. මේ වගේ වේදනාවක් මේ වගේ සංඥාවක් ඔය ඔක්කොම බේරිලා යනවා අන්තිමට තැන්පත් වෙනවා පංචඋපාදානස්කන්ධයක් හැටියට.

නමුත් මෙන්න මේක හැදෙන්නේ කොහොමද කියන එකත් බුදුරජාණන් වහන්සේ ප්‍රකාශ කළා. ඒක මහා ගැඹුරු දේශනාවක්. මහා සළායතනික නමින් ඇති ඒ දේශනාවේ බුදුරජාණන් වහන්සේ පෙන්නුම් කරනවා මේ

පංචඋපාදානස්කන්ධය ගොඩනැගෙන හැටිත් මේක ලිහිලායන හැටිත් ගෙවිලා යන හැටිත්. ඒකට යොදන වචන දෙක 'උපචය - අපචය'. උපචය කියලා කියන්නේ එක් රැස්වීම. අපචය කියලා කියන්නේ ගෙවීයාම. එතකොට පංචඋපාදාන ස්කන්ධයක් ගෙවිලා යන්නේ කොහොමද කියන එක බුදුරජාණන් වහන්සේ ඉදිරිපත් කරන්නේ ඒ සූත්‍රයේ 'යථාභූත ඥාණ' කියන වචනයෙන්. යථාභූතඥාණය කියල කියන්නේ. ඇත්ත ඇති සැටි පිළිබඳ අවබෝධය. දන් අපි තේරුම් ගත්තා යථාභූතඥාණය කියල කියන්නේ අනිත්‍යතාවටයි. අනිත්‍යතා දර්ශනයටයි, යථාභූතඥාණය කියලා කියන්නේ ඇත්ත ඇති හැටියට දකීම කියන්නේ අනිත්‍යතා දර්ශනයයි. ඒකමයි අර විධියේ උපමා බුදුරජාණන් වහන්සේ දුන්නේ. එතකොට දන් මෙතැනදී බුදුරජාණන් වහන්සේ පෙන්නුම් කරනවා යම්කෙනෙක් මේ පංචඋපාදානස්කන්ධය ගොඩනඟා ගත්තේ කොහොමද කියලා දක්වන්නේ අර සළායතනය ක්‍රියාත්මකවීමේදී මේ පින්වතුන් දන්නවා ඒකට අදාළ දේවල් තමා ඇස, රූපය, ඊළඟට ඇස පිළිබඳ විඤ්ඤාණය, ඊළඟට ඒ ඇසත් රූපයත් විඤ්ඤාණයත් එකතුවුන තැන ස්පර්ශය ඊළඟට ස්පර්ශය නිසා වේදයිතයන් එනවා. ඔන්න ඔය කියන කාරණා හැම එකක්ම යථාභූත වශයෙන් ඒවායේ අනිත්‍ය ස්වභාවය නොදන්නා නිසා කෙනෙකුට උපාදාන ස්කන්ධයක් ගොඩනැගෙනවා කියලා බුදුරජාණන් වහන්සේ වදාළා. මොහොතක් මොහොතක් පාසා මේක පිළිබඳ අනිත්‍යතාව ගැන අවබෝධයෙන් සිටින කෙනාට ඒවා එකතුවන්නේ නැහැ. පංචඋපාදානස්කන්ධය ගෙවී යාමට උපකාර වෙනවා එතකොට අනිත්‍යතා දර්ශනය. අනිත්‍යතා දර්ශනය, යථාභූත දර්ශනය නොමැතිව මමය මාගේය කියලා නිත්‍ය සංඥාවෙන් ග්‍රහණය කරන අවස්ථාවේ අන්න පංචඋපාදානස්කන්ධයක් ගොඩනැගෙනවා. නිරන්තරයෙන්ම අනිත්‍ය සංඥාව ඇතිව ඉන්නකොට අරවා එතන එතනම ඉවරයි. එතන එතනම ඉවරයි. ඒවා ගොඩනැගෙන්නේ එකතු වෙන්නේ නැහැ. ඒකයි එතන ප්‍රකාශ කරන්නේ.

ඔන්න ඊළඟට ඒ කාරණය වඩාත් පැහැදිලි වන ගැඹුරුම සූත්‍රයක් තියනවා. ඒ සූත්‍රය 'අනිච්චතා සූත්‍රය' නමින් හඳුන්වනවා. මහ පුදුම විධියට බුදුරජාණන් වහන්සේ ඒ සූත්‍ර දේශනාව ප්‍රකාශ කරන්නේ. ඇතැම් කෙනෙකුට ඒක අහනකොට පවා අනිත්‍යතා කියන සමාධියට වැටෙන බව ප්‍රකාශ කරනව. "මහණෙනි, ඇස අනිත්‍යයි වෙනස්වන සුළුයි. අන්‍යාකාරයකට පත්වන සුළුයි. රූපය අනිත්‍යයි, වෙනස්වන සුළුයි. අන්‍යාකාරයකට පත්වන සුළුයි. ඊළඟට මෙන්න මේ දෙකම ඒ විධියට අනිත්‍යයි. ඊළඟට ඒවා නිසා ඇතිවන චක්ඛු විඤ්ඤාණය. එතකොට ඇසත් රූපයත් එකතුවුන තැන යම් චක්ඛු විඤ්ඤාණයක් ඇතිවනවාද ඒකත් අනිත්‍යයි. අන්‍යාකාරයකට පත්වනවා. වෙනස්වන සුළුයි. ඊළඟට ඒවා නිසා ඇතිවන චක්ඛු විඤ්ඤාණය. එතකොට ඇසත් රූපයත් එකතුවුන තැන යම් චක්ඛු විඤ්ඤාණයක් ඇතිවනවාද

ඒකත් අනිත්‍යයි. අන්‍යාකාරයකට පත්වනවා. වෙනස්වන සුළුයි. ඊළඟට බුදුරජාණන් වහන්සේ සංඝයා වහන්සේලාට ප්‍රකාශ කරනවා යම් හේතුවක් ප්‍රත්‍යයක් නිසා විඤ්ඤාණය ඇතිවුනාද ඒ හේතු ප්‍රත්‍යය අනිත්‍යයි. එතකොට කොහොමද විඤ්ඤාණය නිත්‍ය වන්නේ? යමක් හටගත්තු හේතු ප්‍රත්‍ය අනිත්‍ය නම් විඤ්ඤාණය නිත්‍යවන්නේ කොහොමද? එහෙම අහන්නේ මොකද? විඤ්ඤාණය නිත්‍යයි කියලා ගන්න නිසා. එතකොට ඇසත් අනිත්‍යයි ඒ කියන්නේ නිතරම සැලෙන සුළුයි. නිරන්තරයෙන් බිඳිලා යන සුළුයි. රූපයනුත් එහෙමයි. නමුත් ඒවා එකතු වුනු තැන අපි විඤ්ඤාණය කියලා අල්ල ගන්නවා. නිත්‍ය හැටියට. චක්ඛු විඤ්ඤාණය කියලා එහෙම. එතකොට යම් කෙනෙක් ඇහේ අනිත්‍යතාව එතන එතනම දකිනවා නම් රූපයන්ගේ අනිත්‍යතාව එතන එතනම දකින තත්ත්වයකට අපේ හිත පත්කර ගත්තොත් ප්‍රඥාවෙන්, එතන විඤ්ඤාණයක් නැහැ. විඤ්ඤාණය කොහොමද නිත්‍ය වෙන්නේ?

ඊළඟට ඒ තුන එකතුවුන තැන ස්පර්ශයයි කියල බුදුරජාණන් වහන්සේ ප්‍රකාශ කරනව. නමුත් ඒ චක්ඛු සම්ඵස්සයත් අනිත්‍යයි කියල බුදුරජාණන් වහන්සේ ප්‍රකාශ කරනව. සැලෙනවා නිරන්තරයෙන් වෙනස් වෙනවා. එතකොට අහනවා ඊළඟට යම් හේතුන් නිසා ස්පර්ශය ඇති වුනා නම් ඒ හේතු ප්‍රත්‍ය අනිත්‍ය නම් කොහොමද ප්‍රතිඵලය - ඒකෙන් මතුවන චක්ඛු සම්ඵස්සය නිත්‍ය වෙන්නේ. ඊළඟට චක්ඛු සම්ඵස්සය නිසයි වේදයිතය ඇතිවන්නේ. ඒකත් අනිත්‍යයි. වෙනස්වන සුළුයි. ඒකත් සැලෙන සුළුයි. නමුත් ලෝකයා ඒ වේදයිතයත් වේදනාවත් නිත්‍ය හැටියට සලකනවා. ඔන්න ඔය විදියට පියවරෙන් පියවරට බුදුරජාණන් වහන්සේ ඒත්තු ගන්වන්න උත්සාහ කරනවා මේ සළායතනයේ - නිෂ්පාදනාගාරයේ - හැම පියවරක්ම සැලෙන සුළුයි වෙනස්වන සුළුයි. වෙනස් ආකාරයකට පත්වන සුළුයි. නමුත් අවිද්‍යාවෙන් වැසුණු, තණ්හාවෙන් බැඳුණු පුද්ගලයා ඒ අනිත්‍යතාව දකින්න අසමත්ව නිත්‍ය සංඥාවෙන් ඝන සංඥාවෙන් ඒවා ග්‍රහණය කරනවා.

අන්න ඒක තමා අර චිත්‍රශිල්පියා පිළිබඳව කියනකොට රාශි සංඥාව. මේ ඝනය බිඳෙන අවස්ථාවක් තිබෙනවා. ඒ බිඳෙන්න උපකාරවන්නේ නාමරූපය පිළිබඳ අවබෝධයයි. නාම රූපය පිළිබඳ අවබෝධයෙන්. දුන් අර බල්ලා අර විදියට ඒදණ්ඩ උඩ ඉඳගෙන වල්ගය වන වනා ඉන්න අවස්ථාවෙදි ටිකකටවත් හිතුවොත් මේ මගේම ඡායාවය කියලා ඒ වැඩේ නවත්තලා ඉවත්වෙලා යනවා නෙ. අන්න ඒ වගේ මේ නාමරූපය පිළිබඳ අවබෝධය ගැඹුරට යන්න යන්න එතන බුදුරජාණන් වහන්සේ ප්‍රකාශ කරනව නාමරූපය හරියට අවබෝධ කරගත්තොත් විඤ්ඤාණය එතනම නිරුද්ධ වෙනවා කියලා. ඒ කිව්වේ ඒකයි.

මේවාට උපකාර වන ටික ඔන්න ඊළඟට අපි කියන්නේ. 'සංස්කාර'.

මේක මේ ධර්මයේ තිබෙන ගැඹුරුම පදයක්, සංස්කාර. මේ අපි කවුරුත් සංස්කාර කියල කියනවා. ඔය මරණ දන්වීම්වලත් සියලූ සංස්කරයන් අනිත්‍යයි කියනවා. නමුත් සංස්කාර මොකක්ද කියලවත් දන්නේ නැහැ. ඉතින් සංස්කාර කියන එකේ සාමාන්‍ය අර්ථය අපට හිතාගන්න පුළුවන් යමක් මවලා පාන්න උපකාර වන දේවල්. රැවටිලි ස්වරූපයේ දේවල්. ඔය නාට්‍යවල එහෙම, නාට්‍යවල පමණක් නොවේ දන් නම් මහා මාර්ගයේත් ඒක කෙරෙනවා. කෙනෙක් රවට්ටන්න උපකාරවන නොයෙකුත් විධියේ රැවටිලි, මායාකාරයා විජ්ජාකාරයා, කරන්නෙත් ඒ විධියේ දේවල්. නාට්‍යකාරයා කරන්නෙත් ඒ විදියෙ දෙයක්. නළුගනක් වේදිකාවට එන්න කලින් කොච්චර සැරසිලි දාලද එවන්නේ. අන්න ඒවාට අතීතයේ ඉඳලා කියනවා 'අංග සංස්කාර' කියලා. පාට ගාලා නොයෙකුත් විධියේ දේවල් ඔන්න ඔය සංස්කාර කියන පදයේ තියනවා. කෘත්‍රිම ස්වරූපයක්. රැවටිලි ස්වරූපයක්. සත්‍යයෙන් ඈත්වුනු ස්වරූපයක්. ඒක නිසා තමයි දන් පින්වතුන්ට එකතුකර ගන්න පුළුවන් අවිද්‍යාව, නොදන්ම නිසා අපි සංස්කාර ඇතිකර ගන්නවා. ඒ නොදනීම නිසා. අන්ධකාරය තුළ කෙනෙක් කොයි තරම් මුළාවකට පත්වෙනවද. මහකළුවර රාත්‍රියක සොහොන් පිට්ටනියක් ළඟින් යනකොට එන සිතුවිලි කොයි විධියේ දේවල්ද? අන්තිමට බලනකොට ආලෝකය ආව හැටියේ තේරෙනවා මේ බොරු මේ එහෙම් - පිටින්ම මම ඇතිකරගත්තු මතිභ්‍රම භ්‍රාන්තියක් පමණයි. ඇත්ත දෙයක් නෑ මෙතන. ඒ විධියේ තමයි ලෝකයාත්. අවිද්‍යා මහා ඝණ අන්ධකාරයේ ඉන්න ලෝකයාත් සිත තුළින් මවා ගන්නවා යම් මැවීම් සමූහයක්. ඒක තමා ඒ සංස්කාර වචනයේ තේරුම. පටිච්චසමුප්පාදයේ බුදුරජාණන් වහන්සේ දක්වන්නේ. මොනවද සංස්කාර? තුන් ආකාරයකින් දක්වනවා. සංස්කාර තුන් වර්ගයක් තියෙනවා. කාය සංස්කාර වචී සංස්කාර චිත්ත සංස්කාර. මේ සකස් කිරීම් කයිනුත් කරනවා වචනයෙනුත් කරනවා. සිතෙනුත් කරනවා. සිතෙන් කරනව කියන්නේ වේදනා සංඥා ආදියෙන් හදා ගන්නවා. වේදනා සංඥා ආදියෙන් වාත්තු කරගන්නවා. කයින් ඇතිකරන සංස්කරණ, වචනයෙන් ඇතිකරන සංස්කරණ. සිතෙන් ඇති කරන සංස්කරණ. දන් ටිකකට හිතලා බලන්න විජ්ජා දක්මක් ඇතිවනකොට ඒ මිනිහා කරන්නේ රැවටිල්ලක්. වේදිකාව උඩ. නමුත් ඒ බලන අය කට ඇරගෙන බලන්නේ මොකද ඒ රැවටිලිවලට රැවටිලා. ඒ කයින් කරන සංස්කරණ. එහෙම නැත්නම් නළුගනක් කරන නෘත්‍ය ආදිය අභිරූපන නාට්‍ය ආදිය ඒවා තුළින් හිතින් මවා ගන්නවා. ඒවා හා සම්බන්ධ වචන සත්‍ය හැටියට ගන්නවා. ඒවා පිළිබඳ වේදනා සංඥා වැරදි විධියට ග්‍රහණය කරනවා. ඔන්න ඔය සංස්කරණ.

එතකොට මෙන්න මේ සංස්කරණ වලින් පෝෂණය කරගත්තු එක්තරා විධියක රඟපෑමක් එහෙම නැත්නම් දෙපිලක් වෙලා බෙදිලා කරන තරඟයක් වැනි දෙයක් තමයි මේ පැවැත්ම කියලා කියන්නේ. ඒකයි විඤ්ඤාණයයි

නාමරූපයයි අතර. තවත් විධියකින් කියනවා නම් දියසුළියක් වගේ. දිය සුළියක් හැදෙන්නේ කොහොමද? මොනයම් හේතුවක් නිසා හෝ දියවැලක් ගලාගෙන යන ගඟින් වෙන්වෙලා ඉස්සරහට යන්න බලනවා. ඉස්සරහට යන්න බැරිවුනාම හැරෙන්න සිද්ධ වෙනවා. වටරවුමේ කරකැවෙන කොට ඊළඟට එතන ක්‍රමක්‍රමයෙන් ක්‍රමක්‍රමයෙන් චක්‍රයක් වගේ හැදෙනව. රවුමක් වගේ. ඒ රවුමේ පලුදෙකක්. දන් හිතාගන්න පුළුවන්. අර විඤ්ඤාණ පලුවයි හැරිලා එනකොට තියන නාමරූප පලුවයි. අන්න අර කියාපු පිළිබිඹුවම තමයි. එතකොට ඒ පලුදෙක තමයි අන්තිමට චක්‍රයක් වෙලා දියසුළියක් වුනාට පස්සේ ඊළඟට ඒකට අපි නමක් දමනවා කෙනෙකුගේ නමක් හැටියට පුද්ගලයෙකු හැටියට. මේ භවයේ සත්ත්වයෙක් හැටියට අපි සලකන ඒ හැම එකක්ම විඤ්ඤාණයත් නාමරූපයත් අතරයි තියෙන්නේ. ඒක බුද්ධ වචනයයි. මහණෙනි විඤ්ඤාණය ප්‍රත්‍යයෙන් නාමරූපය ඇතිවෙනවා. නාමරූප ප්‍රත්‍යයෙන් විඤ්ඤාණය ඇතිවෙනවා. මෙන්න මේ දෙක අතරෙයි ඉපදීම මැරීම දිරීම නැවත ඉපදීම ආදී මේ සියලුම සංකල්ප විතර්ක ආදිය මේ හැම එකක්ම තියෙන්නේ මෙන්න මේ දෙක අතරෙයි කියලා බුදුරජාණන්වහන්සේ ප්‍රකාශ කළා.

එතකොට මේ විඤ්ඤාණයත් නාමරූපත් අතර තියන ඒ කරකැවිල්ලේ අවසාන ප්‍රතිඵලයක් වශයෙන් ඒක සළායතනය තුළින් විහිදිලා යනවා. ආයතන ක්‍රියාත්මක වන්නෙත් අර අවිද්‍යාව තුළයි. මේකේ අනිත්‍යතාව නොදැකීම නිසා ඇසත් නිත්‍යයි කියල ගන්නවා. රූපයත් නිත්‍යයි කියල ගන්නවා. ඒ දෙක එකතු වුනාහම ඇතිකර ගන්නා විඤ්ඤාණයත් නිත්‍යයි කියල ගන්නව. ඒක තුළ ඇතිවන ස්පර්ශයත් නිත්‍යයි කියල ගන්නව. ඒ ස්පර්ශය නිසා ඇතිවන වේදනාවත් නිත්‍යයි කියල ගන්නව. අන්න එහෙම ගත්තු අවස්ථාවේ අන්තිමට ප්‍රතිඵලයක් වශයෙන් මේක බේරිලා බේරිලා ගිහිල්ලා මේ මගේ රූප ගොඩයි, මේ මගේ වේදනා ගොඩයි, මේ මගේ සඤ්ඤා ගොඩයි, මේ මගේ සංස්කාර ගොඩයි, මේ මගේ විඤ්ඤාණ ගොඩයි, කියල පංචඋපාදානස්කන්ධයක් ඇති වෙනව.

ඔන්න එතකොට තේරුම් ගන්න පුළුවන් අර නාමරූපය ඇතුළට අර විධියට පංචඋපාදානස්කන්ධය දාන්න බැහැ. නමුත් විඤ්ඤාණයත් නාමරූපයත් අතර කෙරෙන - පටිච්චසමුප්පාද විග්‍රහය අනුව කෙරෙන - ඒ සම්බන්ධය ඔවුනොවුන් අතර කෙරෙන තරඟයේ ප්‍රතිඵලයක් වශයෙන් තමයි අවසානයේ අපි අර පංචඋපාදානස්කන්ධයක් ගොඩනඟාගන්නේ. අන්න බුදුරජාණන්වහන්සේ පෙන්නුවා එතකොට හේතුප්‍රත්‍ය පිළිබඳ අවබෝධයත් ඒකට උපකාරවන මනසිකාරය මෙනෙහි කිරීම නිරන්තරයෙන් මෙනෙහි කිරීම තුළින් මේ නාමරූප ධර්මයන්ගේ යථාස්වභාවය වටහා ගත්තු අවස්ථාවේ විඤ්ඤාණය එතනම නිරුද්ධ වෙනවා. විඤ්ඤාණය කියන මායාව. මායාවේ ඇතුල් පැත්ත දැක්කහම එතන මායාවක් නැහැ. අන්න

ඒ වගේ තමයි විඥාණය මායාවක් නම්, ඒක සත්‍ය දෙයක් නොවේ නම් ඒකෙ යථා ස්වභාවය ප්‍රඥාවේ ආලෝකයෙන් මතුවුන අවස්ථාවේ ඒක නිරුද්ධ වෙනවා. නමුත් ඒකටයි ලෝකයා බය. ඒකටයි ලෝකයා බය. නැවැත්ම කියලා ගත්තේ ඒකයි. අන්න එතනයි. නමුත් ඒකමයි බුදුරජාණන් වහන්සේ දක්වන්නේ නිවන හැටියට. ඉපදීම දුකක් නම් ඉපදීම නැතිවුන තැන ඒක ආයි ලෝකයක් නොවේ. ඉපදීම නැතිවුනේ මෙතනමයි. ඉපදීම කියලා ගත්තේ අන්න අර කියාපු දෙකේ වැරදි දියසුළිය නිසාමයි. එතකොට ඒක නතරවුන තැනයි අපි මේ නිවන කියලා කියන්නේ. ඒක අවසාන ප්‍රතිඵලය. සාමාන්‍යයෙන් අර බුදුරජාණන් වහන්සේ පංචඋපාදානස්කන්ධය කියල කියන්නේ මේක තනිකර දුකක්. මේ පැවැත්ම දුකක් කියල කීවේ අර දෙකේ සට්ටනයම - එහි ප්‍රතිඵලය දුකක්. එතකොට ඒක සංසිඳෙන්නේ අවබෝධය තුළිනුයි. අන්න ඒ අවබෝධය කරා යන මාර්ගයයි බුදුරජාණන් වහන්සේ මේ අද වැනි දවසක ධම්මචක්කප්පවත්තන සූත්‍රයෙන් ලෝකයාට ඉදිරිපත් කළේ.

එතකොට අර භවයට ඇලුම් කළ දෙවියන් බ්‍රහ්මයින් පවා වෙව්ලලා ගියේ, අර මෘගරාජයාගේ ශබ්දයට අනෙක් වනසතුන් වගේ වෙව්ල වෙව්ලා ගියේ, ලෝකයා තුළ තියෙන භව තෘෂ්ණාව නිසයි. බුදුරජාණන් වහන්සේ ධර්මය දේශනා කරන්න පසුබට වුනෙත් ලෝභකමකින්, මසුරුකමකින් නොවේ. මේක කොහොමද ලෝකයා තේරුම් ගන්නේ කියලයි.

මේ පින්වතුන් උත්සාහ ගන්න ඕනැ මේ වගෙ දවසක මෙන්න මේ ගැඹුරු ධර්මය තේරුම් ගන්න. වෑයම් කරන්ට ඕන. මේ සංසාරයෙන් මිදෙන්න බලාපොරොත්තු වෙනවා නම්. භවයේ ඉන්න නම් කැමති මේ කිසිවක් අවශ්‍ය නැහැ. එච්චරයි කියන්න තියෙන්නේ.

එතකොට මෙතෙක් මේ ඉදිරිපත් කළ ධර්මදේශනාවෙන් මේ පින්වතුන්ට යම් විදර්ශනාත්මක අවබෝධයක් ඇතිවුනා නම් තමතමන්ගේ බණ භාවනාවට ඒක උපකාර කර ගනිමින් මේ බුද්ධෝත්පාද කාලය ඉතාමත් දුර්ලභ අවස්ථාවක්. සසරින් මිදීමට මේ අවස්ථාවෙන් ප්‍රතිඵල ගැනීමට උනන්දු වනවා ඇති කියා බලාපොරොත්තු වෙනවා. මේ කුසල ශක්තිය මෙතෙක් මේ රැක්ක සීලය කළ භාවනාව මේ ඇසූ බණ තමන්ගේ මේ ජීවිතය තුළ දීම සෝවාන් සකදාගාමී අනාගාමී අර්හත් කියන මාර්ගඵල ප්‍රතිවේධයෙන් උතුම් අමා මහ නිවන් සාක්ෂාත් කර ගැනීමට උපනිශ්‍රය වේවා කියා ප්‍රාර්ථනා කරගන්න. ඒ වගේම මේ භවයේ යම්තාක් සත්ත්ව කෙනෙක් සිටිනවා නම් දිව්‍ය බ්‍රහ්මයින් ඇතුළු ධර්ම දේශනාමය, ධර්මශ්‍රවණමය, කුසලය අනුමෝදන් වීමට, ඒ හැම කෙනෙක්ම අනුමෝදන්වීම තුළින් උතුම් අමා මහ නිවනින් සැනසෙත්වා කියා ප්‍රාර්ථනා කරගන්න. මේ ගාථා කියන්න.

"එත්තාවතාච අම්හෙහි ................"

## 38 වන දේශනය (පහන් කණුව ධර්ම දේශනා අංක 113)

"නමො තස්ස භගවතො අරහතො සම්මා සම්බුද්ධස්ස"

පක්කොදනො දුද්ධඛීරො හමස්මි -(ඉති ධනියො ගොපො)

අනුතීරෙ මහියා සමානවාසො

ඡන්නා කුටි ආහිතො ගිනි

අථ චෙ පත්ථයසි පවස්ස දෙව

අක්කොධනො විගතඛීලො හමස්මි -(ඉති භගවා)

අනුතීරෙ මහියෙකරත්තිවාසො

විවටා කුටි නිබ්බුතො ගිනි

අථ චෙ පත්ථයසි පවස්ස දෙව

-ධනිය සූ. සුත්ත නිපාත.

සැදැහැවත් පින්වතුනි,

ධනසම්පත්තිය නිසා ඇතිවන මාන්නය ධර්මයේ හඳුන්වලා තියෙන්නේ භෝගමදය නමිනුයි. භෝග මදයෙන් මත්වුනාම කෙනෙකුට ලෝකය සුරක්ෂිත තැනක් හැටියටයි පේන්නේ. ඕනෑම උපද්‍රවයක් භවභෝග සම්පත්තිය තුළින් ජයගන්න පුළුවන්ය කියන සර්වශුභවාදී දෘෂ්ටියකට පවා කෙනෙක් නැඹුරු වෙනවා. ඒ වගේ දෘෂ්ටියක් ගත්තු මහා ධනවත් ගෝපාල ගව හිමියකුට බුදුරජාණන් වහන්සේ ධර්මයෙන් කළ අභියෝගයක් සුත්ත නිපාතය නමැති ධර්ම ග්‍රන්ථයේ ධනිය සූත්‍රයේ සඳහන් වෙනවා. ඒ ධනිය සූත්‍රයේ මුල් ගාථා දෙකයි අපි අද මාතෘකාව හැටියට තැබුවේ.

ධනිය කියන නම ඇති මහ ධනවත්ත ගෝපාල ගවහිමියෙක් තිස්දාහක විතර ගව රැලක් ඇතිව බුද්ධ කාලයේදී විදේහ රටේ ජීවත් වුනා. ගව හිමියකුට අවුරුද්දේ හැමදාම එකතැනම ජීවත් වෙන්න ලැබෙන්නේ නැහැ. ගවයින්ගේ ආහාර ප්‍රශ්නය නිසා. සාමාන්‍යයෙන් ඒ විධියේ විශාල ගවරැලවල් සිටින ගව හිමියන් වර්ෂාකාලය ගංගා ආශ්‍රිත උස්බිම් ප්‍රදේශයක ගතකරනවා ගවහල් ආදිය හදාගෙන. අනික් මාස අටේදී ගංතීරයක හරි පොකුණු තීරයක හරි ගවයින්ට හොඳට තණකොළ වතුර ලබාගන්න

පුළුවන් ප්‍රදේශයක ජීවත්වෙනවා. ඉතින් මේ ධනිය ගෝපාලයත් මහාමහී කියන ගඟ මුදට වැටෙන හරියේ එක්තරා කුඩා දූපතක වාසස්ථානය හදාගෙනයි ජීවත් වුනේ. අවුරුද්දේ අටමාසයක් එහෙ ගතකළා. ඊළඟට ඔන්න වර්ෂා කාලය එනකොට, ඒකට නිමිති පහළවෙනකොට, මේ ධනිය ගෝපාලයා ඒ ගංතෙරම තියන උස්බිමකට ගිහිල්ලා ඒ ගවයිනුත් අරගෙන ගවහල් එහෙම හදාගෙන නිවාසයක් එහෙම සකස්කරගෙන ඔන්න වර්ෂා කාලයට සුදානම් වුනා. ඒ කටයුතු ඔක්කොම ඉවරවෙනකොට හතරවටින් වැහිවළාකුළු මුදුන් වුනා. ඉතින් ධනිය ගෝපාලයා තමන්ගේ පිරිසට ආහාරත්, ගවයින්ට ආහාරත්, දර ගිනි ආදිය හැම එකක්ම සුදානම් නිසා බොහොම සතුටු සිත් ඇතිව ඇඳේ හන්සිවෙලා මෙන්න මේ විධියේ ප්‍රීති ගාථාවක් - උදාන ගාථාවක් - ප්‍රකාශ කළා.

පක්කොදනො දුද්ධඛීරො හමස්මි
අනුතීරෙ මහියා සමානවාසො
ඡන්නා කුටි ආහිතො ගිනි
අථ චෙ පත්ථයසි පවස්ස දෙව

මේ ගාථාව අපි සිංහලෙන් කියන්න උත්සාහ කළොත්, සිංහල කවියට නැගුවොත්, මේ විධියට කියන්න පුළුවන්.

බත ඇත ඉදිලා කිරි ඇත දොවලා
මහි ගං තෙර වසනෙමි පිරිවරලා
ඇත ගෙයි වහලා ගිනි ඇත පිඹලා
වහිතොත් වැහැපන් වැඩ ඇත වැහැලා

බත ඇත ඉදිලා - කිරි ඇත දොවලා - මහිගංතෙර වසනෙමි පිරිවරලා, ඇත ගෙයි වහලා - ගිනි ඇත පිඹලා - වහිතොත් වැහැපන් වැඩ ඇත වැහැලා. ඒ කියන්නේ 'පක්කොදනො' කියල කියන්නේ දන් ආහාර බත් එහෙම උයලා ඉවරයි. 'දුද්ධඛීරො' දෙනුන්ගේ කිරි දොවලා ඉවරයි. ඊළඟට 'අනුතීරෙ මහියා සමානවාසො' මගේ සමාන අදහස් ඇති ඒ පිරිසත් එක්කයි මම වාසය කරන්නේ. 'ඡන්නා කුටි' මගේ නිවස, කුටිය හොඳට සෙවිල්ලලායි තියෙන්නේ. වැස්සට භය නැහැ. 'ආහිතො ගිනි' ගිනිත් දල්වලයි තියෙන්නේ. ඒ කාලයේ මේ වගේ තොවේ ගින්නක් අමාරුවෙන් දල්වා ගන්නේ. ලී දෙකක් ගටලා. එහෙම දල්වා ගත්තු ගින්න පිඹලා පිඹලා ආරක්ෂා කරගන්නවා. එතකොට ගිනිත් දල්වලා ඉවරයි. මේ ඔක්කොම සතුටු සිතින් කියන්නේ. 'ආහිතො ගිනි' ඒක නිසා 'අථචෙ

පත්ථයසි පවස්ස දෙව' වහිතොත් වහින්න. වැස්ස කැමති නම් වහින්න කියන එකයි. ඔය විධියට අභියෝග ගාථාවක් නැවත නැවතත් කියමින් හිටියා. වැස්සට අභියෝගයක්. ඕක බුදුරජාණන් වහන්සේ ජේතවනාරාමයේ ගන්ධකුටියේ ඉන්නකොට දිවකණින් ඒ ගාථාව ඇසුණා. ඊට හේතුව සොයලා බලනකොට පෙනුනා මේ ධනිය ගෝපාලයාටත් ඔහුගේ බිරිඳටත් මේ ශාසනයේ පැවිදිවෙලා රහත්වෙන්න තරම් හේතු සම්පත්තිය තියෙන බවත් තමන්වහන්සේ වැඩම කරලා ධර්මය දේශනා නොකළොත් ඊට පසු දවසේ මහගංවතුරකට අහුවෙලා මේ දෙන්නා නැතිවෙලා මරණයට පත්වන බවත්. මේක දැකලා බුදුරජාණන් වහන්සේ අහසින් වැඩම කරලා ඒතරම් යොදුන් ගණන් ඈත විදේහ රටේ ඒ ධනිය ගෝපාලයාගේ නිවසට ඉහළින් වැඩ ඉඳගෙන පිළිතුරු ගාථාවක් වදාළා. අර ධනියගේ ගාථාවට කැපෙන හැටියට.

ඒ ගාථාව තමයි අපි දෙවනුවට දැක්වුවේ.

අක්කොධනො විගතඛීලො හමස්මි
අනුතීරෙ මහියෙකරත්තිවාසො
විවටා කුටි නිබ්බුතො ගිනි
අථ චෙ පත්ථයසි පවස්ස දෙව.

මට නැත ක්‍රෝධය, මට නැත වෛරය
මහි ගං තෙර මම් වසනෙම් එකරැය
ඇත ගෙය ඇරලා ගිනි ඇත නිවලා
වහිතොත් වැහැපන් වැඩි ඇත වැහැලා

'අක්කොධනො' කියල කියන්නේ මා තුළ ක්‍රෝධයක් නැත. 'විගතඛීලො' ඛීල කියල කියන්නේ කුඤ්ඤය. ඒ අදහසින් දක්වන්නේ ද්වේශය තරහ කියන එක කාගෙ හරි හිතේ ඇතිවුනාම ඒක ඇනුණ කුඤ්ඤයක් වගේ. වෛරය නැති බවයි එතන ප්‍රකාශ කරන්නේ. මා තුළ ක්‍රෝධය නැත. වෛරය නැත. ඊළඟට 'අක්කොධනො විගතඛීලො හමස්මි අනුතීරෙ මහියෙකරත්තිවාසො' මහිගඟ තීරයේ එක රැයයි මා ගෙවන්නේ. එක රැයයි වාසය කරන්නේ. ඊළඟට 'විවටා කුටි' ධනිය කීවේ තමන්ගේ ගෙය සෙවිලි කරලයි කියල. බුදුරජාණන් වහන්සේ ප්‍රකාශ කරනවා මගේ ගෙය ඇරලා, විවෘත කරලා, වහලක් නැහැ ගෙට. 'නිබ්බුතො ගිනි' මගේ ගිනි නිවිලා. 'අථචෙ පත්ථයසි' ඉතින් කැමති නම් වැහැපන්. වැඩක්

ඇතොත් වැහැපන් කියල බුදුරජාණන් වහන්සේත් වැස්සට අභියෝගයක් කළා.

නමුත් මෙතන ගැඹුරු අදහසක් තියෙන්නේ. දැන් අර ධනිය ඥානවන්ත නිසා ධනියට තේරෙන විධියටයි ප්‍රකාශ කළේ. දැන් මේ විධියේ ගාථාවල එක්තරා සාහිත්‍යමය අගයකුත් තියනවා. ඒක සම්පූර්ණයෙන් දෙන්න අමාරුයි සිංහලට නැඟුවත්. බුදුරජාණන් වහන්සේගේ දේශනා ශෛලියේ අංගයක් තමයි ඥානවන්ත අයට ධර්මය දේශනා කරනකොට ඇතැම්විට එකම වචනය අර්ථ දෙකකින් ප්‍රකාශ කරනවා. එහෙම නැත්නම් එකම ආකාරයෙන් ශබ්ද වෙන වචන යොදනවා. ඒ අවධානය යොමුකරන්න. ඒකට කියනවා 'ප්‍රාස රසය' කියලා. මේ ගාථාවල ප්‍රාස රසය තියෙනවා. අර ධනිය 'පක්කොදනො - දුද්ධඛීරො' කිව් එකට බුදුරජාණන් වහන්සේ 'අක්කොධනො විගතඛීලො' කිව්වා. ඒ විධියටයි යන්නේ. ගාථා පෙලක් තියෙනවා. ඒ ගාථාවල ඒ ලක්ෂණය තියනවා. මෙතන මේ ප්‍රකාශ කරන්නේ අර කුටිය ඇරලයි කියල කියන එකේ අදහස දැන් කෙලෙස් උපමා කරලා තියෙනවා වහළකට. කෙලෙස් වලින් වැහිලනේ තියෙන්නේ. එතකොට ඒ කෙලෙස් නමැති වහළ ඉවත් කරලයි ඉන්නේ. මගේ කුටිය ඇරලා. ධනියගේ කුටිය වහලා තියෙනවා. සෙවිලි කරලා තියෙනවා කියලා එයා භය නැතිව කියනවා. බුදුරජාණන් වහන්සේ කියනවා මගේ කුටිය ඇරලා. ඒ වගේම ධනිය ගින්න දල්වා ගෙන තියෙනවා කියලා ඒකට පිඹ පිඹ ගින්න පවත්වා ගෙන ඉන්නවා කියලා කියනවා. බුදුරජාණන් වහන්සේත් කියනවා මගේ ගිනි ඔක්කොම නිවාගෙනයි ඉන්නේ. 'ගිනි ඇත නිවලා'. ඒක නිසා වහිතොත් වැහැපන්, වැඩක් ඇතිනම් කියලා බුදුරජාණන් වහන්සේ වැස්සට අභියෝග කරනවා. වැස්සට විතරක් නොවේ ධනියටත් අභියෝග කළා. **ධනියගේ ධනාත්මක ගාථාවට බුදුරජාණන් වහන්සේ ධර්මාන්විත ගාථාවකින් පිළිතුරු දුන්නයි කියලයි අපිට ගන්න තියෙන්නේ.** ඉතින් මෙතනින් කෙළවර වුනේ නැහැ.

ඊළඟට ධනිය ගෝපාලයා තවත් ගාථාවක් වදාළා. ඊටත් බුදුරජාණන් වහන්සේ අර වාගේම ධර්මානුකූල ගාථාවකින් පිළිතුරු දුන්නා. ඔය විධියට තවත් ගාථා පහක් දක්වෙනවා ඒ සූත්‍රයේ. නමුත් අපි මේ අවස්ථාවේ කවි බණක් කියන්න බලාපොරොත්තු වෙන්නෙ නැහැ. මේ පින්වතුන්ට ඒ ගාථාවල අර්ථය පමණක් ප්‍රකාශ කරලා වෙනදා වගේ යම්කිසි ධර්ම විවරණයක් කරන්නයි අදහස් කරන්නේ.

ඒ අනික් ගාථාවල සාමාන්‍ය අර්ථය විතරක් ගත්තොත් ඔන්න දෙවෙනි ගාථාවේදී ධනිය තමන්ගේ ගවරැලේ ආරක්ෂාව පිළිබඳව ප්‍රකාශ කරනවා

මේ විධියට. කණ මැස්සන්, මදුරුවන් ආදිය මේ ප්‍රදේශයේ නැහැ. උස්ව නැගුණු හොඳට වැඩුනු තණකොළ ඇති ඒ දෙනිවල - දෙනිකඩ බිම්වල මගේ ගවයින් හැසිරෙනවා. ඔවුන්ට මහ වැස්සක් වුනත් දරාගන්න පුළුවන්. ඒකට වුනත් ඔරොත්තු දෙන ගවයින්. වැස්ස ඉතින් කැමති නම් වැහැපන්. ඔන්න දෙවෙනි ගාථාවේ අර්ථය.

ඒකට බුදුරජාණන් වහන්සේ දෙන පිළිතුර මේ විධියයි. "මගේ පහුර මම හොඳට සකස්කරලා බැඳලා ඉවරයි. මම මේ සැඩ වතුරෙන් එතර වෙලා පරතෙරට ගිහිල්ලයි ඉන්නේ. මට දැන් පහුරෙනුත් ඇති වැඩක් නැහැ. වැස්ස කැමති නම් වැහැපන්". අන්න එතනත් අපට තෝරන්න වෙනවා. අර පහුර කියලා කියන්නේ ආර්ය අෂ්ටාංගික මාර්ගයයි. ඒක ධර්මයේ සඳහන් වෙලා තියනවා. ආර්ය අෂ්ටාංගික මාර්ගය පහුරකට උපමා කරලා තියෙනවා. ඉතින් ඒ වගේම ධර්මයේ සඳහන් වෙනවා ඒ ආර්ය අෂ්ටාංගික මාර්ගය හුදෙක් එතරවීම පිණිස මිසක් ග්‍රහණය පිණිස නොවේ. "නිත්ථරණත්ථාය නො ගහණත්ථාය" කියල. අන්න ඒකයි බුදු පියාණන් වහන්සේ ප්‍රකාශ කළේ මෙතනදී මම දැන් පහුරෙන් එතර වෙලා ඉවරයි. මට දැන් පහුරෙනුත් වැඩක් නැහැ. මේක එතරවීම සඳහා පමණක් කියන එක. ඒ තරම් ගැඹුරු අර්ථයක්. බුදුරජාණන් වහන්සේ දෙන පිළිතුරු වල තියෙන්නේ ධර්මානුකූල අදහස්. ඔන්න එතකොට ඒ දෙවෙනි ගාථාව. ඔන්න ඊළඟට ධනිය ගොපල්ලා තමන්ගේ ගෙදර දොරේ පරිසරය ගැන උදම් අනනවා. මගේ ගොපලුලිය, මගේ භාර්යාව මට බොහොම කීකරුයි. අනිත් පරපුරුෂයන්ට ලොල්වීම් ආදී ඒ දුශ්චරිත නැහැ ඇය තුළ. අපි බොහොම දීර්ඝකාලයක් ප්‍රියමනාප අන්දමින් එකට ජීවත්වෙලා තියෙනවා. ඇය පිළිබඳ දෝෂයක් පාපයක් ගැන මට අහන්න ලැබිලා නැහැ. ඒක නිසා වැස්ස කැමති නම් වැහැපන්.

ඔන්න ඊළඟට බුදුපියාණන් වහන්සේ ප්‍රකාශ කරන පිළිතුරු ගාථාවේ මොකක්ද තියෙන්නේ? මගේ සිත මට හරි වසඟයි. මට කීකරුයි. මගේ සිත කෙලෙස් වලින් මිදිලයි තියෙන්නේ. මැනවින් දමනය කරලයි තියෙන්නේ. බොහොම දීර්ඝ කාලයක් මගේ හිත මම වඩලයි තියෙන්නේ. භාවනා වශයෙන්.

ඔන්න ඊළඟ ගාථාවේ ධනිය කියනවා මම කාටවත් බැලමෙහෙ කරලා ජීවත්වන්නේ නැහැ. මගේම වැටුපෙනුයි ජීවත් වෙන්නේ. ඒ වගේම මගේ පුත්‍රයිනුත් දරුවනුත් මා වගේම නිරෝගිව හොඳින් ඉන්නවා. වැස්ස කැමති නම් වැහැපන්.

එතකොට බුදුරජාණන් වහන්සේ එතෙන්දි ප්‍රකාශ කරනවා. මමත් කාටවත් බැලමෙහෙකම් කරලා ජීවත් වන්නේ නැහැ. මගේ වැඩකොටස මම කරලා ඉවරයි. මම කාගෙවත් වැටුපක් බලාපොරොත්තු වන්නේ නැහැ. මම නිර්දාසව - දාසත්වයෙන් තොරව - වැටුපක් බලාපොරොත්තු නැතුව මුළු ලෝකයේම හැසිරෙනවා. මට වැටුප් වලින් වැඩක් නැහැ. ඒක මේ පින්වතුන්ට තේරුම් ගන්න පුළුවන්. බුදුරජාණන් වහන්සේ ඒ සියලු කෙලෙස් නැතිකරලා නිසා බොහෝ තැන්වල සඳහන් වෙනවා 'මා ණය නැතිව හැසිරෙනවා' කියල. ලෝකයාට යම් ණයක් තියෙනවා නම් කෙලෙස් සහිතව ආහාර ගැනීමෙන්, සිව්පසය වැළඳීමෙන්, ඒ ණයෙන් නිදහස් වෙලා. ඉතින් ආයිත් අමුතු වැටුපක් ඕනෑ නැහැ බුදුරජාණන් වහන්සේට. බුදුරජාණන් වහන්සේට වැටුප් වලින් කම් නැත කිව්වේ ඒකයි.

ඔන්න ඊළඟට ධනිය තමන්ගේ ගවසම්පත ගැන විස්තර කරනවා. මට ඉන්නවා වහු නාම්බන්. මට ඉන්නවා දෙනුන්ගෙන් කිරිබොන වහුපැටවුන්. මට ඉන්නවා ගැබිණි දෙන්නු. මට ඉන්නවා මේ ගවරැල ගෙනයන්න පුළුවන් එළදෙන්නු. මට ඉන්නවා මගේ ගවරැල පාලනය කරන, 'ගවම්පති' වෘෂභයන් ගවරැළේ නායකයින් සිටිනවා. වැස්ස ඉතින් කැමති නම් වැහැපන්.

ඔන්න බුදුරජාණන් වහන්සේ ඊට දෙන පිළිතුර බලමු. මොකක්ද දෙන පිළිතුර? "මට වහු නාම්බන් නෑ, මට කිරිබොන වහුපැටව් නෑ, මට ගැබිණි දෙන්නු නෑ, මට ගවරැල ගෙනයන දෙන්නු නෑ, මට ගවම්පති වෘෂභයෝ නෑ." වැස්ස කැමති නම් වැහැපන්." ඕකෙන් තේරුම් ගන්න තියෙන්නේ ගිහියාට තියෙන සම්පත තමයි - ඒක ධර්මයේ දක්වන්නේ - 'අත්ථි සුඛය' 'ඇත-ඇත-ඇත' කියන එක තමයි ගිහියට මාන්නය. මාන්නය ගන්න තියෙන දේවල්. මට මේ මේ දේවල් ඇත කියලා. නමුත් පැවිද්දට, නෙක්ඛම්මයේ රසය විඳින පැවිද්දට, 'නැතිකම' තමයි සැපය. අන්න ඒකයි **බුදුරජාණන් වහන්සේ උදන් ඇනුවෙ 'නැත නැත' කියලා.** ධනිය උදන් ඇනුවේ 'ඇත - ඇත' කියලා. ඔන්න දන් තේරුම් ගන්න පුළුවන් වෙනස. ඉතින් ඒ ගාථාව.

ඔන්න ඊළඟට ධනිය නැවතත් කියනවා ඊත් අර ගවයින් හා සම්බන්ධ කාරණයක්. ගවයින් බැඳීමට කණු හොඳ හැටි ශක්තිමත්ව හිටවලා තියෙනවා. මුදු තණ කියන මුඤ්ජ කියලා කියන තණ වර්ගයෙන් කළ අලුත් රැහැන් වලින් ගවයින් බැඳලා සිටිනවා. කිරි බොන වස්සන්ටවත් ඇදලා ඒවා කඩාගන්න බැහැ. වැස්ස කැමති නම් වැහැපන්.

ඉතින් ඒකට බුදුරජාණන් වහන්සේ ප්‍රකාශ කරනවා මම සියලුම

බන්ධන කඩාගත යන වෘෂභයකු වගේ මේ සසර බැම් බිඳගෙන ගිහිල්ලා තියෙන්නේ. භව සංයෝජන බිඳගෙන ගිහිල්ලා තියෙන්නේ. එහෙම නැත්නම් තවත් උපමාවක් කියනවා. දිරාගිය වැලක් කඩාගත්තු මහා ඇත්රාජයකු වගේ මේ ඔක්කොම බන්ධන කඩලා විමුක්තවයි සිටින්නේ. නිවන ලබාගෙනයි සිටින්නේ. ඒ විධියට ප්‍රකාශ කළා.

ඉතින් මේ ගාථා ඔක්කොම ඇහුවට පස්සේ මෙතැන ඊළඟට සඳහන් වන්නේ බුදුරජාණන් වහන්සේ තමන් වහන්සේ පෙනීසිටියා කියලා. ඊළඟට ඒ ධනිය ඇතුළු පවුලේ අය දකින්න ඇති බුදුරජාණන් වහන්සේ. ඔන්න ඊළඟට ඒ එක්කම මහා මේඝ ගර්ජනා සහිත වර්ෂාවක් කඩා හැලුනා. ධනියත් ඊළඟට තමන්ගේ ශ්‍රද්ධාව ප්‍රකාශ කරනවා බුදුරජාණන් වහන්සේට. අපට භාග්‍යවතුන් වහන්සේ දකින්න ලැබීම විශාල ලාභයක්. භාග්‍යවතුන් වහන්සේ අපගේ ශාස්තෘන් වහන්සේ වන සේක්වා! අපි භාග්‍යවතුන් වහන්සේ සරණ යනවා. මමත් මගේ භාර්යාවත් භාග්‍යවතුන් වහන්සේගේ ශාසන බ්‍රහ්මචර්යාව රැකලා ජාති ජරා මරණ ආදී ඒ සසර දුකින් මිදෙනවා කියලා ප්‍රතිඥා කළා. ඉතින් ඔන්න ඒ ගාථා පෙළ එතනින් ඉවර වෙනවා.

ඊළඟට අවසාන නිගමන ගාථාව වශයෙන් ඒ සූත්‍රයේ සඳහන් වෙනවා වෙන තැන්වලත් සඳහන් වන ගාථා දෙකක්. ඇත්ත වශයෙන් අපට හිතාගන්න තියෙන්නේ මේ නාට්‍යාත්මක විධියට දක්වන මේ ගාථා පෙළට නිගමන ගාථා එහෙම නැත්නම් අවසාන සිද්ධාන්ත වශයෙන් දක්වෙන ගාථා දෙකක් වෙන තැනකින් උපුටා ගෙන දාපු හැටියටයි පේන්නේ.

ඒ ගාථාවල අර්ථය - ඒක කලිනුත් අපි බොහෝ අවස්ථාවල මතක් කරලා තියෙනවා. ඒ ගාථා අර මාරයා බුදුරජාණන් වහන්සේට කළ අභියෝගයක්, එක් අවස්ථාවක. ඒත් අර කොටින්ම කියතොත් අර ධනාත්මක චින්තනය පිළිබඳ කථාන්තරයයි එතැනත් තියෙන්නේ. එතැන කියන්නේ-

නන්‍දති පුත්තෙහි පුත්තිමා
ගොමිකො ගොහි තථෙව නන්‍දති
උපධීහි නරස්ස නන්‍දනා
න හි සො නන්‍දති යො නිරූපධි

අර ධනියගේ දර්ශනයයි ඒ ගාථාවේ දක්වෙන්නේ. පුත්‍රයන් ඇති තැනැත්තා පුත්‍රයන් නිසා සතුටුවෙනවා. ගවයන් ඇති තැනැත්තා ගවයන් නිසා සතුටුවෙනවා. ඊළඟට 'උපධී හි නරස්ස නන්‍දනා' උපධි කියල

කියන්නේ අන්න අර විධියේ තමන්ගේ මමත්වය තහවුරු කරගන්න වස්තු සම්භාරයට, ධර්මයේ උපධි කියන වචනය යෙදෙන්නේ. අර අඹුදරුවන්, මිලමුදල් ධන වතුපිටි ආදී හැම එකක්ම උපධි නාමයෙන් හැඳින්වෙනවා. උපධීන් තිබීම මනුෂ්‍යයකුට සතුටට හේතුවක්. "න හි සො නන්දති යො නිරූපධි" ඒ වස්තු නැතිකෙනා සතුටු වෙන්නේ නැත, කියන ඔය අභියෝගය එක් අවස්ථාවක මාරයා බුදුරජාණන් වහන්සේට ඉදිරිපත් කළා. ඒ අවස්ථාවේ බුදුරජාණන් වහන්සේ වදාළා.

සොචති පුත්තෙහි පුත්තිමා
ගොමිකො ගොහි තථෙව සොචති,
උපධීහි නරස්ස සොචනා
න හි සො සොචති යො නිරූපධි

පුත්‍රයන් ඇති තැනැත්තා පුත්‍රයන් නිසා ශෝක කරනවා. ගවයන් ඇති තැනැත්තා ගවයන් නිසා ශෝක කරනවා. ශෝකයට පත්වෙනවා. 'උපධි' - අර කියාපු වස්තු සම්භාර අයිතිකරගෙන තියෙන දේවල් හැම එකක්ම කෙනෙකුට ශෝකයට හේතු වෙනවා. 'න හි සො සොචති යො නිරූපධි' - ඒ සියල්ල ඒ උපධීන් අතහැරලා නිරූපධි කියන නිර්වාණ තත්ත්වය ලබා ගත්තු තැනැත්තා - ඇත්ත වශයෙන්ම උපධි කියන එක ධර්මානුකූලව තෝරනවා නම් ඔය වතුපිටි ධනධාන්‍ය නොවේ ඊට වඩා ගැඹුරට යනවා. මේ දීර්ඝ සංසාරයේ අපි එක් රැස් කරගත්තු පංචඋපාදාන ස්කන්ධය. ගොඩගහගත්තු උපාදාන ස්කන්ධ පහ. රූප, වේදනා, සඤ්ඤා, සංස්කාර, විඤ්ඤාණ ඒවයි උපධි - ඒ ඔක්කොම අතහැරලා නිවන ලබාගත්තු තැනැත්තා ශෝක කරන්නේ නැත කියලා බුදුරජාණන් වහන්සේ ප්‍රකාශ කළා. ඒ ගාථාවත් මේ සූත්‍රයේ අගට දක්වනවා.

ඉතින් ඊළඟට මේ කතාන්තරය ඉවර වෙන්නේ මේ විධියටයි. බුදුරජාණන් වහන්සේ ජේතවනාරාමයට ආපහු අහසින් වැඩම කළ බවත් එතකොට අර දෙදෙනා ඇත්ත වශයෙන්ම ශාසනයේ පැවිදි වෙලා රහත් ව පිරිනිවන් පෑ බව කියවෙනවා. ඊළඟට ඒ ස්ථානයේ ඒ ගොපලු පිරිස ගොකුලංක විහාර කියන විහාරයකුත් ගොඩනඟලා ඒක ශතවර්ෂ ගණනාවක් ඉන්දියාවේ පැවතුන බවත් පොතපතේ සඳහන් වෙනවා.

එතකොට මේ තුළින් අපට ගන්න තියන පාඩම දැන් අපි බලමු. මේක විවරණයක් වශයෙන් බලනවා නම් පළමුවෙන්ම අපට කියන්න තියෙන්නේ කරුණු හෙළිකිරීම වශයෙන් ඈත අතීතයේ ධනසම්පත වශයෙන් සලකන කොට ගවයා තමයි මිම්ම. මිලමුදල් පිළිබඳ මිම්ම. ඒක නිසා තමයි ඔය

ධර්මයේ සඳහන් වෙන්නේ 'නත්ථි ගොසමිතං ධනං' ගවයා හා සමාන ධනයක් නැත. ඒ එඬේර යුගයේ එහෙම අතීතයේ මිල මුදල් හැටියට සැලකුවේ ගවයා. ඉතින් ගවසම්පත ලොකු දෙයක් නිසා තමයි අච්චර අර උදන් ඇනුවේ. මේ තරම් තිස්දාහක් ගවයින් ඉන්නවා මම තමයි ලොක්කා ධනවතා කියලා උදන් ඇනුවේ. කිසි බයක් නැහැ කියලා වැස්ස වහින්න කියලා අභියෝග කළෙත් ඒකයි.

ඊළඟට දැන් මෙතන කියවෙන්නේ දූන් අර ධනධාන්‍ය වස්තුසම්භාර ඒ කාලයේ හැටියට බලනවා නම් ගවයින් ආදී ඒ හැම එකක්ම උපධීන්. දැන් මේ කාලයේ හැටියට බලනකොට උපධි හැටියට දැන් කවුරුත් දන්නවා මිල මුදල්, වතුපිටි තව නොයෙකුත් බැංකු ගිණුම්, ඉතුරුම්, සුරැකුම්, රක්ෂණ ආදී නානාවිධ වචන වලින් දැක්වෙන්නේ ඒ උපධි පිළිබඳවමයි. එතකොට ඒවා තමාට ආරක්ෂාව ලබා දෙනවා කියන දර්ශනයයි ලෝකයා තුළ තිබෙන්නේ. නමුත් මෙන්න මේ ගාථා මාලාව දිහා බලන කොට අපට පෙනෙනවා මේක හරියට නාට්‍යාත්මක විධියට 'උපධි' 'නිරුපධි' කියන දෙපක්ෂය අතර කෙරුන විවාදයක් වගේ. ධනිය උපධිවල අගය වර්ණනා කරන වාරයක් වාරයක් පාසා බුදුරජාණන් වහන්සේ නිරුපධි තත්ත්වයේ, නිවන් තත්ත්වයේ, නෛෂ්ක්‍රම්‍යයේ ආනිශංස පක්ෂය ප්‍රකාශ කළා. ඉතින් ඒක මේ කාලයට බොහොම ගැලපෙනවා. මොකද අපි දන්නවා දැන් බොහොම දෙනෙක් මේ තරම් විපත්තිකර යුගයක පවා ධනාත්මක චින්තනයට නැඹුරු වෙලා ඒ අනුව සුභවාදීව ලෝකය දිහා බලන්න පෙළඹෙනවා. **ඇත්තවශයෙන් කියනවා නම් ඔය ත්‍රිලක්ෂණය පවා අනිත්‍ය දුක්ඛ අනාත්ම කියන ත්‍රිලක්ෂණය පවා විකෘත කරලා තේරුම් කරන්න උත්සාහ කරනවා.** නමුත් අපි දන්නවා බුදුරජාණන් වහන්සේ දැක්වූ ඒ යථාර්ථය. ඒක අමතක කළොත් අර කවදා හෝ ඒ තැනැත්තාට දුකට පත්වෙන්න සිදුවෙනවා. යථාර්ථය වෙනුවට ඔය ධනවාදය අනුව ගිය හැම එකක්ම සුභ වශයෙන් දැකීම ඒක අන්තිමට කෙළවරවෙන්නේ සිහිමුළාව උමතුව - නොයෙකුත් මානසික විකෘත තත්ත්ව වලට පත්වෙලා. ඒකට හොඳ නිදර්ශන මේ පින්වතුන් දන්නවා. අර පටාචාරාව තමන්ගේ ප්‍රේමවන්තයත් එක්ක හදාගත්ත ඒ අනාගත සිහින ලෝකය බිඳ වැටෙන කොට පිස්සියක් වෙලා නිරුවතින් මහමඟ දිව්වා. ඒ වගේම කිසාගෝතමිය තමන්ගේ දරු සෙනෙහස නිසා ඇතිකර ගත්තු ඒ ලෝකය බිඳ වැටෙනකොට අර මළ දරුවා තුරුල් කරගෙන ගෙන්ගෙට බෙහෙත් සොයමින් ගියා. ඒ දෙදෙනාටම බුදුපියාණන් වහන්සේ පිහිට වුනේ යථාර්ථය මතක් කර දීමෙන්.

අපි ඒක නිසා කල්පනා කරන්න ඕනෑ. මේ තරම් ලෝකයේ දිනෙන් දිනම අහන්නට ලැබෙනවා ගං වතුර, සුනාමි, භූමිකම්පා, මහකුණාටු, ආදියෙන් ලෝකයේ වන විනාශයන්. ඒවා මධ්‍යයේ මේ සංසාර **'මෙරිගෝරවුමේ'** තවදුරටත් මේකේ කරකැවෙමින් ඉන්නවාද, මෙයින් බහිනවාද, කියන එක අපි තීරණය කරගන්නට ඕනෑ. බුද්ධෝත්පාද කාලය කියන්නේ අන්න අර සසර මෙරිගෝරවුමෙන් ඉවත්වෙන්න හොඳ අවස්ථාව. ඉවතට පැන ගන්න හොඳ අවස්ථාව. **ජාති ජරා ව්‍යාධි මරණ 'කොට-උඩයි' මෙරිගෝරවුම යන්නේ.** මේකේ පංචතූර්ය නාදය මැද්දේ විනෝදවෙමින් කරකැවෙමින් යනවා සුභවාදයක් අල්ලා ගෙන. නමුත් ඒ තුළින් අර නිවන ඈත් වෙනවා. ඒක නිසා අපි කල්පනා කරන්න ඕනෑ මෙන්න මේ ගාථා වලින් ගතහැකි පාඩම තමයි කිසිසේත් ඒ විධියේ උපධීන්ගෙන් ආරක්ෂාවක් ලබා ගන්න බැහැ කියන එක.

මාරයාගේ අභියෝග ගාථාවලට පිළිතුරක් වශයෙන් එක්තරා ප්‍රබල ගාථාවක් බුදුපියාණන් වහන්සේ තවත් අවස්ථාවක දේශනා කරලා තියෙනවා. මේ විධියට.

නභං චලෙය්‍ය පඨවිං චලෙය්‍ය
සබ්බෙපි පාණා ඉධ සන්තසෙය්‍යුං
සල්ලම්පි චෙ උරසි පකම්පයෙය්‍යුං
උපධීසු තාණං න කරොන්ති බුද්ධා

- මාර සංයුත්ත, සංනි.

අහස පැලුනත්, පොළව කම්පා වුනත්, මුළුලෝකයේ ඉන්න හැම සතුන්ම සන්ත්‍රාසයට පත්වුනත්, පපුවේ උලක් දාලා ඇද්දත්, බුදුවරු උපධීන් වල ආරක්ෂාවක් බලාපොරොත්තු වන්නේ නැහැ. උපධීන් වල පිහිටක් බලාපොරොත්තු වෙන්නේ නැත, කියල කියන්නේ අන්න අර නිරුපධි තත්ත්වයේ අගයයි එතන පෙන්නුම් කරන්නේ මාරයාට අභියෝගයක් වශයෙන්.

අපි ඒක අනුව කල්පනා කරන්න ඕනෑ - අන්න අර යථාභූත දර්ශනය. බුදුපියාණන් වහන්සේ ඉදිරිපත් කළ යථාභූත දර්ශනය අනුව අපේ ජීවිත හැඩගස්වා ගන්ට. මොකද බුදුපියාණන් වහන්සේ දක්වලා තියෙන්නේ මේවා විපරීත දෘෂ්ටි හැටියට. අනිච්චෙ නිච්ච සඤ්ඤා, අනිත්‍ය දේ නිත්‍ය හැටියට ගැනීම විපරීත දෘෂ්ටියක්. ඒක දෘෂ්ටියක් පමණක් නොවේ විපල්ලාස තුන් ආකාරයකින් දක්වනවා. සඤ්ඤා විපල්ලාස, චිත්ත විපල්ලාස, දිට්ඨි විපල්ලාස වශයෙන්. අනිත්‍ය නිත්‍ය හැටියම ගන්න සඤ්ඤාවත් විපරීතයි. අනිත්‍ය නිත්‍ය හැටියට අරගෙන හිතන සිතුවිල්ලත් විපරීතයි. අනිත්‍ය නිත්‍ය

හැටියට අරගෙන සලකන දෘෂ්ටියත් විපරීතයි. ඔය විධියට තුන් ආකාරයකින්ම අනිත්‍යය නිත්‍ය කියලා ගැනීම විපරීතයක් විපල්ලාසයක් හැටියට බුදුපියාණන් වහන්සේ දක්වලා තියෙනවා. ඒ වගේම තමයි 'අසුභෙ සුභ සංඥා' අසුභ දෙය සුභ හැටියට. මේ ශරීරය අසුභ බව කොච්චර හංගගන්න බැලුවත් ඒක එළිවෙනවා. සුභ දෘෂ්ටිය ලෝකයා තුළ තියෙන්නේ. මේ ගඳ ගහන වයෝවෘද්ධ අවස්ථාවේ, ලෙඩවන අවස්ථාවේ තමන්ටම පිළිකුල් වන අන්දමේ මේ ශරීරය සුභ හැටියට පෙන්වන්න ලෝකයා උත්සාහ ගන්නවා. සුභ හැටියට හිතාගන ඉන්නවා. සංඥාවක්, චිත්තයක්, දෘෂ්ටියක් ඇතිකරගෙන ඉන්නවා. නමුත් අන්න යථාර්ථය අසුභයි. ඒකයි 'අසුභෙ' සුභ හැටියට ගන්න එකක් ලෝකයා තුළ තියෙනවා. ඒ වගේම තමයි දුක් සහිත දෙය සැපය හැටියට ගන්නවා. ඇත්ත වශයෙන්ම මේ මුළු ශරීරයම හිතන්න තියෙන්නේ වේදනා ගොඩක් හැටියට. එක ඉරියව්වකින් අපිට ඉන්න බැහැ. ඉරියව්ව මාරුකිරීම තුළින් ශරීරයේ තියන දුක වහගන්නවා. ඉතින් ඒක දුක් සහිත දෙය සැප හැටියට ලෝකයා ගන්නවා. මේක ලවා සැප වින්දවන්න උත්සාහ කරවනවා. අන්න ඒකත් එතකොට විපරීත සංඥාවක්, චිත්තයක්, දෘෂ්ටියක්. ඊළඟට මේ ආත්ම සංඥාව. මේක ආත්ම හැටියට මමය, මගෙයි, මාය කියලා ගැනීම අර ධනියත් මේවා ආඩම්බරයෙන් කීවේ තමන්ගේ වස්තුව ගැන මේවා වෙනස්වන්නේ නැතැයි කියන අදහස. වැස්සට ආරාධනා කළා. වැස්ස තුළින් තමා ඔය ගංවතුර කොයි එකත් එන්නේ. නමුත් ඒකට ආරාධනා කළා භය නැතිව. එකේ තියන විපත්තිකර ස්වභාවය ගැන සලකන්නේ නැතිව ඒ හැම එකක්ම ආත්ම සංඥාව තුළින් මමය මාගේය කියලා දැඩිව ගත්තා. මට මේ ඔක්කොම අයිතියි. මට ඉන්නවා වහුපැටවුන්, කිරිබොන වහුපැටවුන් ඉන්නවා, දෙනුන් ඉන්නවා ඔය විධියට කියාගන ගියා මට ඉන්න අය. මට ඉන්න තරමටම තමා මම ලොකු හැටියට සලකන්නේ. නමුත් බුදුරජාණන් වහන්සේ නිරුපධි තත්ත්වයේ අගය ඒ වෙනුවට ප්‍රකාශ කළා. ඉතින් ඒකත් අපට හිතාගන්න පුළුවන්. ඒකත් අර විපල්ලාස විපරීත තත්ත්වය. විපරීත දර්ශනය විපරීත සිත, විපරීත සංඥාව ඉවත් කළ තැන තමයි නිවන තියෙන්නේ.

ලෝකයා එහෙම පිටින්ම දුවන්නේ අන්න අර සුභ වාදය ඔස්සේ. මේ දුක්ඛ සත්‍යයේ සුවිශේෂී ගැමක් ආරම්භ කරල තියෙනවා. මේ චතුරාර්ය සත්‍යයේ බුදුරජාණන් වහන්සේ ප්‍රකාශ කරන්නේ සැකෙවින් කියතොත් මේ පංච උපාදානස්කන්ධයම රූප, වේදනා, සඤ්ඤා, සංඛාර, විඤ්ඤාණ කියන උපාදාන ස්කන්ධ පහම තනිකර දුකක් හැටියටයි. සරල සමීකරණයක් හැටියටයි ධර්මයේ දක්වලා තියෙන්නේ. නමුත් බොහොම දෙනෙක් උත්සාහ

කරනවා මේ දුකක් සත්‍යය මේක අඳුරු වැඩියි. ටිකක් හැඩකර ගන්න ඕනෑ මේක සුදු කරගන්න ඕනෑ කියල ඒ විධියට උත්සාහයක් ගන්නවා සුභවාදීව. ඉතාම අඥාන ප්‍රයත්නයක්. ඒ තුළින් බොහෝ දෙනා ඒ අනුවර්තනකම නිසා ඊළඟට කරන්නේ මොකක්ද පුබෝජපභෝගී ජීවිත රටාවක් තුළ අතරමං වෙනවා. ඒ එක්කම ඒවායේ තියෙන ආදීනව පක්ෂය ගැන කල්පනා කරල බලනව නම් සමාජයට ආත්මාර්ථකාමීත්වය, තරඟකාරීත්වය, ඊර්ෂ්‍යාව, මිථ්‍යාආජීවය වැරදි ජීවන මාර්ග ඔවාට ඉඩ ලැබෙනවා අන්න අර ධනාත්මක දර්ශනය තුළින්. මේ ධනවාදීව සුභවාදීව ලෝකය දිහා බැලීම තුළින් තමන් කොහොම හරි අනික් කෙනා පරදවලා හරි, මරලා හරි අන්න අර කියාපු මමත්වය කැපී පෙනෙන ආකාරයට ඒ ධන ඔස්සේ දිව්ල්ලයි තියෙන්නේ.

නමුත් ධර්මයේ දක්වෙන්නේ වෙන ධන සංකල්පයක්. ඒ ධර්මයේ දක්වෙන ධන සංකල්පයයි බෞද්ධයින්ට අයිති. ඒකට කියන්නේ ආර්ය ධන කියලා සද්ධා ධනං සීලධනං ඔය විධියට ධන හතක් හැටියට සමහර තැන්වල දක්වනවා. සද්ධා ධනං, සීලධනං, හිරිඔත්තප්පියං ධනං - සුත ධනංච, චාගො ච, පඤ්ඤා වෙ සත්තමං ධනං කියලා සප්ත ආර්ය ධන හැටියට දක්වලා තියෙනවා. තවත් තැනක ආර්ය ධන පහක් හැටියට දක්වලා තියෙනවා. ඒව ගැන මේ පින්වතුන් නිතර නිතර අහලා තියනවා. ශ්‍රද්ධාව, සීලය, සීලය රැකීමට උපකාර වන පවට ඇති ලැජ්ජාව සහ භය, ඊළඟට සුත, ධර්ම ඥානය, පරිත්‍යාග ගුණය, අතහැරීම, ඊළඟට ප්‍රඥාව මේවයි නියම ධන. ඒ ධනය අපි මතුකර ගන්න ඕනෑ. අපේ ආර්ය ධනාත්මක චින්තනයටයි අපි නැඹුරු වෙන්න ඕනෑ. ලෝක සම්මත ධන වාදයට නොවේ. අපි හැකි සංඥාව ඇතිකර ගන්න ඕනෑ මේ ධන ළංකර ගැනීමටයි. මොකද ශ්‍රද්ධාව ගැන කියලා තියෙනවා 'සද්ධීධ විත්තං පුරිසස්ස සෙට්ඨං'. ඔය ආලවක සූත්‍රයේ යකෙක් පවා පිළිගත්තා - ආලවක කියන යකා පවා පිළිගත්තා - මොකක්ද? ශ්‍රද්ධාව තමා පුරුෂයකුට තියන ශ්‍රේෂ්ඨම ධනය. එතකොට ඒ යකත් පිළිගත්තා වූ සත්‍යය දැන් බොහෝ දෙනාට පිළිගන්න බැරිවෙලා තියෙනවා. ශ්‍රද්ධාව තමයි ලෝකයට තියන වටිනාම වස්තුව. මොකද ශ්‍රද්ධාව ඇති තැන තමා අනිකුත් ඒ නිවනට අදාළ සියලුම ගුණ ධර්ම රැස්වෙන්නේ.

ඒ වගේම අනික් අතින් අග හරියෙන් බැලුවොත් 'පඤ්ඤා නරානං රතනං' මනුෂ්‍යයින්ට තියන ලොකුම රත්නය වටිනාම මැණික තමා ප්‍රඥාව. එතකොට ප්‍රඥාව කරා යන - තමන්ගේ මේ සංසාර විමුක්තිය සාදා දෙන උත්තරීතර විදර්ශනා ප්‍රඥාව කරා යන - මාර්ගය තමා මේ ධර්ම මාර්ගය. මේ ධර්මානුකූල චින්තනය අනුව අර කියාපු ධනාත්මක

චින්තනය වෙනුවට අපි මතුකරගන්න ඕනෑ ධර්මානුකූල චින්තනයයි. මෙන්න මේ ධන සංකල්පය සිහිපත්කරගෙන අපි හිතාගන්න ඕනෑ අර සමාජයේ නානාවිධ ඒ ඒ කාලවල මිථ්‍යාදෘෂ්ටීන් මතුවෙනවා. සත්‍යය වසන් කිරීමට. නොයෙකුත් ආත්මාර්ථකාමී පරමාර්ථ මුල් කරගෙන වෙන්න පුළුවන්. ඒවාට බොහෝදෙනා ඇදිලා යනවා. මේ තරම් පැහැදිලිවම ලෝකය එන්න එන්නම විනාශ මුඛයට යන අවස්ථාවේ අවසාන අවස්ථාව හැටියට සළකන්න ඕනෑ- කොයිතරම් දුර්ලභද මනුෂ්‍ය ආත්ම භාවය. ඒ වගේම දුර්ලභයි බුද්ධෝත්පාද කාලයේ ලබාගන්න මනුෂ්‍ය ආත්ම භාවය. එතකොට තිරිසනත් ජීවත් වෙනවා. තිරිසනත් යම් කිසි ජීවිතයක් ගත කරනවා. නමුත් තිරිසනාට නැහැ ධර්මය කියල දෙයක්. තිරිසනා ඒ ජීවිතයට අදාළ ආහාර, නිද්‍රා, භය, මෛථුන කියලා කියන අතීතයේ සෘෂිවරුන් පවා දක්වපු ආකාරයට ආහාරය, නින්ද, භය, මෛථුන සේවනය ආදිය ඒ මනුෂ්‍යයාටත් තිරිසනුන්ටත් පොදුයි. නමුත් ධර්මයයි මනුෂ්‍යයින්ට විශේෂ. ඒ ධර්මය තමයි මනුෂ්‍යයින් වෙන්කරල දක්වන ලක්ෂණය.

ඒක නිසා ධර්මනුකූල චින්තනය අනුව බැලුවොත් අපි මේ දීර්ඝ සංසාරයේ ඉතාම දුර්ලභ අවස්ථාවක් ලැබිල තියෙන්නේ සසර දුක කෙළවර කරගන්න. ඒක 'බැරිය බැරිය' කියන එක වෙනුවට අපි හැකි සංඥාව මතුකර ගන්න ඕනෑ. දැන් මේ කාලයේ බොහෝදෙනෙක් කල්පනා කරනවා දැන් මේ සාසන පරිහානිය ගැන හිතලත් දැන් නම් නිවනට කාලය නොවෙයි. වෙන දේවල් කර කර ඉන්න එකයි තියෙන්නේ. නිවනට කාලය දැන් ගිහිල්ලා. එහෙම හිතන එක වැරදි අදහසක්. දැන් අපි පොඩි උපමාවකින් කිව්වොත් දැන් මේ පින්වතුන් ඇතැම් විට ඔය යම්කිසි විශේෂ සංදර්ශනයක් එහෙම නැත්නම් විශේෂ සිද්ධියක් වුනාම ඒක බලන්න විශාල පිරිස් පෝලිම් ගැහිලා යනවා. සමහර විට හැතැප්ම ගණන් පෝලිම් වල ඉන්න වෙනවා රෑ දාවල් නැතිව. එතකොට අර පෝලිම දිගයි කියලා ඇතැම් කෙනෙක් අධෛර්යවෙලා අර පෝලිමේ තමන්ගේ තැන අතහැරලා ගියොත් ආයි කවදාවත් එතෙන්ට එන්න බෑ. ඒ කියන්නේ පළමු වෙනි දවසේ යම්කිසි ප්‍රමාණයක පිරිසකට ඉඩ සැලසෙනවා. ඊළඟ දවසෙත් බොහෝදෙනා අච්චැසි නොතකා ඒ පෝලිමේ ඉන්නවා. අන්න ඒ තැනැත්තන්ටයි අවස්ථාව සැලසෙන්නේ. පළමුවෙනියට එන්නේ ඒ තැනැත්තයි. අර දුක්විඳගෙන හරි රැඳී සිටිය නිසා. අන්න ඒ වගේ හිතාගන්න ඕනෑ.

මේ බුද්ධෝත්පාද කාලයේ දැන් මේ නිවන අවලංගුයි කියල හිතාගන නිවනට අදාළ ගුණධර්මවල හැසිරෙන්නේ නැත්නම් ඒ තැනැත්තාට හැම තිස්සෙම මේක 'හෙට හෙට' කියන දර්ශනයයි තියෙන්නේ. ඒ වෙනුවට හිතන්න ඕනෑ මේ සද්ධර්මය තියෙන අවස්ථාවේ අපි පුළුවන් වෙර දාලා

ඒ උතුම් ධර්මයට අනුව ඒ බෞද්ධ සාරධර්ම මතුකරගෙන බෞද්ධ සාරධර්ම අනුව ජීවත් වෙනවා. සාරය අතහැරලා අසාරය අල්ලා ගන්නවා නොවේ. එතකොට ඒ සාරධර්ම අපි උත්සාහයෙන් වැඩුවොත් යම් හේතුවක් නිසා අපේ පින් මෝරපු නැති නිසා හෝ මේ ජීවිතයේදී බැරිවුනත් අපි අන්න අර පෝලිමේ උපමාව අනුව ඊළඟ බුදුවරයා එනකොට පෝලිමේ ඉස්සරහ ඉන්නේ. අර කිය කියා ඉන්න අය නොවේ වැඩේ යෙදෙන අයයි. **කිය කියා ඉන්න අය නොවේ. වැඩේ යෙදෙන අයයි පෝලිමේ ඉස්සරහින් ඉන්නේ.** ඒකට හොඳ නිදර්ශන තියෙනවා. නිකම් කීවා නොවේ. මේ පින්වතුන් අහලා තියනවා බාහිය දාරුචීරිය, පුක්කුසාති ආදීන් ගැන.

ඒ බාහිය දාරුචීරිය තාපසතුමා කාශ්‍යප බුදුරජාණන් වහන්සේගේ කාලයේ ශාසන පරිහානි අවස්ථාවේ පුක්කුසාති ආදීන් ඇත්ත වශයෙන් හත්නමක් එතැන කියවෙන හැටියට. ශාසනය ඉතාමත් භයානක අන්දමින් පරිහානියට පත්වෙන කොට මහා ගලක් උඩට නැගලා ඉණිමඟත් විසිකරලා දාලා ජීවිත පරිත්‍යාගයෙන් ආහාරත් ප්‍රතික්ෂේප කරලා මහා උත්සාහයක් වීර්යයක් දැරුවා. ඒ වීර්යයෙන් එක නමක් රහත් වුනා කියලා කියනවා. එක නමක් අනාගාමී වුනා. අනික් පස්නමම ආහාරත් නැතිව වියලිලා මැරුණා. නමුත් නිකම් මැරුණා නොවේ. ඒ මැරුණ අය ජීවිත පරිත්‍යාගයෙන් ඒ භාවනා කළ පස්නම තමා මේ ශාසනයේ ඉතාමත්ම ඉක්මණින් ධර්මය අවබෝධ කළේ. බාහිය දාරුචීය, දැන් කවුරුත් දන්නවා. බාහිය සූත්‍රය හැමදෙනාම වගේ බොහොම උසස් හැටියට සලකන සූත්‍රයක්. නිකම්ම ලැබුනා නොවේ ඒ බාහිය දාරුචීරිය තාපසතුමාට නිවන අර වචන කීපයකින්. ඒකට සුදුසුකම ලබාගත්තා. අන්න එයින් අපි තේරුම් ගන්න ඕනෑ. පුක්කුසාති ස්වාමීන් වහන්සේ පිළිබඳවත් එහෙමයි. පුක්කුසාති එක්තරා ගැඹුරු දේශනාවක් ඇසූ හැටියේම අනාගාමී තත්ත්වයට පත්වුනා. ඒ වගේ ඉක්මණින්ම මාර්ග ඵල ප්‍රතිවේධ කළා මේ ශාසනයේ. ඒකට කියනවා 'ඛිප්පාභිඤ්ඤා' කියල. වහා අවබෝධකර ගැනීමේ ශක්තිය ඇති කරගත්තොත් - අන්න අර අතීත බුද්ධ ශාසනයේ නිකම් 'මම ඊළඟ සැරේ රහත් වෙනව රහත්' වෙනව කිය කියා ඉන්නේ නැතිව පුළුවන් උපරිම උත්සාහය යෙදුවා. ඒකයි ඕක අනුව අපි තේරුම් ගන්න ඕනෑ. එතකොට මේ බුද්ධ ශාසනයේ අපි උදාසීන වෙන්න නරකයි. දැන් ඉතින් ශාසනයේ බැහැගන යන කාලය. අපි ඒවා අතෑරලා අර ධනාත්මක චින්තනය ඔස්සේ දුවමු. භෞතික දියුණුවට අපි ආවඩමු. එහෙම හිතාගත්තොත් අන්න වැරදුන තැන. කවදාවත් සසරින් මිදෙන්න බැහැ. 'හෙට හෙට' කිය කියා ඉඳලා. 'ඊළඟ බුද්ධශාසනයේ ඊළඟ බුද්ධශාසනයේ.' ඔන්න ඔය විධියේ තත්ත්වයක් තියෙන්නේ.

ඒ නිසා අපි නුවණින් කල්පනා කරගන්න ඕනෑ අපේ වටිනාකම් පිළිඳව අවබෝධය අලුත් කර ගැනීමට හොඳ අවස්ථාවක් හොඳ මාතෘකාවක් තමයි මේ ධනිය සූත්‍රය. ඇත්ත වශයෙන් නම්නුත් 'ධනිය'. ඉතින් එයා මේ ධනය නිසා ලොකු ආඩම්බරයක් ඇතිකර ගත්තා. අච්චර විශාල ගවරැළක් ඇතිව. ඒ ගවරැළ නිසාම අර කිච්ච ගංවතුරට, ඇත්ත වශයෙන්ම බුදුරජාණන් වහන්සේ ගිහිල්ලා යම් ආකාරයකින් පිහිටවුනේ නැත්නම් සමහර විට ඊළඟ දවසේ විනාශවෙලා යන්නත් ඉඩ තිබුනා. ඒ විධියටම තමයි මේ කාලයේ වෙන සිද්ධි වලින් මේ පින්වතුන් හොඳට අහලා තියනවා අමුතුවෙන් කියන්න දෙයක් නැහැ. මීට වර්ෂයකට පමණ ඉස්සරවෙලා සුනාමි උවදුර ඇතිවුනාට පස්සේ. ඒක දැන් ඓතිහාසික දෙයක් බවට පත්වෙලා. මේ පින්වතුන්ගේ සිත් සතන් වලින් ඒ විධියේ දේවල් අහක්කරන්නයි බොහෝදෙනා උත්සාහ කරන්නේ. ඇත්ත වශයෙන් ඒවායි අපි මතුකරගන්න ඕන. සංවේගය ඇති කරගන්න නම්. එතකොට ඒ සුනාමියෙන් මහා දැවැන්ත තට්ටු ගොඩනැගිලි විනාශවෙද්දී වාහන, රථ වාහන මුදට ගසා ගෙන යද්දී නිරුපද්‍රිතව සමාධියේ වැඩඋන්න පිළිම වහන්සේලා ඉදිරිපත් කළෙත් ඔන්න ඔය 'උපධි' - 'නිරුපධි' සංකල්පය පිළිබඳ සංදර්ශනයයි කියලා හිතා ගන්න ඕනෑ. අර විධියේ උපධි ඔක්කොම ගසාගන යද්දී අර සමාධිගතව සිටි පිළිමවහන්සේලා ලෝකයාට යම් පාඩමක් ඉගැන්වූවා. අර බුදුරජාණන් වහන්සේ ධනියට කළ අභියෝගය වගේ එකක් ඒ කළේ. කොච්චර සුනාමි ආවත් අර ඒ සාරධර්ම පිළිබිඹු කරන යටත්පිරිසෙයින් ප්‍රතිබිම්බය පිළිමවහන්සේලා තුළින් අපට යම් සංදර්ශනයක් දීලා තියෙනවා. ඒක අපි අමතක කරන්න නරකයි.

එතකොට ඒකත් සිහිපත් කරගෙන මෙන්න මේ විපත්තිකර කාලයේ ඇත්ත වශයෙන් අපි නිතර ප්‍රකාශ කරන දෙයක් තමයි - ඒක බෞද්ධ අදහසක් නුනත් බටහිරින් ආපු කියමනක් - 'වෙස්වළාගත් ආශීර්වාදයක්' කියන එක. ඒක බොහෝ දෙනාට ප්‍රායෝගික වශයෙන් වැදගත් දෙයක්. මොකද අර පටාචාරාවට රහත් වෙන්න උපකාර වුනේ අර කියාපු තමන්ගේ පුම්බා ගත්තු බැලුම් බෝලය බිඳී යාම. ඒ අනාගතය පිළිබඳ බැලුම් බෝලය බිඳෙනවත් එක්කම පටාචාරාවත් ඉස්සරවෙලා සිහිවිකල් වුනා. ඒකත් ධර්මයේ සඳහන්වෙලා තියනවා. ධර්මයේ ඒ න්‍යාය ධර්මය දක්වලා තිබෙනවා. මෙහෙම දක්වනවා ධර්මයේ. දුකෙහි විපාක දෙකක් තිබෙනවා. දුක ඉදිරිපත් වුනාම දෙයාකාරයකට - ඒ කියන්නේ 'සමෙමාහ වෙපක්කාහං භික්ඛවෙ දුක්ඛං වදාමි පරියෙට්ඨි වෙපක්කං වා' දුක පිළිබඳව දක්වනවා - එතැන විපාකය කියලා කියන්නේ ඔය කර්මවිපාකය වගේ නොවෙයි දුකෙහි ප්‍රතිඵලය. 'සමෙමාහය' - මූළාවට වැටීම - එහෙම නැත්නම් 'පරියෙට්ඨි වෙපක්කං වා' එහෙම නැත්නම් - සෙවිල්ලට යනවා. එතකොට දුක ඉදිරිපත් වුනාම කෙනෙක් මූළාවට පත්වෙනවා. පිස්සුවට උමතුවට පත්වෙනවා. කෙනෙක් සෙවිල්ලට පත් වෙනවා. ඒක අර කියාපු කතන්තර

දෙකේමත් තියෙනවා. ඒ පටාචාරාවත් මුලින් උමතුවට වැටිලා සම්මෝහයට වැටිලා දුවන්න පටන් ගත්තා. එතකොට සෙවිල්ලට වැටුනේ කොහොමද? බුදුරජාණන් වහන්සේ ළඟට ඒ පටාචාරාව නිරුවතින් ආවාම 'සිහි එළවා ගනුව නැගණිය' කියලා ප්‍රකාශ කළා. එතකොට සිහිඑළවා ගන්නවත් එක්කම එක පාරටම වැටහුනේ තමන් නිර්වස්ත්‍ර බව. එතන ඉඳල ඊළඟට සතිය දියුණු කරගෙන අන්තිමට ශාසනයේ විනයධර භික්ෂුනීන් අතර අග්‍ර තනතුර ලබන්නත් පටාචාරාවට ඒ බුද්ධ වචනය උපකාර වූනා. **'සිහි එළවා ගනුව නැගණිය'.**

එවගේම තමයි අර කිසාගෝතමී. අමුතුවෙන් කියන්න දෙයක් නැහැ මේ පින්වතුන් සියදහස් වාරයක් අහල තියෙන කතන්තර. ඒවායින් ගතයුතු පාඩම ගන්නේ නැතිව ඇති සමහර විට. කිසාගෝතමී පිළිබඳව තියෙන්නේත් ඒ වගේ දෙයක්. මුලදී මුළාවට වැටුනා. තමන්ගේ දරුවා මැරෙනවා කියන එක හිතා ගන්න බැරි දෙයක්. ඒ මවාගෙන සිටි අනාගත සිහින ලෝකය කුඩා දරුවා - අතදරුවා නිසා හිතාගත ඉන්න ඇති මේ දරුවා නිසා ඔක්කොම මගේ අනාගතයටත් ජීවිතයටත් ඉදිරියට උපකාර වෙනවා කියලා තව නොයෙකුත් ආකාරයෙන්. ඉතින් ඒවා අතහරින්න කැමති නැහැ. අර දරුවා මැරුණයි කියන එක විශ්වාස කරන්න බැරිවූනා. එතනදීත් බුදුරජාණන් වහන්සේ උමතුවට වැටිලා ගෙන් ගෙට බෙහෙත් සොයාගෙන ගිය කිසාගෝතමී - 'පරියෙටයී' - ඇය සෙවිල්ලට දැම්මා. සෙවිල්ලට යොමු කළා. සෙවිල්ලට යොමු කළේ කොහොමද? මේ පින්වතුන් කවුරුත් දන්නවා අබ ඇට අහුරක් ගේන්න කීවා නොමළ ගෙයකින්. අන්න එතන සොයන්න පටන් ගත්තා. ඒ සෙවිල්ල තුළින් නුවණ පහළවූනා. ඉතින් අපිත් කල්පනා කර ගන්න ඕනෑ මේවා වෙස්වළාගත් ආශිර්වාද හැටියට අරගෙන මේවායින් ගතයුතු නියම ප්‍රයෝජනය ගන්න ඕනෑ. ඒ වෙනුවට මේවායේ සුදුහුණු ගාලා දුක්ඛ සත්‍යය අමතක කරලා අර කියාපු විපරීත දර්ශනයක් බදාගත්තොත් හැමදාම සසරෙමයි. ඔය විදියටම සියදහස් වාරයක් දීර්ඝ කාලයක් අපි සංසාරයේ ඇවිල්ල තියෙනවා. අර බුදුරජාණන් වහන්සේ ප්‍රකාශ කළ ආකාරයට අවිද්‍යාවෙන් වැහිලා තණ්හාවෙන් බැඳිලා. අවිද්‍යාව කියන ඒ ආවරණයෙන් වැහිලා ඒ ආවරණයෙන් වැහීම නිසා අපට සත්‍යය අවබෝධ වුනේ නැහැ. ඇත්ත, යථාතත්වය අවබෝධ වුනේ නැහැ. අන්ධකාරයක් මහා ඝන අන්ධකාරයක්. ඝන අන්ධකාරයක් තුළයි මේ ලෝකයා හැසිරෙන්නේ. ඊළඟට තණ්හාව සංයෝජනය තණ්හාව කියල කියන ඒ බැම්මෙන් බැඳිලා ඒ බැම්ම කඩාගන්න බැරිවයි මේ සංසාරයේ දීර්ඝ කාලයක් දුවලා තියෙන්නේ.

එතකොට මෙන්න මේක කඩාගන්න නම් බුදුපියාණන් වහන්සේ දක්වපු අර අනිත්‍ය දුක්ඛ අනාත්ම ත්‍රිලක්ෂණය අවබෝධ කරගත යුතුව තිබෙනවා. ඒ සඳහා යන ඒ විදර්ශනා මාර්ගයේ මූලිකම පියවර මේ පින්වතුන් අහලා

තියෙනවා. දැන් අනිත්‍ය සංඥාව වඩන පින්වතාට පළමුවෙන්ම වගේ වැටහෙන්නේ මේ ලෝකයේ හැම එකකම ඇතිවීම් නැතිවීම් කියල දෙයක් තියෙනවා. අපට මෙතෙක් නොපෙනුණ නැතිවීම කියන පැත්ත පෙනෙන්න පටන් ගන්නවා. ඇතිවීම් නැතිවීම් දෙක තුළින් ලෝකයා නිතරම මතුකරලා ගන්නේ ඇතිවීමයි. තමන්ගේ මේ දිරාගිය ඇඳුම් පැළඳුම් ආදිය කුණුකූඩවලට දැම්මට පස්සේ ඒවා ගැන මතකවත් නැහැ. අලුත් දෙය සොය සොයා යනවා. සංස්කරණයක් කරනවා. සංස්කාර. ඒ සංස්කරණය - කෙළවරක් නැති සංස්කරණය කර කර ඉන්නවා. මේකම දුකක් හැටියට බුදුරජාණන් වහන්සේ දක්වූවා. 'සබ්බෙ සංඛාරා අනිච්චා' කියන එක ගැඹුරු අර්ථයකින් පමණක් නොවේ. එදිනෙදා සාමාන්‍ය ලෝකාර්ථයකින් ගත්තත් හරි. මේ අපි කරන සකස් කිරීම් එකක්වත් නිත්‍ය නැහැ. ඒ සකස් කිරීම් නිසාම අපි සමහර විට දුකට පත්වෙනවා. සියලුම සංස්කාර අනිත්‍යයයි. නමුත් මේවායේ නැතිවීම් පක්ෂය ගැන අපට අවබෝධයක් නැති නිසා ඒකම නැවත නැවතත් සකස් කරනවා මිසක් මේ සංස්කාර සංසිඳවීම ගැන හිතන්නේ නැහැ. සංස්කාර සංසිඳවීම සැපයක් හැටියටයි බුදුපියාණන් වහන්සේ ප්‍රකාශකරලා තියෙන්නේ. මේ සංස්කාර කරන්නේ අවිද්‍යාව නිසයි.

ඉතින් ඔය ඇතිවීම් නැතිවීම් දෙක දක්කට පස්සේ - ඊළගට මෙන්න මේ නිවන කියන එකට තව යෙදෙන වචනයක් තමා 'නිරෝධය' කියන එක. අර නැතිවීම් පක්ෂය වඩාත් ප්‍රකටව සිතට වැටහෙන අවස්ථාව තමයි නිරෝධය කියල කියන්නේ. ඉතින් ඇතිවීම් නැතිවීම් දෙකින් මේක බිඳිලා යන ආකාරය වඩ වඩාත් සියුම්ව තමන්ට තේරෙන්න ඕනෑ. ඒකට තමා 'භංග' කියලා කියන්නේ. බිඳිලා යනවා. වඩ වඩාත් තමන්ගේ සමාධි ශක්තිය දියුණු කරගෙන ලෝකය දිහා විමසුම් ඇසින් විදර්ශනා නුවණින් බලන විට සියුම් අන්දමින් පෙනෙනවා හැම එකක්ම ඇතිවීම් නැතිවීම් ප්‍රවාහයක් හැටියට. මේක වෙන්වෙවී යන බව. බිඳී බිඳී යන බව. ඒ බිඳී බිඳී යාම තුළින් බිඳී බිඳී යන්නේ සාමාන්‍යයෙන් බාහිර ලෝකයේ දේවල් පමණක් නොවේ. සිතිවිලිලත් බිඳී බිඳී යනවා. සිතුවිල්ලයි අවසානයට අල්ලන්නේ. මේ සිතුවිල්ලත් බොහොම වේගයෙන් බිඳී බිඳී යනවා දකිනවා. ඒක තුළ විශාල භයක් සංවේගයක් ඇතිවෙනවා. මේ හැම එකක්ම මං මේ හිතිවිල්ල නේද අල්ලන්නේ? ඒ අල්ලන හිතිවිල්ලත් ගෙවිලා යනවා. බිඳිලා යනවා කියලා ඒක තුළින් පටන් ගන්න විදර්ශනා චිත්ත පරම්පරාව තමයි ක්‍රම ක්‍රමයෙන් ගිහිල්ලා අර 'නිබ්බිදා' කියන සසර කලකිරීමට හේතුවන්නේ. මේ නිබ්බිදා කියන වචනය ඇත්ත වශයෙන් ශාසනයේ වටිනා වචනයක්. සසර කලකිරීම කියන එක. බොහෝ දෙනාට ඒක අප්‍රිය වචනයක්. ඒවාට දැන් අලුත් වචන හේත්තු කරගෙන තමයි සුභවාදී දර්ශනයක් ඔස්සේ හිතන්නේ. දැන් ඔය 'විෂාදී' ස්වභාවය කියල එකක් දැන් යනවා තරුණ පරම්පරාව තුළ. විෂාදී ලක්ෂණ තියෙනවා - විෂාදී ස්වභාවයක් තියෙනවා කියලා. ඉතින් ඒවාට ඇත්ත වශයෙන් හේතුවන්නේ අන්න අර විධියේ

සුභවාදී දර්ශනයක්මයි. සීමාන්තික තෘෂ්ණාව, සීමාන්තික බලාපොරොත්තු නිසා තරුණ පක්ෂය නොයෙකුත් ඉලක්ක ඔස්සේ දුවලා හති වැටිලා බලාපොරොත්තු වුන ඉලක්කය නැති වෙන කොට විෂාදි තත්වයට පත්වෙනවා.

ඉතින් ඒකට බෙහෙත් පෙත්ත බුදුපියාණන් වහන්සේ දීල තියෙනවා. මොකක්ද බෙහෙත් පෙත්ත. යථාර්ථ අවබෝධයයි. අර අනිත්‍ය දුක්ඛ අනාත්ම කියන ත්‍රිලක්ෂණය පිළිබඳ යම් අවබෝධයක් තියෙනවා නම් ඒ අය එබඳු අවස්ථාවට පත්වුනාට කලකිරෙන්නේ නැහැ. 'මෙන්න මම පාඩමක් ඉගෙන ගත්තා' කියලා අර කියාපු අත්දැකීම වෙස්වළාගත් ආශිර්වාදයක් හැටියට පිළිඅරගෙන ධර්ම මාර්ගයට නැඹුරුවීමයි කරන්නේ. ඒ වෙනුවට මේකට විෂාදි ලක්ෂණයක් කියලා, යම්කිසි විකෘති ස්වභාවයක් කියලා, ඒකට පොහොර දාන්නයි බොහෝ දෙනා ඔය සුභවාදී දර්ශනයක් ඉදිරිපත් කරන්නේ නවීන මනෝවිද්‍යා වලින්. නමුත් අපි කල්පනා කරන්න ඕනෑ බුදුරජාණන් වහන්සේට කිට්ටු කරන්න පුළුවන් කෙනෙක් නැහැ මනෝ විද්‍යා අංශයෙන්. **අපි හිතා ගන්න ඕනෑ යථාර්ථයට ඇස වහලා කවදාවත් නියම සැනසුමක් ලබාගන්න බැරි බව.** එතකොට බුදුපියාණන් වහන්සේ ඒකයි අපිට මතුකරලා දීලා තියෙන්නේ.

ඔය සතරසතිපට්ඨානය තුළ තියෙන්නෙත් ඒකයි. කායානුපස්සනා - කය අනුව බලන කෙනාට කයේ මොකක්ද පේන්නේ? අර කියාපු ලස්සණ ස්වභාවයද පෙනෙන්නේ? කය අනුව හිත යොදන්න යොදන්න තම තමන් මූණ කට සෝදන, ඇඟපත පුදා කරන, අවස්ථාවල මොකක්ද පෙනෙන්නේ. යථාර්ථය නේද? අන්න අර කන්නාඩියෙන් පෙන්නුම් කරන තත්ත්වයද මේක තුළ තියෙන්නේ. විදර්ශනා ඇහෙන් බලනකොට කන්නාඩියෙන් පෙනෙන තත්ත්වය නොවේ. ඔය විධියට ඒ කය පිළිබඳවත් කලකිරීමට හේතුවන එක යථාර්ථය අනුව එන කලකිරිල්ලක්. අර විධියට තමන්ගේ මෝඩකමින් ඇතිකරගත්තු ඉලක්ක බිඳී යාම නිසා ඇතිවන කලකිරිල්ලක් නොවේ. **ඒක විෂාදි වෙන්න පුළුවන්. නමුත් මේක නිබ්බිදාව.** නිර්වේදය ශාසනයේ වටිනා වචනයක්. විදර්ශනා ඥාන මෝරාගෙන යන අවස්ථාවේ නිවනට ළංවෙන කොටයි මෙන්න මේ නියම සසර කලකිරීම මතුවන්නේ. ඒක තුළින් තමයි විරාගය කියල කියන නොඇල්ම - අත හැරීම. මේ සසරට ඇල්ම තියාගෙන මේකෙන් මිදෙන්න බැහැ. මං අතහරින්න කියලා මේක අල්ලගන ඉඳලා බැහැ. අනේ මං අතහරින්න කියල අල්ලගෙන ඉන්නේ. එහෙම නොවේ මේක කරන්න තියෙන්නේ. මේක අවබෝධය තුළින් යම් අවස්ථාවක් එනවා මෙතෙක් අල්ලාගන සිටි ඒවා දන්නෙම නැතිව අත

හැරෙනවා. **අත හරිනවා නොවේ අතහැරෙනවා.** ලිස්සලා යනවා. ඒවා ලිස්සලා යනවා. අන්න එහෙම තත්ත්වයක් සිතේ ඇතිවෙනවා. එතෙක් දියුණු කරගන්න ඕනෑ අන්න අර කියාපු විශේෂ දැක්ම.

ඒ විශේෂ දැක්මට - ඉතින් මේ පින්වතුන් මේ අවස්ථාවේ වටිනා සීලයක් ඇත්ත වශයෙන් මේ විශාල පිරිසක් පොහොය දවසට තිසි සීලය සමාදන් වුනා. කවුරු කවුරුත් බෞද්ධයින් වශයෙන් යම් යම් සීල මට්ටමකින් සීලවන්ත වෙන්නේ මොකටද? දිව්‍යලෝකයේ යාම ඒකත් ප්‍රතිඵලයක් තමා. නමුත් නියම අර්ථය බලනවා නම් සීලය වඩන්නේ සමාධිය සඳහායි. චිත්ත විශුද්ධිය සඳහායි. සීලය පිහිටකරගෙන, කය වචනය හික්මවා ගැනීම පිහිටකරගෙන අපි ඊළඟට චිත්ත විශුද්ධිය නමින් හඳුන්වන සමාධිය චිත්ත ඒකාග්‍රතාවය ඇතිකරගන්නේ. අර භෞතික ලෝකයේ අර හඳ ඉර හැසිරෙන ආකාරය, මේ පොළව යට මොකක්ද තියෙන්නේ ඒවා බලන්න නොවේ. මේ පංචස්කන්ධයේ මේකේ යථා ස්වභාවය දැක ගැනීමටයි මේ සමාධිය ඇති කරගත්තේ. ඒ සතියෙන් සමාධියෙන් සතර සතිපට්ඨානය තුළ හැසිරෙන පුද්ගලයාට පෙනෙනවා අන්න විදර්ශනා ඥාන මතුවෙනවා ඒක තුළින්. ඉතින් එතකොට සීලය උපකාර කරගෙන සමාධිය. සමාධිමත් සිත ඊළඟට යොදනවා විදර්ශනාවට- මෙනෙහි කිරීමට. ඒ මෙනෙහි කිරීම තුළින් අන්න යථා අවබෝධයට ක්‍රම ක්‍රමයෙන් ළං වෙනවා. ඒ අවබෝධයට ළංවූ අවස්ථාවේ තමයි මේ පංච උපාදාන ස්කන්ධය මෙතෙක් 'මමය මාගේය' කියල අර උපධි කියලා හිතාගත හිටිය මේ දීඝ සංසාරයේ අපි ගොඩනඟා ගත්ත ගෙවල් දොරවල් යාන වාහන ඒ හැම එකක්ම බිඳිලා යන බව අපට පෙනෙනවා. ඒ බිඳෙන්න බිඳෙන්න අපි අලුත් දේවල් ගන්නවා. නමුත් මේ දීර්ඝ සංසාරයේ අපි අත නොහරින දෙයක් තියනවා. මේ රූප වේදනා සඤ්ඤා සංඛාර විඤ්ඤාණ කියන මේ පංචස්කන්ධයට මුළා වෙලා මේක වැඩෙන ආකාරයට මිසක් මේක දියවෙලා යන ආකාරයට මේක නැතිවෙන ආකාරයට කටයුතු කරලා නැහැ. ඒකයි මේ සංසාරයේ දීර්ඝ කාලයක් ඇවිල්ලා තියෙන්නේ. ඒක තුළමයි දුක තියෙන්නේ. කොටින්ම කියතොත් පංචඋපාදාන ස්කන්ධය තනිකරම දුකක් හැටියටයි බුදුපියාණන් වහන්සේ ප්‍රකාශ කරලා තියෙන්නේ.

එතකොට මේ ලෝකය එහෙම පිටින්ම ඇත්ත වශයෙන් කියනවා නම් රෝහලක් වගෙයි. බුදුරජාණන් වහන්සේට උත්තරීතර ශල්‍ය වෛද්‍යවරයා භිෂක් වෛද්‍යවරයා කියලා කියන්නේ මෙන්න මේ ලෝකයා බැඳිල තියෙන සංසාර දුකින් එතර කරවීමට ශක්තිය ඒ ක්‍රමය - බෙහෙත - බුදුපියාණන් වහන්සේ දුන්න නිසා. ඒ බෙහෙතයි චතුරාර්ය සත්‍යය තුළ අඩංගු වෙලා

තියෙන්නේ. දුක්ඛ ආර්ය සත්‍යය. ඒකට යට හැටියට දක්වලා තියෙන්නේ තණ්හාවයි. අසීමිත තණ්හාවක් නිසා මේ ලෝකයා භවයේ ඇලිලා ගැලිලා සිටිනවා. නොයෙකුත් දේවල් අල්ලා ගෙන සිටිනවා. එතකොට ඒ තෘෂ්ණාව ක්‍රම ක්‍රමයෙන් තුනී කර ගැනීමටයි මේ සීලාදී ගුණධර්ම වඩන්නේ. එතකොට යම් අවස්ථාවක ඒක ඉවත් වුනාම අර තෘෂ්ණා පිපාසය සංසිඳෙනවත් එක්කම තමයි- සංස්කාර සංසිඳීමත් එක්කම තමයි- නිර්වාණ සම්පත්තිය ලැබෙන්නේ. එතකොට නිවීම. බුදුපියාණන් වහන්සේ ප්‍රකාශ කළේ මගේ ගෙය ඇරලා තියෙන්නේ. මගේ ගිනි නිවිලා තියෙන්නේ. ඒ ගිනි කියලා කීවේ අන්න අර රාග ද්වේස මෝහ ගිනි. **එතකොට අර ධනිය 'ගිනි ඇවිලෙනවා' - තමන්ගේ ගෙදර 'ගිනි තියනවා' - කියලා ධනිය සතුටු වුනා. බුදුරජාණන් වහන්සේ 'ගිනි නිවුනා' කියලා සතුටුවුනා.** අපටත් එතකොට බුදුරජාණන් වහන්සේ අනුව යනවා මිසක් ධනිය අනුව යන්න නරකයි. අපි කල්පනා කර ගන්න ඕනෑ මෙන්න මේ කියාපු **තුන් ගිනි නිවීමේ ඒ මහා ව්‍යාපාරයයි මහා කාර්ය සම්භාරයයි බෞද්ධයින් හැටියට අපට කරන්න තියෙන්නේ.** ඒකෙයි යෙදෙන්න තියෙන්නේ.

ඒක සඳහා අද දවසේ මේ පින්වතුන් යම්කිසි මට්ටමකින් සීලය සමාදන් වුනා. මේ ධර්ම ශ්‍රවණය තුළිනුත් මේ පින්වතුන් අපි කියාපු ආර්ය ධන වලට ළං වෙනවා. ශ්‍රද්ධා ධන, සීල ධන, සීලයට ම උපකාර වන භය සහ ලැජ්ජාව, ඊළඟට ධර්ම ඥානය, ඒකත් උපකාර වෙනවා. ඒකත් වටිනා ධනයක්. ධර්ම ඥානය නැති මිනිහා තමන්ගේ ජීවිතය විනාශ කර ගන්නවා. සමාජයත් විනාශ කරනවා. ධර්ම ඥානය නැති තැනැත්තා. ඊළඟට අර අතහැරීම. ත්‍යාග ශක්තිය. ඒක විශාල ශක්තියක්. **අතහැරීමේ ශක්තිය නැති තැනැත්තා අන්න අර විධියට විපතට පත් වෙනවා තමන්ට විපතක් අලාභයක් සිදුවුනාම.** අවසාන වශයෙන් ප්‍රඥාව. ලෝකය පිළිබඳ යථා තත්ත්වය අවබෝධය, යථාවබෝධය, ප්‍රඥාව ඒක මතුකර ගත්තු අවස්ථාවේ තමයි සංසාර විමුක්තිය ඇතිවන්නේ.

එතකොට මෙතෙක් මේ පින්වතුන් රැක්ක සීලයෙන්, මේ ධර්ම ශ්‍රවණය තුළින් මේ හැම එකකින් රැස් කරගත්තු, අද දවසේ රැස්කර ගත්තු කුසල සම්භාරය නිවනට උපකාර වන සද්ධා විරිය සති සමාධි පඤ්ඤා කියන ඉන්ද්‍රිය බල ධර්මයන් ඇතිකර ගැනීමට මුහුකුරවා ගැනීමට උපනිශ්‍රය වේවා. ඒවා පිහිට කරගෙන කල්‍යාණ මිත්‍ර ආශ්‍රයත් උපකාර කරගෙන හැකි තාක් ඉක්මණින් මේ බුද්ධ ශාසනය තුළම සෝවාන් සකදාගාමී අනාගාමී අර්හත් කියන මාර්ග ඵල ප්‍රතිවේධයෙන් උතුම් අමා මහ නිවන්

සාක්ෂාත් කර ගැනීමට මේ කුසල ශක්තිය එකාන්තයෙන් හේතු වාසනා වේවා! කියා ප්‍රාර්ථනා කරගන්න. ඒ වගේම මේ විශ්වයේ යම්තාක් අවීචියේ සිට අකනිටාව දක්වා මේ විධියේ ධර්ම දේශනාමය ධර්ම ශ්‍රවණමය කුසලයක් අනුමෝදන් වීමට කෙනෙක් බලාපොරොත්තු වෙනවා නම් ඒ හැමකෙනෙක්ම ඒ අනුමෝදන් වීම තුළින් තම තමන්ගේ ප්‍රාර්ථනා පරිදි ප්‍රාර්ථිත බෝධියකින් උතුම් අමා මහ නිවන් සාක්ෂාත් කර ගනිත්වා කියා ප්‍රාර්ථනා කරන්න. දැන් මේ ගාථා කියන්න.

"එත්තාවතා ච අම්හෙහි ................"

# 39 වන දේශනය (පහන් කණුව ධර්ම දේශනා අංක 80)

'නමො තස්ස භගවතො අරහතො සම්මා සම්බුද්ධස්ස'

අලඞ්කතො චෙපි සමං චරෙය්‍ය
සන්තො දන්තො නියතො බ්‍රහ්මචාරී
සබ්බසු භූතෙසු නිධාය දණ්ඩං
සො බ්‍රාහ්මණො සො සමණො ස භික්ඛු

(ධම්මපදය - දණ්ඩ වග්ග)

සැදැහැවත් පින්වතුනි,

නොයෙකුත් විදියේ මත්වීම් නිසා ලෝක සත්ත්වයා මේ සංසාරයේ ප්‍රමාදයට වැටෙන බව බුදුරජාණන් වහන්සේ වදාළා. යෞවන මදය, ආරෝග්‍ය මදය, ජීවිත මදය, භෝග මදය වැනි ස්වාභාවික මත්වීම්වලට අමතරව සමාජයේ ප්‍රකටම මත්වීම වන මත්පැන ප්‍රමාදයට හේතුවන බව ධර්මයේ දක්වලා තියෙනවා. මේ හැම මත්වීමකින්ම මිදීමට උපකාර වන්නේ සංවේගයයි. ඇතැම්විට ජීවිතයේ දුකබදායක අත්දැකීමක් තුළින් මතුවන සංවේගය මේ හැම මත්වීමක්ම ජය අරගෙන කෙනෙකුට නිවනට ළං වීමට උපකාර වන බව හෙළිවන කථාන්තරයකුයි අද අපි මාතෘකා කළ ගාථාවට නිදාන කථාව හැටියට දක්වල තියෙන්නේ.

මේ ගාථාව බුදුපියාණන් වහන්සේ දේශනා කර වදාළේ පසේනදී කොසොල් රජුගේ සන්තති කියන ඇමතියා මුල් කරගෙනයි. මේ සන්තති කියන මහාමාත්‍යයා කොසොල් රජ්ජුරුවන්ගේ දේශසීමාවේ තිබුන කැරැල්ලක් සංසිඳවලා ආවාම රජතුමා විශේෂ වරප්‍රසාදයක් හැටියට හත් දවසක රජ සැප දුන්නා. ඒ කියන්නේ රාජ්‍යය පාවා දුන්නා නොවෙයි. ඒක නම්බුනාමයක් වගෙයි. රජසැපට සමාන සැප, පංචකාම සම්පත්තිය විඳින්න කටයුතු සැලැස්සුවා. කොයිතරම් ද කියතොත් විනෝදයට නැටුම් ගැයුම්වල දක්ෂ නාටිකාංගනාවකුත් භාර දුන්නා. ඉතින් මේ සන්තති ඇමතියා හත් දවසක් තිස්සේම මත්පැනින් විනෝද වෙමින් අර නැටුම් බලමින් සින්දු අසමින් කාලය ගත කළා. හත්වෙනි දවසේ පැන් කොටට යන්න පිටත් වුනා, ඇතකු පිට නැගලා පිරිසත් එක්ක. යන අතරේ බුදුපියාණන් වහන්සේ පිණ්ඩපාතයෙ වඩිනවා දකලා බුදුරජාණන් වහන්සේට

හිස නමලා ගෞරව කරලා පිටත්ව ගියා. බුදුපියාණන් වහන්සේ ඒ අවස්ථාවේ මඳ සිනහවක් පහළ කළා. ඒ විදියේ සිනහවක විශේෂත්වයක් තියෙන නිසා සාමාන්‍යයෙන් ආනන්ද ස්වාමීන් වහන්සේ අහනවා "භාග්‍යවතුන් වහන්ස මොකද්ද ඒ සිනහව පහළ කරන්න හේතුව" කියලා. එහෙම ඇහුවම බුදු පියාණන් වහන්සේ වදාළා දන් මේ ඇමතියා මෙහෙම ගියාට මොකද අදම සිය වස්ත්‍රාභරණයෙන් සැරසිලා ඇවිල්ලා මගෙන් ගාථාවක් අහලා අදම පිරිනිවන් පානවා කියලා. මේක අහගෙන හිටිය පිරිස අතර සිටිය මිථ්‍යාදෘෂ්ටික අය කල්පනා කරනවා 'මේ මහණ ගෞතම කටට ආව දෙයක් කියනවා අද අපි ලෑස්තිවෙලා ඉන්න ඕන බොරුවෙන් නිග්‍රහ කරන්න' කියලා. ඒ කාණ්ඩය එහෙම සූදානම් වුනා. සම්‍යක්දෘෂ්ටික ශ්‍රද්ධාවන්ත අය මේ ආශ්චර්යවත් සිද්ධිය බලන්න ඕන කියලා උනන්දුවෙන් හිටියා. ඔය අතරේ සන්තති ඇමතියා දවල් කාලයේම ජල ක්‍රීඩා කරලා උයනේ මත්පැන් බොන ස්ථානයට ගියා. එතනදී අර තිළිය වේදිකාවට නැගලා නැටුම් දක්වන්න පටන් ගත්තා. වඩාත් හොඳට නෘත්‍ය ලාලිත්‍යය දක්වන්න මේ නැනැත්තී හත්දවසක්ම හරියට ආහාර ගත්තේ නැහැ. මේ අවස්ථාවේ කුසගින්න නිසාත්, වෙහෙස නිසාත්, හදිසියේම බරපතල විදියට ආබාධයක් මතුවෙලා මේ නැනැත්තිය එතැනම මැරිලා වැටුනා ඇස් දෙකත් කටත් ඇරගෙන. ඉතින් ඇමතියා පරීක්ෂා කර බලන්න කිව්වාම පිරිස කීවා දන් ඉතින් ජීවිතය නිරුද්ධවෙලා කියලා. ඒක ඇහුව හැටියේ මේ අමාත්‍යයාට විශාල සංවේගයක්, ශෝකයක් ඇතිවුණා. කොයිතරම්ද කියතොත් අර හත් දවසක වෙරිමත එතැනම සංසිඳුණා ඒ ඇතිවුන සංවේගය නිසා. ඊළඟට කල්පනා කරලා බැලුවා මගේ මේ ශෝකය සංසිඳුවා ගන්න මා කා ළඟට ද යන්න ඕනෑ කියලා. බුදු පියාණන් වහන්සේ ළඟටයි යන්න ඕනෑ කියලා හවස්වරුවේ බුදුපියාණන් වහන්සේ ළඟට පැමිණියා. පිරිසත් එක්කම, අර විදියට වස්ත්‍රාභරණයෙන් සැරසිලාම. ඒ කථාන්තරය බුදුපියාණන් වහන්සේට කිව්වාම බුදුපියාණන් වහන්සේ වදාළා "සන්තති, ඔබ මේ ජීවිතයේ පමණක් නොවෙයි මේ දීඝ සංසාරයේ මේ නැනැත්තී මේ අන්දමින්ම මරණයට පත්වීම නිසා හෙළන ලද කඳුළු සතර මහා සාගරයටත් වැඩිය" කියා. සංසාර භය ඇතිකරලා එක්තරා ගැඹුරු අර්ථයක් ඇති කෙටි ගාථාවක් වදාළා.

යං පුබ්බෙ තං විසොසෙහි
පච්ඡා තෙ මාහු කිඤ්චනං
මජ්ඣෙ වෙ නො ගහෙස්සයි
උපසන්තො චරිස්සසි

අර්ථ වශයෙන් බැලුවාම, ව්‍යාඛ්‍යාර්ථ වශයෙන් බැලුවාම, මෙහෙමයි පරිවර්තනය කරන්න වෙන්නේ. 'යං පුබ්බෙ තං විසොසෙහි' කලින් යමක් තිබුනද එය වියළා දමව. 'පච්ඡා තෙ මාහු කිඤ්චනං' පසුවට ඔබට කිසිවක් නොවේවා. 'මජ්ඣෙ චෙ නො ගහෙස්සසි' ඉදින් ඔබ මැදින් ද කිසිවක් අල්ලා ගත්තේ නැත්නම් 'උපසන්තො චරිස්සසි' උපශාන්තව හැසිරෙන්නෙහිය.

ඔය කෙටි අවවාදය ගැඹුරින් සලකලා අර සංවේගවත්ව සිටි සන්තති අමාත්‍යයා ඒ අවස්ථාවේම අර්හත්වය ලබා ගත්තා කියලා කියනවා. ඒ එක්කම සමහර ග්‍රන්ථවල සඳහන් වෙනවා අතීතයේ ධ්‍යාන ආදිය වඩල තියන කෙනෙකුට ඒවා මතුවෙලා එනවා කියලා. දන් මෙතනදීත් කියන්නේ ධ්‍යාන තත්ත්වය පමණක් නොවෙයි. අභිඥා තත්ත්වයත් පවා ලැබුණ බවයි. මොකද ඊළඟට කියවෙනවා ඒ සන්තති ඇමතියා රහත් වෙලා තමාගේ ජීවිත සංස්කාරය - ජීවිතය කොපමණ කාලයක් පවතිනවාද කියල - සලකල බැලුවා. පිරිනිවන්පාන්න වෙන බව දනගෙන බුදුපියාණන් වහන්සේගෙන් අවසර ඉල්ලුවා 'මට පිරිනිවන් පාන්න අවසර දෙන්න' කියලා. බුදුපියාණන් වහන්සේ වදාළ හොඳයි ඊට කලින් තමන්ට මේ රහත්වෙන්න උපකාර වූ අතීත කර්මය මේ පිරිසට ප්‍රකාශ කරන්න කියලා. ඒකත් බිම ඉඳගෙන නොවෙයි අහසට නැඟිලා ප්‍රකාශ කරන්න කියලා. ඒ අවස්ථාවේ මෙතන කියවෙන්නේ සන්තති ඇමතියා වූ රහතන් වහන්සේ අතීත ප්‍රවෘත්තිය මේ විධියට ප්‍රකාශ කළ බවයි.

"මෙයට අනූඑක් කල්පයකට කලින් විපස්සී බුදුරජාණන් වහන්සේගේ කාලයේ මම බන්ධුමතී කියන රාජධානියේ උත්පත්තිය ලබා කල්පනා කළා ජීවිත ඊ්‍රියාවක් වශයෙන් මොකද්ද කරන්න හොඳ කියලා. අනුන්ට හිංසාවක් පරහිංසාවක් නොවන රක්ෂාව මොකද්ද කියලා හිතලා බලනකොට මට හැඟුනා ධර්ම ඝෝෂක කර්මයයි හොඳම ඊ්‍රියාව කියලා. ධර්ම ඝෝෂක කර්මය කියලා කියන්නේ මනුෂ්‍යයින් උනන්දු කරවන දානාදී පිංකම් කරන්න. පෙහෙවස් සමාදන් වන්න. ධර්මය අසන්න. කුණුරුවන්ට ලැදිව සිටින්න ආදිය ප්‍රකාශ කරමින් හැසිරීමයි. ඉතින් ඒ විධියට සමාජයේ හැසිරෙන්න පටන් ගත්තා වෘත්තිය හැටියට. බන්ධුමතී රජතුමා ඒ කියන්නේ බුදුරජාණන් වහන්සේගේ පියා මේ කාරණය දනගෙන ගෙන්වලා කොහොමද මොකක්ද කරමින් ඉන්නේ කියලා ඇහුවාම කිව්වා ධර්මඝෝෂක වෘත්තිය කරනවායි කිවුවහම බොහොම හොඳයි කියලා පයින් ඇවිදිමින් නේද මේක කරන්නේ. මේ වැඩේ හැටියට අශ්වයකු පිට යමිනුයි එය කළයුත්තේ කියලා අශ්වයෙක් දුන්නා. මල් දමක් පැළඳගෙන අශ්වයකු පිට ගිහිල්ලා

මේ කාර්යය කරන්න කියලා එහෙම ටික කලක් කරගෙන යනකොට ආයිත් රජතුමා කථා කරලා අශ්වයත් හොඳමදි අශ්වයන් හතර දෙනෙක් යෙදූ රථයක ගිහිල්ලා මේ කාර්යය කරන්න කීවා. ඊළඟට තුන් වෙනුව නැවතත් කැඳවලා ඇතකු පිට වස්ත්‍රාභරණයෙන් සැරසිලා යමින් මේ ධර්මඝෝෂක කර්මය කරන්න කියලා පැවරුවා. නොයෙකුත් විදියේ ධන, භෝග, සම්පතුත් දීලා. ඒ කාලයේ මනුෂ්‍යයින්ගේ ජීවිත කාලය ඉතාම දිගයි. විපස්සී බුදුරජාණන් වහන්සේගේ කාලයේ. අසූදහසක් අවුරුදු මේ ධර්ම ඝෝෂක කාර්යය කළා." කියලා සන්තති අමාත්‍යයා ප්‍රකාශ කරලා. ඒකේ ආනිශංස හැටියටයි මම මේ තත්ත්වය ලැබුවේ කියලා ප්‍රකාශ කරලා අහසේදීම තේජෝධාතු සමාපත්තියට සමවැදිලා තමන්ගේ ශරීරයට ගිනි අවුළුවා ගත්තා. ශරීරයේ ලේ මස් දැවී ගියා. බුදුරජාණන් වහන්සේ ඒ අවස්ථාවේ වස්ත්‍රයක් එලන්න සලස්වලා දැවුණු ඇට ධාතු එකතු කරවලා එතන සතර මංසන්ධියක ස්තූපයක් බැන්දෙව්වා. මනුෂ්‍යයින් ඒ ස්තූපයට වැඳලා පිං රැස්කර ගනිත්වා කියලා.

මේ සිද්ධියෙන් පස්සෙ, මේ ආශ්චර්යවත් සිද්ධියෙන් පස්සෙ සංඝයා වහන්සේලා අතර කථාවක් ඇතිවුනා දැන් මේ සන්තති ඇමතියා වස්ත්‍රාභරණයෙන් සැරසිලා සිටින විටමයි රහත් වුණේ. අපි මේ තැනැත්තාට ශ්‍රමණයෙක් කියනවාද? භික්ෂුවක් කියනවාද? බ්‍රාහ්මණයෙක් කියනවාද? කියලා ඔය විදියේ කථාවක් ඇතිවුණා. බුදුපියාණන් වහන්සේට ඒ ඇහිලා ඒ අවස්ථාවේ ප්‍රකාශ කළ ගාථාව හැටියටයි මේ ගාථාව දක්වෙන්නේ.

අලඞ්කතො චෙපි සමං චරෙය්‍ය
සන්තො දන්තො නියතො බ්‍රහමචාරී
සබ්බසු භූතෙසු නිධාය දණ්ඩං
සො බ්‍රාහමණො සො සමණො ස භික්ඛු

ඒකේ අදහස "යම් කෙනෙක් වස්ත්‍රාභරණයෙන් සැරසී නමුත් ශාන්තව දාන්තව නියත බ්‍රහ්මචාරීව හැම සත්ත්වයින් කෙරෙහිම දඬු මුගුරු බහා තැබීමෙහි අහිංසා ප්‍රතිපත්තිය ඇතිව විෂම චර්යාව ඉවත් කර සමචර්යාවෙහි හැසිරෙයිද එබඳු තැනැත්තාට ශ්‍රමණයෙක්, බ්‍රාහ්මණයෙක්, භික්ෂුවක් යන කොයි වචනයක් යෙදුවත් වරදක් නැත. කියන අදහසයි ඒ ගාථාවෙන් කියවෙන්නේ."

කථාව වශයෙන් තියෙන්නේ ඒකයි. කථාවත් සිද්ධියත් ආශ්‍රයෙන් අපට ගන්න තියෙන්නේ ඇත්ත වශයෙන්ම කෙනෙකුට පුදුම හිතෙනවා ගිහි කෙනෙක් අර විධියට හත්දවසක් මත්වෙලා ඉඳලා රහත් වුනේ කොහොමද

කියලා. මේක වැරදියට තේරුම් ගන්න තරකයි කෙනෙක්. නමුත් අතීතයේ කර්ම හා සම්බන්ධයි. අතීතයේ පාරමී ශක්තිය ඇති කෙනෙකුට තමයි ඒ විදියේ ඒ වෙලාව බලලා බුදුරජාණන් වහන්සේ ධර්මය දේශනා කරන්නේ. කෙටි නමුත් ඒ ධර්මය ගැඹුරින් වැටහුනා නම් ඒ තැනැත්තාට ඒ අවස්ථාවේම සංසාරයෙන් මිදෙන්න පුළුවන් විදියේ අකාලික ධර්මයක් මේ ධර්මය. මහා ආශ්චර්යවත් දේවල් කොතෙකුත් ධර්ම කතාන්තර වල තියෙනවා. මේ කාලයේ නම් කෙනෙක් ප්‍රශ්න කරන්නත් පුළුවන්.

ඉතින් මෙතැන අපට මේක විග්‍රහ කරනවා නම් අපට කියන්න තියෙන්නේ මේ කතාන්තරය ගැන හිතලා බැලුවත් එක පාරටම බලනකොට එක නාට්‍යයයි තියෙන්නේ. නමුත් නාට්‍ය දෙකක් තියනවා කියලා හිතා ගත්තට වරදක් නැහැ. මොකද මේ හැම සත්ත්වයින්ගේම මූළු මහත් සංසාර පැවැත්ම තුළ අවස්ථා තුනක් තියෙනවා. ආස්වාද, ආදීනව, නිස්සරණ කියලා. ආස්වාද කියලා කියන්නේ රස වින්දනයයි. පංචකාම සම්පත්තිය ආශ්‍රයෙන් සත්ත්වයා රස විඳීමට පෙළඹෙනවා. විශේෂයෙන්ම තිරිසන් සතුන්. මනුෂ්‍යයින් පවා සාමාන්‍ය පුද්ගලයින් පංචකාම සම්පත්තියේ තමයි ඉන්නේ. ඒ තත්ත්වයෙයි ඉන්නේ. අපි අර ශ්‍රේණි කියලා කියන්නේ ඒකත් එක්තරා ශ්‍රේණියක්. ඊළඟට ඒකෙන් උසස්වීම් ලැබෙන කොට යම්කිසි අවස්ථාවක ඒක තුළින්ම ආදීනව මතුවෙනවා. ආස්වාද -ආදීනව. ඒ අවස්ථාවේදී ලෝක සත්ත්වයා හිතන්න පෙළඹෙනවා. ඇයි අපට මෙහෙම වෙන්නේ? ඇයි මේ විධියේ දුක්ඛදායක ප්‍රතිඵල ලැබෙන්නේ කියලා කල්පනාවට වැටෙනවා. ඊළඟට සොයන්න පටන් ගන්නවා. මේකෙන් පිටවෙන්න නිදහස් වෙන්න ක්‍රමයක්. 'නිස්සරණ' කියලා කියන්නෙ ඒකයි. 'නිස්සරණ' කියලා කියන්නේ මේ සංසාර වට වළල්ලෙන් පිට පැනීමයි. නිස්සරණ අවස්ථාව. ඒකට කල්‍යාණ මිත්‍රයෙක් උදවු වුනොත් - බුදුකෙනෙක් එහෙම - යම් කෙනෙක් උදව් වුනොත් වෙලාවට නිස්සරණ කියන නිවන ලබා ගන්න පුළුවන්. ඔන්න ඔය අවස්ථා තුනයි. මේ සන්තති ඇමතියාගේ කෙටි හත් දවසක කාල සීමාවක අත්දැකීම් තුළ තියෙනව මේ ඔක්කොම. අර හත් දවසක රජසැප කියලා කියන්නේ ව්‍යාජ රජ සැපක්. ඒක ව්‍යාජ බවත් අනිත්‍ය බවත් අමතක වෙන්න මත්පැන උපකාර වෙන්නට ඇති සමහර විට. හත් දවසෙම මත් වෙලා හිටියේ. මේකෙන් මේ නින්දෙන් - නිදිමත වෙනුවට වෙරිමතයි- මේ නින්දෙන්, ජීවිත සිහිනයෙන්, අවදිවුනේ අර නාට්‍යාංගනාවගේ රඟපෑමේ ශෝකාන්ත නාට්‍යය දුටුවාමයි. ඒක ශෝකාන්ත නාට්‍යයක් වුනා. ඒක ගැනත් අපි ටිකක් හිතලා බලනකොට මේ නළුවකුගේ, නිළියකගේ ජීවිතයේ ඔය කියන අවසාන අවස්ථාව කලාතුරකිනුයි වේදිකාවක දකින්නට ලැබෙන්නේ. අපි හැම දෙනෙකුගේම

ජීවිත රඟුමෙ අවසාන අවස්ථාව තමයි ඕක. නමුත් ඕක සංවේගාත්මක අන්දමින් අපිට හිතා ගන්න පුළුවන්. අර තැනැත්තී නටන්න ඇත්තේ නොනටා බැරි නිසා. ඒක වෘත්තිය නිසා. නමුත් ඒ අවස්ථාවේ නැටුනා උමතුවෙන්. බුදුරජාණන් වහන්සේගේ ධර්මයේ තියන යම්කිසි පාඨයක් මේක අනුව අපට පැහැදිලි වෙනවා. බුදුරජාණන් වහන්සේ මේ නාට්‍යය හඳුන්වලා තියෙන්නේ, දැන් මේ කාලයේ නම්, රසාස්වාදනය කරන කලාවේදීන් ඒ විදියෙ දේවල් ගැන බුදුරජාණන් වහන්සේ ගැන අප්‍රසාදයක් ඇතිකර ගන්නත් පුළුවන්. නමුත් බුදුරජාණන් වහන්සේ නාට්‍යය උපමා කරල තියෙන්නේ උමතුවීමක් හැටියට. "උම්මත්තකමිදං භික්ඛවෙ අරියස්ස විනයෙ නච්චං" මහණෙනි, නැටුම කියල කියන්නේ ආර්ය ව්‍යාවහාරයට අනුව උමතුවීමක්. ඉතින් දැන් මේක මෙතන හරියටම ගැලපෙනවා. ඇත්ත වශයෙන් අර නැටුවේ කුසගින්න වේදනාව ඉවසගන්න බැරිව. ඒකම තමයි අපි අර සමහර අවස්ථාවල කියන්නේ රත්වෙච්ච යකඩ වේදිකාවක් උඩ කවුරුහරි හොඳට අන්දවලා තැබුවොත් පා මාරු කරන්න දරණ උත්සාහය ඇතට පෙනේවි නැටුමක් හැටියට. සමහර විට විදේශිකයෙකුට කැමරාගත කරන්න පුළුවන් විදියෙ නැටුමක් වෙන්න පුළුවන්. ඉතින් අර බුද්ධ වචනය අනුව පැහැදිලි වනවා මේ නැටුම කියන එක උමතුවක් වගේ. දැන් මේක හරියටම ගැලපෙනවා. අර කුසගින්න වේදනාව නිසා දැහැලීමක් අන්තිමට කළේ. දහලලා වැටුනා. ඇස් දෙකත්, කටත් ඇරගෙන. ඔන්න අවසාන රැඟුම. අපි උපහාසයට නැඟුමක් හැටියට නොවෙයි මේ විධියේ දේවල් ස්වාභාවික දේවල්. නමුත් ලෝකයා ඕක අමතක කරනවා. අර කියාපු වෙරිමත ආදී නොයෙකුත් මත්වීම් නිසා. මේක සත්‍ය තත්ත්වය. යථාභූත තත්ත්වය සන්තති අමාත්‍යයාට ප්‍රකට වුණා. ඒක තුළිනුයි ගැඹුරු කලකිරීමක් ඇතිවුනේ.

ඇත්ත වශයෙන් සසරින් එතෙර වීමට නම් කලකිරීම- ඒකට 'නිබ්බිදා' කියලා කියනවා- ඒක අත්‍යවශ්‍යයි. ඒ ඒ පුද්ගලයාට ඒ ඒ මට්ටමිනුයි ඇති වන්නේ. එදිනෙදා ජීවිතයේ තම තමන්ගේ ප්‍රිය අයගෙන් වෙන්වීමේ දුක එහෙම අන්දකින්න ලැබෙනවා. නමුත් අර තරම් ගැඹුරට යන්නේ නැහැ. මෙතැනදී දැඩිවම. ඒ සංවේගය තුළින් කොයිතරම්ද කියතොත් වෙරිමත සංසිඳුනා. එතනම. ඒකයි අර බුදුපියාණන් වහන්සේ ගාථාවෙන් ප්‍රකාශ කළේ. ශාන්ත දාන්ත වචන ඇත්ත වශයෙන් ඒ සුළු වෙලාවක් තුළදී ඒකෙන් ඇතිවෙච්ච කලකිරීම තුළින් ඒ පුද්ගලයා තුළ යම්කිසි හික්මීමක් ඇතිවෙන්න ඇති. කාලය පිළිබඳ ප්‍රශ්නයක් නැහැ මෙතැන. විශාල පරිවර්තනයක් ඒ වෙනකොට බුදුරජාණන් වහන්සේ දකින්න එනකොට ඒ සංවේගයෙන්. **අර කලින් හිටි ඇමතියාම** නොවෙයි.

ඉතින් කොහොම හරි නාට්‍යය තුළින් අපට පෙනෙනවා අර ඇමතියා ආස්වාද තත්වයෙන් ඊළඟට ආදීනව දුටුවා තිළියගේ හදිසි මරණය නිසා. ඊළඟට නිස්සරණය සොයාගෙනයි බුදුරජාණන් වහන්සේ ළඟට ආවේ. ඒ නිස්සරණයට උපකාර වෙන්න, බුදුරජාණන් වහන්සේගේ ධර්ම දේශනාව කෙටි ගාථාවක් වුනත් අපි දන්නවා මහ පුදුමයි. එතැන අපිට හිතාගන්නත් බැරිතරම් දෙයක්. චරිතයන්ගේ ආසය, අනුසය, අතීතයේ අරගෙන ආපු ශක්තීන් බුදුරජාණන් වහන්සේට පෙනෙනවා. කර්මස්ථාන වඩල තියෙනවා නම් ඒකත් පෙනෙනවා. ඒවාට අනුවයි බුදුරජාණන් වහන්සේ යම් ගාථාවක් ප්‍රකාශ කරන්නේ.

දැන් මේ ගාථාව ගැඹුරු ගාථාවක්. අතීතයේ ධර්මඝෝෂක කර්මයෙන් යම් පුණ්‍ය ස්කන්ධයක් - අනෙක් අය ධර්මයට උනන්දු කරවීම කියන එක විශාල පිනක්. **ලෝකයේ කරන්න පුළුවන් ලොකුම දෙය තමයි ධර්මයෙන් පිහිටවීම. මුළු ජීවිතයම ධර්මඝෝෂක වෘත්තියේ හිටියානම් විශාල පුණ්‍ය ස්කන්ධයක්, පාරමී ශක්තියක්, ඒ පුද්ගලයා තුළ තිබෙන්න ඇති.** ඒක මතුවුනේ, මේරීමට පත්වුනේ. මුහුකුරා ගියේ අන්න අර බුදුරජාණන් වහන්සේ ප්‍රකාශ කළ කෙටි ගාථාවෙන්. ඒ ගාථාව ප්‍රහේලිකාවක් වගේ සාමාන්‍ය කෙනෙකුට. මොකක්ද ඒකෙන් කියවෙන්නේ?

"යං පුබ්බෙ තං විසොසෙහි" කලින් යමක් තිබුනා නම් ඒක වියළා දමව. මොකක්ද මේ කලින් තිබුන දේ? අතීත සංස්කාරයි. බුදුරජාණන් වහන්සේ සන්තති ඇමතියට කීවා නේ ඔබ මේ දීර්ඝ සංසාරයේ මේ තැනැත්තිම මේ විධියටම මරණයට පත්වීම නිසා හෙළන ලද කඳුළු සතර මහා සාගරයට වැඩියි කියලා. ඉතින් ඔය ජීවිත ප්‍රවෘත්ති සඳහන් වෙනවා ධම්යේ ඇතැම් අය වාර පන්සිය ගණන්, ඊටත් වැඩි ගණන් ස්වාමි පුරුෂයන්, භාර්යාවන් හැටියට එකතු වෙනවා. අම්මා දරුවන් හැටියට එකතු වෙනවා. තවත් නොයෙකුත් විදියට එකතු වෙනවා මේ තරම් දීර්ඝ සංසාරයේ අර එක එක්කෙනාට තියෙන ආකර්ශණ ශක්තිය නිසා. අපට මෙතන හිතාගන්න තියෙන්නේ අර තිළියත් එක්ක යම්කිසි සාංසාරික සම්බන්ධයක් තියෙන්න ඇති සන්තති ඇමතියාට. ඉතින් කොහොම හෝ වේවා සන්තති ඇමතියාට අර සංසාරය පසුබිම් කරගෙන සංසාරයේ දීර්ඝ කාලයක් කඳුළු සාගරයක් හෙළලා තියෙන්නේ මේ තැනැත්තිය වෙනුවෙන් කියලා ඒකේ ආදීනව පක්ෂයත් වැටහුනා. දැන් මෙතන '**අර කඳුළු සාගරය වියලා දමව**' කියන එකවගෙයි හරියට බුදුරජාණන් වහන්සේ ප්‍රකාශ කළේ ඒක තුළ තියෙන්නේ අතීත සංස්කාර. මේ සංස්කාර කියලා කියන්නේ - ඒකත් අපි ටිකක් විග්‍රහ කරලා බලමු.

සංස්කාර කියලා කොතෙකුත් යෙදෙනවා. නමුත් මේක ගැන ඇත්ත වශයෙන්ම ගැඹුරින්ම අවබෝධ කරගන්න නම් භාවනාමය වශයෙනුයි අවබෝධ කරගන්න ඕනෙ. කෙටියෙන් ඒකට ඉඟියක් දෙනවා නම් කියන්න තියෙන්නේ ඒකත් නාට්‍යය ආශ්‍රයෙන් කියන්න පුළුවන්. පැරණි දඹදිව සංස්කාර කියන වචනය යෙදුනේ බොහෝවිට නාට්‍යය ආශ්‍රයෙන්. නිළියක් වේදිකාවට එන්න කලින් කොච්චර හැඩවැඩ දානවාද? අහපසඟ. මේ කාලෙත් දන්නවානේ? නානාවිධ, අපි අමුතුවෙන් කියන්න ඕන නෑ, **ඇත්ත වශයෙන් දත් මහ පාරෙත් නිළියන් දකින්න ලැබෙන්නෙ.** ඒ මොකද තමන්ගේ ස්වාභාවික ස්වරූපය නොවෙයි. නානා විධ වර්ණ යොදලා වෙනසක් කරගෙනයි වේදිකාවට එන්නේ. ඒවාට කියනවා අංග සංස්කාර කියලා. නාට්‍යයේ දක්වන ජවනිකාවට ගැලපෙන ආකාරයට යම් යම් කෘත්‍රිම, ව්‍යාජ, වෙනස් කිරීම් රාශියක් කරනවා. ඒකයි මූලික වශයෙන් සංස්කාර කියන වචනයේ අර්ථය. එතකොට මුළු මහත් ජීවිතයේම අපි කරන දේවල් සංස්කාර නමින් බුදුරජාණන් වහන්සේ හඳුන්වන්නේ ඔන්න ඔය කියන ගැඹුරු අර්ථය අනුවයි. අපි මේ ජීවත් වෙනවා කියලා දරණ ප්‍රයත්නය තුළ තියෙන හොඳ හෝ නරක කර්ම තුළම ගැඹුරින් සළකලා බලනකොට තියෙන්නේ අපි මේ 'මමය 'මගේය' කියලා ගත්තු එක පෝෂණය කිරීමයි.

ධර්මයේ ගැඹුරින් දක්වෙනවා ඒක තැනක පෘථග්ජන පුද්ගලයා රූපය ආත්මය වශයෙන් දකිනවා. "රූපං අත්තතො සමනුපස්සති" රූපය ආත්මය වශයෙන් සලකනවා. "**යා ඛො පන සමනුපස්සනා - සංඛාරො සො" ඒ ආත්මය වශයෙන් සැලකීමම සංස්කාරයක්.** මොකද බුදුරජාණන් වහන්සේ දක්වලා තියෙනවා දත් ඔය 'සක්කාය දිට්ඨිය' කියලා කියන්නේ සාමාන්‍ය පෘථග්ජනයා 'මමය' 'මගේය' කියලා ආත්මයක් තියෙනවා කියලා හිතන එක ව්‍යාජ වශයෙන් හිතා ගත්තු දෙයක්. එහෙම නැත්නම් ඒක ආරෝපණය කර ගත්තු දෙයක්. කොහොමද ආරෝපණය කරගන්නේ? තමන්ට තියෙනව ශරීරයක්. එක්කෝ හිතනවා 'මේ ශරීරය තමයි මගේ ආත්මය' එහෙම නැත්නම් ආත්මය කියන්නේ ශරීරයක් ඇති එකක්. එහෙම නැත්නම් හිතනවා රූපය තුළ මගේ ආත්මය තියනවා. එහෙමත් නැත්නම් ආත්මය තුළ රූපය තියෙනවා. **ඔය විධියට හතර ආකාරයකින් එක එක ස්කන්ධය දිහා බැලීමම සංස්කාරයක් හැටියට බුදුරජාණන් වහන්සේ දක්වලා තියෙනවා.** රූපය ආත්මය හැටියට සලකනවා. ආත්මය රූපය ඇති දෙයක් හැටියට සලකනවා. ආත්මය තුළ රූපය තියෙනව කියල හිතනවා. රූපය තුළ ආත්මය ඇත කියා හිතනවා. ඔය කියන්නේ රූපය අත හරින්න බැරිකමයි ඒකෙන්

පෙන්නුම් කරන්නේ. දැන් ඔය තමන්ගේ ඡායාරූපයක් දැකලා 'හා, මේ මමයි' කියලා කියන්නේ. මේ මගේ ළමා කාලය. 'මේ මගේ තරුණ කාලය' කියලා කියන්නේ. ඉතින් ඒ කියන්නේ රූපය ගත්තා 'මමය' කියලා. ඒ විධියටම තමයි වේදනාවත්. ඒ විධියටම තමයි සංඥාවත් - හැඳිනීම. ඒ විධියටම තමයි සංස්කාරත්. සංස්කාර සකස් කිරීමත් ඒ විදියට ගන්නවා දැන් අර නිළිය වේදිකාවට එන කොට වේදිකාවෙන් පිටිපස සිටි තැනැත්තිය නොවේ. ඒ වෙලාවට හිතා ගන්නවා. මම රඟපාන ජවනිකාවට එකඟව රඟපාන්න ඕන කියලා. ගෙදර හිටියා වගේ නොවෙයි.

ඉතින් එතනත් පෙනෙනවා **ඒ සංස්කාරවල තියෙන්නෙ ව්‍යාජ ස්වභාවය. ඒකයි සංස්කාර කෙහෙල් කඳකට උපමා කරලා තියෙන්නේ.** කෙහෙල් කදේ හරයක්, අරටුවක් නැහැ. නිස්සාරයි. මේ විඤ්ඤාණය කියල කියන්නේ මමය, මාගේය කියලා හිතා ගැනීමයි. ඒ හිතටයි. ඒ විදියට ඒ එක එකක් පිළිබඳවම සලකල බලනකොට එතනමත් සංස්කාර. සංස්කාර කියන එක තේරුම් ගන්න පොඩි ඉඟියක් ඔය දුන්නේ. අර අවිද්‍යාව නිසා වෙන දෙයක් හැටියටයි බුදුපියාණන් වහන්සේ දක්වන්නේ. අවිද්‍යාව කියලා කියන්නේ මොකද්ද? මේ මුළු මහත් සංසාර පැවැත්ම දුකක් බව නොදැනීමයි. ඒක දුකක් බව නොදැනීම නිසා යම්කිසි සකස්කිරීම් රාශියක් අපි මේ ජීවිතය තුළ කරනවා. ඒක තුළ අවසානයේ දුක ලැබෙන බව බුදුරජාණන් වහන්සේ කියනවා. අපිට ඒක නොතේරෙන නිසා මේ සංස්කාර රැස් කරමින් සංසාරයේ දිගින් දිගට යනවා. ඔතනයි ඔය පොඩි කතන්දරයෙ තියෙන්නේ පටිච්ච සමුප්පාද ධර්මය -කෙටියෙන් සැළකුවොත්- ඉතින් කොහොම හරි ඔය සංස්කාර අතීත සංස්කාර. අතීතයේ සන්තති ඇමතියා අර තැනැත්තිය හා සම්බන්ධ සංස්කාර ඔක්කොම අනිත්‍ය බව තේරුම් ගත්තා. **'යං පුබ්බෙ තං විසොසෙහි'** ඒ සංස්කාර වියළා දැම්මා. අර ශෝකය වියළා ගත්තා.

ඊළඟට **'පච්ඡා තෙ මාහු කිඤ්චනං'.** ඔය විදර්ශනා භාවනා කරන පින්වතුන් දන්නවා ඔය සංස්කාර සම්මර්ශණය කියලා කියන්නේ සංස්කාර මෙනෙහි කිරීම- දැන් ධර්මයේ, විදර්ශනාවේ කියන්නේ මේ අපි ලෝකයේ කර්ම හැටියට ගන්නෙත් ඒවාමයි. මේ අපේ සියලුම සංස්කාර. ඇත්ත වශයෙන් හැම දෙයක්ම අනිත්‍යයි කියලා කියන්නේ. 'සබ්බෙ සංඛාරා අනිච්චා' කියලා කියන්නේ මේ පැවැත්ම තුළ ඇති අපේ මේ සිතුවිලි, සිතට පහළවන විතර්ක. **ඇත්ත වශයෙන් අතීතය කියල කියන්නේ හිතින් ගත්තු දෙයක් නේ.** එතැනත් සංස්කාර. ඒ අතීත සංස්කාර ඒ හැම එකක්ම අනිත්‍යයි කියන එකයි බුදුපියාණන් වහන්සේ ප්‍රකාශ කරන්නේ. ඒවාගේම ඒවා නිස්සාරයි. 'මමය' 'මාගේය' කියලා ගන්න සාරයක්

නැහැ. ඊළඟට ඒ අතීත සංස්කාර දැන් නැති නිසා අපට පහසු වෙනව. ඒක සලකා ගන්න පුළුවන් හීනයකින් අවදි වුනාට පස්සෙ හීනය බොරු බව තේරුනා වගේ. දැන් ඒක නිසා අතීත සංස්කාරවල අනිත්‍යතාව තේරුම් ගැනීම පහසුයි විදර්ශනා යෝගියාට. ඒ වගේම තමයි අනාගත සංස්කාර ගැනත්. ඒ න්‍යාය අනුවම හිතා ගන්න පුළුවන් අනාගතයේ තමා සංස්කාර ඇතිකර ගන්නවා නම් ඒවත් ඒවගේම විනාශ වෙනවා.

**තමුත් අමාරුම දේ තමයි වර්තමානය. වර්තමානය තමයි මැද. 'මජ්ඣෙ වෙ නො ගහෙස්සසි'** සාමාන්‍ය පුද්ගලයා මේ වර්තමානයේ ප්‍රත්‍යුත්පන්න කියලා කියනවා - වර්තමානයේ සංස්කාර දැඩිව අල්ලා ගන්නවා. **එහෙම නැත්නම් පැවැත්මකුත් නැහැ නේ.** ඒ අතීතය ගිය දේ ගියා කියල පහසුවෙන් තේරුම් ගන්න පුළුවන්. අනාගතයෙ එන දේ තාම ආවේ නැහැ. සමහරවිට ආවත් ඔච්චර තමයි කියලා හිතා ගන්න පුළුවන්. නමුත් මේ මේ මොහොතේ ඇති රූප, වේදනා, සඤ්ඤා, සංඛාර, විඤ්ඤාණ දැඩිව අල්ලා ගන්න ස්වභාවයක් තියෙනවා. දැන් මෙතැනදී සන්තති අමාත්‍යයා කළ හපන්කම තමයි අර ඇතිවුන සංවේගය තුළින්, 'නිබ්බිදාව' කියන සසර කළකිරීම තුළින්, ප්‍රඥාවෙන් මේ තත්ත්වය දැකීම. අන්න ඒකයි මාර්ගඵල අවබෝධය වෙන්නේ. අනිත්‍යතාව තුළින් මතුවන විදර්ශනා ඥාන මෝරලා ගිහිල්ලා ඒක බිඳීම තුළින් සසර කලකිරීම ඇති වෙනවා. කලකිරීම තුළින් මේ සසරින් මිදීමේ ඕනෑකම ඇතිවෙනවා. ඒ තුළින් ත්‍රිලක්ෂණය ගැඹුරින් දැකලා ඉතාම ශීඝ්‍ර අත්දමින්, සියුම් අත්දමින් සිත තුළ ඇතිවන පරිවර්තනයක ප්‍රතිඵලය වශයෙනුයි මාර්ගඵල අවබෝධය කෙනෙක් ලබන්නේ. ඉතින් ඒකට මූලික වන්නේ 'නිබ්බිදා' කියල කියන සසර කලකිරීම මේ සිද්ධිය පසුබිම් කරගෙන. අන්න ඒකයි බුදු පියාණන් වහන්සේ හරියට තැන බලලා 'තැනට ඇණේ ගැහුවා වගේ' හරියටම ඒ පුද්ගලයා එන වේලාව එනකන් ඉඳලයි. ඒකයි බුදුපියාණන් වහන්සේ මද සිනහවක් පහළ කළේ. බුදුපියාණන් වහන්සේට පෙනෙනවා මේ පුද්ගලයාට උදවු කරන්න පුළුවන් වෙලාව. නැත්නම් සන්තති ඇමතියා හිස සලලා යන වේලාවේ කියන්න තිබුනා නේ 'පොඩ්ඩක් මේ බණක් අහලා යන්න' කියලා. නැහැ ඒ ඔක්කොම ගිහිල්ලා මට්ටු වෙලා එනකන් හිටියා. වෛරී මතන් හිඳවා ගෙන ආවාට පස්සෙයි, වෙලාව ආවට පස්සෙයි, පොඩි දේශනාව කළේ. සන්තති ඇමතියාට ගැඹුරින්ම වැටහුනා. **"මජ්ඣෙ වෙ නො ගහෙස්සසි" මැද වර්තමාන සංස්කාරත් දැඩිව ගත්තේ නැත්නම් "උපසන්තො චරිස්සසි" උපශාන්තව හැසිරෙන්නෙහිය, කියල කියන්නේ රහත් බවයි.**

ඔන්න ඕකයි ඉතින් අපට මේ කථාන්තරය තුළින් ගන්න තියෙන්නේ. මෙබඳු සිද්ධි කොතෙකුත් ධර්මයේ සඳහන් වෙනවා. මේ කාලයේ කෙනෙකුට ප්‍රශ්න කරන්නත් පුළුවන්. ඒ වගේම අපට අතික් පැත්තට කියන්න තියෙනවා මේක න්‍යාය කරගෙන ඇතැම් කෙනෙක් කල්පනා කරනවා කෙටි ගාථාවක් ඇසූ පමණින් හැම කෙනාටම මේ තත්ත්වය ලබන්න පුළුවන් කියලා. ඒ විධියට අපි හිතන්න නරකයි සාධාරණ වශයෙන්. **මේක අති විශේෂ දෙයක්. විශේෂ දෙයක් නොවේ.** අති විශේෂ සිද්ධීන් මේ ධර්මයේ සටහන් වෙලා තියෙන්නේ. ඒවයි පසුබිම හරියාකාරව තේරුම් ගන්න ඕනෑ.

ඉතින් ඊළඟට මෙතැනදී මතු කරගන්න ඕනෑ සසර කලකිරීමට හේතු වන දේ. අපි ආරම්භ කළෙත් මේ ජීවිතයේ - දත් මෙතන වෙරීමත පමණක් නොවෙයි මේක තුළත් තියෙනවා මේ සන්තති අමාත්‍යයාට අර තරම් වීර ක්‍රියාවක් කරන්න උපකාර වන්න ඇත්තේත් යෞවන මදය, ආරෝග්‍ය මදය ආදිය. ඒවා පිහිට කරගෙන තමයි. ඊළඟට ජීවිත මදය, අනිත් අය ජය අරගෙන ආවා. ඊළඟට භෝග මදය, රජ සැප දුන්න. ඒ භෝග මදයෙන් ඇතිවුන මත්වීම පිටම තමයි මුළු හත්දවසම රජ සැප විඳින්න පටන් ගත්තෙ. **මේ මැද කියලා කියන්නේ ඇත්ත වශයෙන්ම අපි කල්පනා කරල බැලුවොත් අර හත් දවසයි. ඒ හත් දවසේ වින්ද රජසැපයේ හිස් බව තේරුම් ගත්තා.** එතකොට ඒක අත හරින්න පහසුයි. ඒක ඒ විධියට තේරුම් ගත්තා නම් මේ සිද්ධිය නිසා ඇතිවුන සංවේගය එතනම නැතිවෙනවා. ඒ සංවේගය ජයගන්න පුළුවන් වෙනවා. ඊළඟට ඊට වඩා ගැඹුරින් වැටහෙනවා මේ සංසාරයේ භයානකත්වය. සංසාරයේ දීර්ඝ කාලයක් අපි මේ විධියට ගත කළා නේද, කඳුළු සාගරයක් නේද කියලා? ඉතින් මේ අංශය - ධර්මයේ මේ අංශය - මේ කාලයේ වැඩිදෙනෙක් එළියට ගත්තේ නැහැ. අපි බොහෝ අවස්ථාවල මතක් කළා දත් රටාව වෙල තියෙන්නෙ මේ අපේ ශාසනය ආරක්ෂා කිරීම් වශයෙනුත් මේ ධර්මය ඉදිරියට ගෙනයාම් වශයෙනුත් වැඩිපුර එළියට ගන්නෙ **මේ ලෝක වර්ධන පැත්තයි.** ලෝකය වඩනව. බුදුපියාණන් වහන්සේ කියල තියෙනවා **'න සියා ලෝක වඩ්ඪනො'** ලෝක වර්ධකයෙක් වෙන්න එපා කියල. එහෙම නැත්නම් සුසාන වර්ධකයෙක් වෙන්න එපා කියල. **මේ සංසාරය වඩන එක, ලෝක වර්ධන සුසාන වර්ධන ප්‍රතිපත්තියක්** - ඒකට ගැලපෙන්නෙ නැහැ මේ කියන සසර කලකිරීම කියන එක. ඒ නිසා ඒ විදියේ දේවල් ගැන වැඩි අවධානයක් මේ කාලයේ යොමුකරන්නේ නැහැ. නමුත් බුද්ධ කාලයේ බොහෝ අවස්ථාවල බුදුපියාණන් වහන්සේගේ ධර්මයට සවන්දෙන සංඝයා වහන්සේලාටත්, ගිහියන්ටත්, ප්‍රශ්නයක් අහන්න

එන අයටත්, නිතර මතක් කර දුන්න මහ පුදුම ප්‍රබල සංවේග ඇතිවෙන විදියෙ සසර කලකිරෙන විදියේ දේශනා මාලාවක් තියෙනවා.

ඒවා හඳුන්වන්නේ 'අනමතග්ග සූත්‍ර' කියලා. අනමතග්ග සංයුත්තයේ ඒ ධර්ම කොට්ඨාස ගණනාවක්ම සඳහන් වෙනවා. අනමතග්ග සූත්‍ර නමින් ඒවා හඳුන්වන්නේ මොකද? බුදුපියාණන් වහන්සේ නැවත නැවත මතක් කරලා දෙනවා මේ සංසාරය කියලා කියන්නේ අග් මුල් නොපෙනෙන දෙයක්. මේකෙ මුල ආරම්භය, සොයා ගන්න බැරිය කියන එකට දෙන උපමා- ඒ සම්බන්ධ දේශනා - අහලා එවේලේම රහත් වෙලා තියෙනවා සංඝයා වහන්සේලා. දැන් මෙතන අපි පටන් ගත්තේ කඳුළු සාගරය ගැන කියලා. ඉතින් ඒ දේශනාව ධර්මයේ වඩා සවිස්තරව සඳහන් වෙනවා. බුදුපියාණන් වහන්සේ අහනවා **"මහණෙනි තුඹලා කුමක්ද හිතන්නේ මේ දෙකෙන් මොකක්ද වැඩි? මේ දීර්ඝ සංසාරයේ අවිද්‍යාවෙන් වැහිල තණ්හාවෙන් බැඳිල තුඹලා දීර්ඝ කාලයක් යන අතරේ අමනාප අය හා එක්වීමෙන් මනාප අයගෙන් වෙන්වීමෙන් ඒ අවස්ථාවල හෙළන ලද කඳුළුද වැඩි සිවු මහා සමුදුරේ ජලයද වැඩි"?** ඒ ප්‍රශ්නය ඇහුවම සංඝයා වහන්සේලා ප්‍රකාශ කරනවා නිහතමානීව "භාග්‍යවතුන් වහන්ස ඔබ වහන්සේ විසින් දේශනා කරන ලද ධර්මය අපි හරියාකාරව තේරුම් ගත්තා නම් ඒ දීර්ඝ සංසාරයේ අමනාප අය හා එක්වීමෙනුත්, මනාප අයගෙන් වෙන් වීමෙනුත් එබඳු අවස්ථාවල හෙළූ කඳුළුයි වැඩි, සතර මහා සමුදුරයේ ජලය අඩුයි". "සාධු! සාධු!! එසේය මහණෙනි" කියල බුදුපියාණන් වහන්සේ ප්‍රකාශ කරනවා. මොකද මේ සංසාරය අග් මුල් නොපෙනෙන දෙයක්. පටන් ගන්න තැනක් කියන්න බැහැ. දීර්ඝ කාලයක් සංසාරයේ දුවන අයගේ ආරම්භය මෙතනයි කියලා කියන්න බැහැ. මුල් කෙළවරක් නොපෙනේ කියල ඔය විදියට දේශනා කරනවා. ඒක ආශ්‍රයෙන් ඊළඟට කියනවා අර සියලු සංස්කාර කෙරෙහි කළකිරෙන්න කියලා ඒ දේශනාවෙ.

ඉතින් ඔය විදියට ඊළඟට කියනවා 'මහණෙනි, තුඹලා තමන්ගේ මවු සඳහා පමණක් මේ දීර්ඝ සංසාරයේ හෙළූ කඳුළු එකතු කරලා ගත්තොත් ඒ කඳුළු සිවු මහා සමුදුරට වඩා වැඩියි.' ඒ එකක් එකක් පිළිබඳව අර ඉස්කෝලෙක යම් කිසි කාරණයක් ළමයින්ට ගැඹුරින් තේරුම් කරන්න ඕන නම් ගුරුවරයා ඒක නැවත නැවත මතුකරලා දෙනවා වගේ බුදුපියාණන් වහන්සේත් **'මොකද මහණෙනි හිතන්නේ. තමන්ගේ මවු පිළිබඳව හෙළූ කඳුළුද වැඩි සතර මහා සමුදුරේ ජලයද වැඩි?** ඊළඟට පුතා පිළිබඳව, දුව පිළිබඳව ඔය විධියට ඥාතීන් නැතිවීම නිසා, භෝගය නැතිවීම නිසා, රෝග ව්‍යසනය නිසා, ඒවා නිසා හෙළූ කඳුළුද වැඩි සිවු මහා සමුදුරේ ජලයද වැඩි කියලා අහනවා. ඒකට උත්තර දෙන්නේ සිවු මහා සමුදුරේ ජලය අඩුයි කඳුළුයි වැඩි. ඔය විදියට කඳුළු සාගරේ පිළිබඳ

දේශනා රාශියක් ඒ ඒ තැන්වල තියෙනවා.

ඒ වගේම ඊළඟට තියෙනවා තවත් දේශනා **'මව්කිරි සාගරයක්'** ගැන. ඉතින් එතැනත් එහෙමයි අහන්නේ. **'මහණෙනි, තුඹලා මොකක්ද හිතන්නේ දීර්ඝ සංසාරයේ අවිද්‍යාවෙන් වැහිලා තණ්හාවෙන් බැඳිලා මේ සංසාරයේ දුවපු තුඹලා බීපු මවුකිරිද වැඩි මේ සිවු මහා සමුදුරේ ජලයද වැඩි?'** එතැනත් සංඝයා වහන්සේලා පිළිතුරු දෙනවා. "භාග්‍යවතුන් වහන්සේගේ ධර්මය අපි හරිහැටි තේරුම් ගත්තා නම් ඒ මවුකිරි වැඩියි, සිවු මහා සමුදුරේ ජලය අඩුයි". ඉතින් ඒකෙනුත් මේ සංසාරයේ දීර්ඝ බව, මේ තරම් දීර්ඝ කාලයක් අපි මේ සංසාරයේ ගමන් කරලා තියෙන බව දක්වෙනවා.

ඒවගේම ඊටත් වඩා සංවේගජනක තවත් දේශනාවක් තියෙනවා. ලේ සාගරය ගැන. ඒක ඉතාමත්ම ප්‍රකට දේශනාවක්. ඒක දේශනා කළෙත් පාවා නුවර සිට ආපු භාවනාවේ යෙදුන උග්‍ර ධූතංගධාරී සංඝයා වහන්සේලා තිස් නමක් සඳහායි. ඒ තිස්නම බුදුරජාණන් වහන්සේ ළඟට එනවිට කිසිම මාර්ගඵලයක් ලබලා තිබුණේ නැහැ. නමුත් බුදුරජාණන් වහන්සේ දේශනාව පටන්ගත්තා. **"මොකක්ද මහණෙනි, හිතන්නේ මේ දෙකින් මොකක්ද වැඩි? මේ දීර්ඝ සංසාරයේ තුඹලා හිස සුන් අවස්ථාවල ගලන ලද ලේ ද වැඩි සිවු මහා සමුදුරේ ජලයද වැඩි?"** "බුදුරජාණන් වහන්සේගේ ධර්මය අපි හරිහැටි තේරුම් ගත්තා නම් ඒ ලේම තමා වැඩි" කියලා සංඝයා වහන්සේලා පිළිතුරු දෙනවා. එතනින් නවත්වන්නෙත් නැහැ. ඊළඟට බුදුපියාණන් වහන්සේ අහනවා **"තුඹලා ගවයන් වෙලා විතරක් හෙළන ලද ලේ, මී හරකුන් වෙලා විතරක් හෙළන ලද ලේ, බැටළුවන් වෙලා, එළුවන් වෙලා, ඌරන් වෙලා, කුකුළන් වෙලා හෙළන ලද ලේ ද වැඩි සිවු මහා සමුදුරේ ජලයද වැඩි"?** කියලා. ඒක මේ කාලය ගැන හිතලා බැලුවත් අතිශයෝක්තියක් නොවන බව මේ පින්වතුන් දන්නවා. සතුන් මැරෙන ප්‍රමාණය ගැන හිතල බලන කොට - සමහර විට තමන්ගේ ඥාතීන් වෙන්නත් පුළුවන්. බුදුරජාණන් වහන්සේ කවදාවත් අතිශයෝක්තියක් ප්‍රකාශ කරන්නේ නැහැ. අතිශයෝක්තිය කියන්නේ බොරුවක්. ඒතකොට මේක බොරුවක් නොවේ. **මේකට උපමාවකුත් නැහැ කියනව.**

ඔය විදියට තවත් මහ පුදුම දේශනා තියනවා. ඒ ඒ පැති වලින් බුදුපියාණන් වහන්සේ දක්වන්නේ මේ සංසාරයේ භයානක කමයි. ඇත්ත වශයෙන් අපි අර සංවේග වස්තු ගැන කීවා නේ? ජරාව, ව්‍යාධිය, මරණය ආදීය ප්‍රකට දේවල්. තවත් එකක් තියනවා. අතීත සංසාරයේ විඳින ලද දුක, අනාගතයේ විඳින්න තියෙන දුක - රහත්නුනොත්. ඒවාත් සංවේග වස්තු. ඒවා ගැන මේ කාලයේ එතරම් සැලකීමක් නැහැ. නමුත්

ශ්‍රද්ධාවන්තයාට මේ සූත්‍ර දේශනා ඉතාමත් අර්ථවත්, ඒවා ගැඹුරට වැදුනොත්. කොටින්ම කියතොත් මේ පාවා නුවර ඉඳලා ආපු සංඝයා වහන්සේලා තිස් නම ඔය දේශනාව අහලා, සියලු ආශ්‍රවයන් ක්ෂය කරලා උතුම් රහත් බව ලබා ගත්තා කියලා සඳහන් වෙනවා.

එයින් අපට පෙනෙනවා මේ සංසාරය පිළිබඳ සංවේගය ඇතිකර ගන්නේ නැතිව, සසර කලකිරීම ඇතිකරගන්නේ නැතිව, මේ කියන උසස් තත්ත්ව ලෝකෝත්තර තත්ත්ව ඇති කර ගන්න බැහැ කියල. **ලෝකය ගැන කලකොකිරී ලෝකෝත්තර තත්ත්වයන් ඇති කර ගන්න බැහැ.** යම් යම් මට්ටම් වලින් කලකිරෙන්න ඕනෑ. සමහර අය භය වෙන්න පුළුවන්. එහෙම වුනොත් අපට ගිහිජීවිතය ගෙනයන්න බැහැ කියල. එක් එක් මට්ටම් තියනවා. ඒ අවස්ථාවේ සිත අර ලෝකෝත්තර තත්ත්වයට පමුණුවා ගත්තා නම්, බුදුපියාණන් වහන්සේ දේශනා කරන්නේ අමුතු දෙයක් නොවේ. චතුරාර්ය සත්‍යය තේරුම් ගන්න ඕනෑ බවයි. චතුරාර්ය සත්‍යයේ දුක්ඛ සත්‍යය කියන්නේ ඕකයි. **දුන් නම් දුක්ඛ සත්‍යය කියලා තෝරන්නේ ඉස්පිරිතාලවල ලෙඩ වෙලා ඉන්න අයටයි, කන්න බොන්න නැති දුගී අයටයි, ලෝකයේ නොයෙකුත් නිලතල ආදිය බලාපොරොත්තු වන අයටයි, අවශ්‍ය දේ නොලැබීම තමයි දුක. ඒවා ලබලා දුන්නොත් සැප.** ඔය විදියේ පටු දර්ශනයක් තුළයි බුද්ධ ශාසනය පිළිබඳ අදහසුත් යන්නේ. නමුත් ඇත්ත වශයෙන් නිවන බලාපොරොත්තු වෙනවා නම් කෙනෙක්, අති දීර්ඝ කාලයක් මේ මේ විධියට සංසාරයේ ගමන් කරලා තියෙනවා නේද කියලා ලොකු සංවේගයක් ඇති වෙනවා නම්, ඒක තුළිනුයි භවය ගැන කලකිරෙන්නේ. භවය ගැන කලකිරෙන්නෙ නැතුව - අපි කියන්නෙ අර භව රාගය කියලා බුදුපියාණන් වහන්සේ දක්වලා තියෙන්නේ ලෝකයා තුළ තියෙන සියුම්ම ඇල්ම තමයි භවයට තියෙන, පැවැත්මට තියෙන ඇල්ම. ඒක කඩාගන්න නම් සංසාරයේ තියන බියකරු බව, සංසාරයේ දීර්ඝ බව නිතර මෙනෙහි කරන්න ඕනෑ.

ඒ විධියේම තවත් දේශනා තියෙනවා. එක දේශනාවක බුදුපියාණන් වහන්සේ ප්‍රකාශ කරනවා තම තමන්ගේ මවු පරපුර ගැන. ඒකත් හොඳ උපමාවක්. ඒකත් බුදුපියාණන් වහන්සේ කතන්දරයක් වගේ ඉදිරිපත් කරනවා. දුන් මහණෙනි, මේ මුළු මහත් දඹදිව තියෙන ගස් කොළන් අතු රිකිල් අඟල් හතරේ කෑලි වලට කපලා, එක එක කෑල්ල අරගෙන මේ මගේ මවු, ඊළඟ කෑල්ල අරගෙන මේ මගේ මවුගෙ මවු, ඊළඟ කෑල්ල මේ මගේ මවුගේ මවුගෙ මවු ඔය විදියට කෑලි එක එකක් අරගෙන අතීත මවු පරම්පරාව ගණන් කරන්න ගියොත් ලී කෑලි ඉවර වේවි, මවු පරපුර ඉවර නෑ. අන්න ඒ උපමාවත් දක්වනවා ඒකෙන් පෙන්නුම් කරන්නේ මේ දීර්ඝ කාලයක් මේ විධියට සංසාරයේ ගමන් කරලා තියෙනවා. ඊළඟට පියා

පිළිබඳවත් ඒ විධියටම දක්වෙනවා.

මුළු මහත් පොළව මැටි ගොඩක් කරගෙන පුංචි පුංචි මැටි ගුලි හදලා එක මැටි ගුලියක් ඉවත් කරනවා 'මේ මගේ පියා' කියලා. මේ මගේ පියාගෙ පියා. මේ මගේ පියාගෙ පියාගෙ පියා කියලා. ඔය විධියට ගණන් කරලත් අර හිටපු පියවරු ගණන ඉවර කරන්න බැහැ කියල බුදුරජාණන් වහන්සේ ප්‍රකාශ කරනවා.

ඔන්න ඔය විදියෙ දේශනා තියෙනවා. තව තැනක තියනවා මේ කල්පයේ දීර්ඝ බව ගැන. ඒකෙදිත් එක සංඝයා වහන්සේ කෙනෙක්ම ඇවිල්ල අහනවා බුදුපියාණන් වහන්සේගෙන් - භාග්‍යවතුන් වහන්ස මේ කල්පය කියන එක කොච්චර දිග එකක්ද? 'මහණ, මේ කල්පය කියන එක වර්ෂ ගණන් වලින්, වර්ෂ සිය ගණන් වලින්, වර්ෂ දහස් ගණන් වලින්, වර්ෂ සිය දහස් ගණන් වලින් මැනල නිම කරන්න බැහැ'. 'එහෙනම් භාග්‍යවතුන් වහන්ස උපමාවක්වත් දෙන්න පුළුවන්ද?' 'පුළුවන්, මොකක්ද උපමාව? යොදුනක් උස, යොදුනක් පළල, යොදුනක් දිග, මහා ගල් පර්වතයක් තියනවා. 'ඒක ඝන' පර්වතයක් තියෙනවා මැද සිදුරක්වත් නෑ. එක පුරුෂයෙක් වර්ෂ සියයකට වරක් කසී සළුවක් අරගෙන ඇවිල්ලා අර ගල් පර්වතයේ අතුල්ලනවා. අතුල්ලලා යනවා. එහෙම කසී සළුව ඇතිල්ලීමෙන්, අවුරුදු සීයකට වරක් ඇතිල්ලීමෙන්, අර යොදුනක් උස, පළල, දිග පර්වතය ගෙවිලා යනවා නමුත් කල්පය ගෙවී යන්නේ නැහැ. ඒ තරම් කල්පය දිගයි.

තවත් උපමාවක් දක්වනවා යොදුනක් දිග, පළල, උස ඇති යකඩ බිත්ති ඇති නගරයක පුරවලා තියෙනවා අබ ඇට. අවුරුදු සියයකට වරක් කෙනෙක් ඇවිල්ල අබ ඇටයක් ඉවත් කරනවා. අර අබ ඇට ඉවරවෙච්චි කල්පය ගෙවිලා යන්නෙ නැහැ.

තවත් තැනක තියනවා. බ්‍රාහ්මණයෙක් ඇවිල්ලා අහනවා 'භාග්‍යවතුන් වහන්ස කොයි තරම් කල්ප අතීතයේ තිබිලා තියනවද?' අතීත කල්ප කොච්චරද? එතකොට බුදුරජාණන් වහන්සේ එතනදීත් ගණනක් කියන්න බැහැ කීවාම උපමාවක් ඉල්ලුවහම කියනවා. බමුණ මේ ගංගානම් ගඟ පටන් ගන්න තැන ඉඳලා මුහුදට වැටෙන තැන දක්වා යම් වැලි ප්‍රමාණයක් තිබෙනව නම් එක් එක් වැලි ඇට ගණන් කරන්න පුළුවන් නම් අන්න ඒ වැලි ඇටවලටත් වැඩියි කෙනෙක් අතීතයේ ගත කරපු කල්ප ගණන. ඔය විදියට දක්වනව. තව කෙනෙක් අහනවා ඒත් ඔය කල්පය කියන එකේ ප්‍රමාණය ගැන- බුදුරජාණන් වහන්සේ විශේෂ දේශනාවක් පවත්වපු අවස්ථාවක් ප්‍රශ්නයකට නොවුනත්. බුදුරජාණන් වහන්සේ වේපුල්ල පර්වතය අසලට පැමිණි අවස්ථාවක - ඉන්දියාවෙ තියෙන වේපුල්ල පර්වර්තය - මහණ, එකම සත්ත්වයෙක් එක කල්පයක් තුළ හෙළූ ඇටසැකිලි එකතු

කරලා ගත්තොත් ඒ එකතු කළ ඇටසැකිලි විනාශ නොවී තිබුණොත් මෙන්න මේ වේපුල්ල පර්වතයටත් වඩා විශාලයි කියලා බුදුපියාණන් වහන්සේ ප්‍රකාශ කරල තියනව. එයින් පෙන්නුම් කරන්නෙ එක කල්පයක් තුළ කෙනෙක් කොච්චර කාලයක් ඉපදෙමින් මැරෙමින් මේ විදියට ඇටසැකිළි හෙලමින් යනවාද කියල. ඔය විධියේ දේශනා රාශියක් තියෙනවා ධර්මයේ.

මේ එක එකක් තුළින් අපට හිතා ගන්න පුළුවන් අන්න බුදුපියාණන් වහන්සේ අර අනමතග්ග සූත්‍ර ආශ්‍රයෙන් මතු කරලා දුන්නේ මේ සංසාරයේ භයානකත්වයයි. මොකද, ධර්මය කියලා කියන්නේ අපි දන්නවා බුද්ධ ධර්මයේ ඇති විශේෂත්වය. බුදුරජාණන් වහන්සේ කියලා කියන්නේ උන්වහන්සේ අමුතු සමාජ දර්ශනයක් ලෝකයට ඉදිරිපත් කළ නිසා නොවේ. ඒවාත් තිබෙනවා තමයි. නමුත් ප්‍රධානම දේ- බුද්ධ ශාසනයේත් නොනැසී පැවැත්මට උපකාරවන දේ- තමයි දීර්ඝ කාලයක් ලෝකයා මේ සංසාරයෙන් එතර වෙන්න සොයාගෙන යනකොට තිබුන ගැටළුවට මාර්ගය ප්‍රකාශ කිරීම. එතකොට සංසාරයේ භයානකත්වය තේරෙන කෙනාට විතරයි මේකෙන් එතර වෙන්න හිතෙන්නේ. ඒක නිසා ඇත්ත වශයෙන්ම මේවාට නිතර හිත යොමු කරන්න ඕන. අතීතයේ සංසාරයේ වින්ද දුක. ඒකට උපකාර වශයෙනුයි බුදුරජාණන් වහන්සේ නොයෙකුත් ක්‍රම වලින් සංසාරයේ දීර්ඝ බව තේරුම් කරලා දුන්නේ. මේ උපමා ගැන හිතන කොට මහ පුදුම හිතෙනවා කෙනෙකුට. අතිශයෝක්ති වගෙයි පෙනෙන්නේ. නමුත් හැම එකක් තුළින්ම අපි හිතා ගන්න ඕනෑ මෙතරම් දීර්ඝ කාලයක් සත්ත්වයා අවිද්‍යාවෙන් වැහිලා තණ්හාවෙන් බැඳිලා ගමන් කරලා තියෙනවා. **මේ වගේ කඳුළු සාගරයක පීනලා තියෙනවා. මව්කිරි සාගරයක පීනලා තියෙනවා. ලේ සාගරයක පීනලා තියෙනවා කියලා හිතා ගන්න ඕනෑ.**

මවුපියන් පිළිබඳ පරම්පරාවල් ගැන හිතුවත් අපි බොහොම ආඩම්බර වෙනවා එක එක නෑකම් ගැන. ඊළඟට බුදු පියාණන් වහන්සේ ප්‍රකාශ කරනව "මේ සංසාරයේ කෙතරම් දීර්ඝ කාලයක් අපි ආවද කියතොත් මහණෙනි, තමන්ට මවු නොවූ කෙනෙකු මේ ලෝකයේ සොයාගන්න බැරි තරම්ය" කියල. "සොයා ගන්න අමාරුයි මවු නොවූ කෙනෙක්, පියා නොවූ කෙනෙක්, පුතා නොවූ කෙනෙක්, දුව නොවූ කෙනෙක්". එතකොට කෙනෙක් හිතන්න පුළුවන් මේ ස්ත්‍රී පුරුෂ භේදය ගැන. ඒකත් තමන්ට අයිති නැතැයි හිතන්න ඕනෑ. නොයෙකුත් පාප කර්ම නිසා ස්ත්‍රී පුරුෂ භේදය පිළිබඳවත් යම් යම් වෙනස්කම් වෙන්න පුළුවන් කියල. ඒ අතින් බලනකොට බුදුරජාණන් වහන්සේගේ වචනය අනුව අපට හිතාගන්න පුළුවන් මේ අප ළඟ ඉන්නේ අපගේ මව්වරු, පියවරු, තමන්ගෙ දරුවො කියලා. ඒක හිතන කොට සංසාරය මහ පුදුමයි. ඒක නිසාමයි, ඒවා

නොදන්නා නිසාමයි මේක නාට්‍යයක් කියල කියන්නේ. මුළු මහත් පැවැත්මම නාට්‍යයක් වෙන්නේ ඒකයි. මේ කියාපු ගැඹුරු තත්ත්වය සාමාන්‍ය ලෝකයාට තේරෙන්නෙ නැහැ. මවුකුසින් එළියට ආ කාලෙ ඉඳලා සොහොනින් කෙළවර වන ජීවිත කාලය විතරයි සාමාන්‍ය ලෝකයා දකින්නේ. මේ විද්‍යාඥයින්ට හැම කෙනාටත් මසැසට පෙනෙන්නෙ එච්චරයි. මසැ'සට පෙනෙන්නේ එච්චරයි. අභිඥාලාභීන්ට ඊට වඩා ප්‍රමාණයක් පෙනෙනවා. තිරිසන් ලෝකය විතරයි අපට පෙනෙන්නේ. ප්‍රේත ලෝකත් සමහරුන්ට එක්තරා ප්‍රමාණයකට අනුමාන වශයෙන් දැන ගන්න පුළුවන්. නමුත් අර දිව්‍යලෝක බ්‍රහ්මලෝක ආදිය ගැඹුරින් පෙනෙන්නේ අභිඥා ලාභීන්ට. ඒ හැරෙන්න සාමාන්‍ය පුද්ගලයින් අර අන්ධයින් ඉර හඳ නැතැයි කියන්නා වගේ කොහේද මේ ලෝකෙ විතරයි තියෙන්නේ. ඉතින් මේ ලෝකෙ ඉන්න කාලයක් අපි හොඳට කාලා බීලා ඉන්න එකයි තියෙන්නේ. ඒකට ඕනෑ කරන ආර්ජීකය ආදිය සොයාගෙන හොඳට හිටියාම හරි. ඔය විධියේ දර්ශනයක් තියෙන්නේ. නමුත් ඒක නොවෙයි. අපි බුදුපියාණන් වහන්සේට ගෞරව කරන්නේ වෙන කිසිම ශාස්තෘවරයකුට සොයා ගන්න බැරිවුන මේ සසරින් මිදීම සොයා ගත්ත නිසයි. මේ මහා පුදුම විදියෙ ධර්මයක් බුදුරජාණන් වහන්සේ දක්වලා තියෙනවා. නිස්සරණ මාර්ගයක්. මේකට අවතීර්ණ වීමට ඇත්ත වශයෙන් ම අස්සාද තත්ත්වයේ ආදීනව තේරුම් ගන්න ඕනෑ. මේ ආස්වාදය තුළින්ම මතුවන ආදීනව පිහිට කර ගත්තොත් යම් කිසි කෙනෙක් ඒක ගැන හිතන්න පෙළඹුනොත්, සෙවිල්ලට වැටුනොත් ඊළඟට ඒක තුළින් - ඒකට කල්‍යාණ මිත්‍රයෙකුත් උපකාර වුනොත් - ධර්මය හරියට වෙලාවට වැටුනොත් ඒ තැනැත්තාට පුළුවන් අර නිස්සරණය අර සන්තති අමාත්‍යයා ශීඝ්‍රව කර ගත්තු එක එතරම් ශීඝ්‍රව බැරි වුනත් බණ භාවනා වල යෙදිල අර කියාපු තත්ත්ව අද පවා ලබා ගන්න පුළුවන්.

අපි එතකොට කල්පනා කරන්න ඕනෑ මේ ධර්මයේ නියම සාරය, අරටුව මේකයි. මේ නිර්වාණගාමී ප්‍රතිපදාවයි. ඒකට අදාළ ටිකයි අපි පෝෂණය කරන්න ඕනෑ. ඉතින් අපි ත්‍රි ලක්ෂණය කියලා කියන අනිත්‍ය, දුක්ඛ, අනාත්ම- බුදුරජාණන් වහන්සේගේ ධර්මයේ සාරය ඒකයි. මේ මුළු මහත් පැවැත්මේම ඇති අනිත්‍ය ස්වභාවයත්, දුක් ස්වභාවයත්, අනාත්ම ස්වභාවයත්. අපි මේ දුක කියලා කියන්නේ සාමාන්‍යයෙන් දුක් වේදනාව පමණක් නොවේ. දැන් අර ප්‍රියවිප්‍රයෝගය කියන එක බලමු. ප්‍රියයන් හා එක්වීම- ජීවිතයේ අනිවාර්ය වශයෙන් ගිහි ජීවිතය තුළ ප්‍රියයන් හා එක්වීම ලොකු උත්සව අවස්ථාවක් හැටියට සලකනවා. ඒකට කියනවා 'මංගල' කියලා. ඉතින් ඒ අවස්ථාවෙන් අර සන්තති අමාත්‍යයාට අත්දකින්න වුනා වගේ අවස්ථාව ඇති වුනාම ඒකට 'අව' කියල වචනයකුත් එකතු කරනවා. ඊළඟට තියෙන්නෙ අවමංගලයෙන් කෙළවර වෙනවා. ඕකයි ජීවිත කථාන්තරය. ඉතින් ඒක අනුව අපි හිතාගන්න ඕනෑ මේ හැම

එක්වීමක්ම වෙන්වීමෙන් කෙළවර වෙනවා කියලා. 'සංයොගා වියොගනතා' කියල තියෙනව. 'හැම එක්වීමක්ම කෙළවර වන්නේ වියෝග වීමෙන්-වෙන් වීමෙන්'.

ඉතින් ඕක නිසා තමයි බුදුරජාණන් වහන්සේ මේ මුළු මහත් පංචස්කන්ධයම අල්ලාගෙන ඉඳීමම දුකක් හැටියට දක්වන්නේ. රූපය අල්ලගෙන හිටියත්, වේදනාව අල්ලගෙන හිටියත්, සඤ්ඤා අල්ලගෙන හිටියත් සංඛාර, විඤ්ඤාණ හැම එකක් තුළම තියෙන්නේ උපාදානය තුළින් ඇති කර ගන්න නාට්‍යය - මමය කියල හිතාගන්න නාට්‍යය - ඒක බිඳ වැටෙනවා. දැන් ඔය තරුණ වයසෙදි එහෙම නැත්නම් හොඳට පෙනුම ඇති අවස්ථාවේදී ගත්තු රූපයක් තව අවුරුදු ගාණක් යනකොට විරූප වෙලා ඉවරයි. ඉතින් තමන්මය කියල කියන්න බැහැ. ඇත්ත වශයෙන් මොකද මේ රූපය ආත්මය නොවන නිසා. රූපයේ ස්වභාවය මොහොතක් පාසා වෙනස් වීමයි. ඒත් අපි අර හොඳ හරිය විතරක් රූපය කියල ගන්නවා. අනිත් දේවලුත් එහෙමයි. ඒ හැම එකක්ම වෙනස් වෙනවා. ඒ අනිත්‍යතාව නිසයි. ඒ අනිත්‍යතාව නිසාම ප්‍රතිසංස්කරණ කරන්න වෙනවා. ප්‍රතිසංස්කරණය තුළත් තියෙනවා සංස්කාර කියන එක. ඔය කඩා වැටෙන වාහනයක් - නොම්මර තහඩුව තියෙනවා' ඒ විදියටම- නමුත් කෑලි පිරිද්දුවට පසුව අපි ඒක අලුත් වාහනයක් හැටියට සලකන්නේ නැහැනේ. ඒක කෑලි හැලි හැලී දුවනවා. දැන් ඇත්ත වශයෙන් අපේ ජීවිතයත් ඒ වගෙයි. හිතලා බලන්න. ඔය වෛද්‍ය සොයා ගැනීම් තුළින් අපි මේ මමය, මගේය කිව්වට ඉස්පිරිතාලෙට ගිහිල්ල එනකොට වෙන අයගේ ලේ, වෙන අයගේ අවයව, අපට පුරුද්දලා. කටේ තියන දත් ටිකත් අපට අයිති නැහැ. ඇහේ දාන කණ්නාඩියත්. 'මට පෙනෙනවා' කියල කිව්වට කණ්ණාඩියට පින්සිද්ද වෙන්නයි දකින්නේ. ඔය විදිහේ කෘත්‍රිම දේවල් ඈඳාගෙන අපි මේ කරන්නේ මුළු මහත් ජීවිතයම නාට්‍යයක්. ඉතින් ඒකයි මේ හැම දෙයක්ම සංස්කාර කියල කියන්නේ. 'සබ්බෙ සංඛාරා අනිච්චා' කියල කෙනෙක් මැරුණාම ඔය දැන්වීම් එහෙම දාන්නේ ඒකයි. ඒ ඩිංගෙන්වත් තේරෙනවා නම් මේ මුළු මහත් සංසාර පැවැත්මම සංස්කාර ගොඩක් කියන එක. ඒක බුදුරජාණන් වහන්සේට ගැඹුරින්ම තේරුණා. ඒකට පසුබිම තමයි අර කියාපු දීර්ඝ සංසාර පැවැත්ම. දැන් ඇතැම් විට - ඒක බොහෝ විට නොයෙකුත් ප්‍රත්‍යක්ෂ සාධක ආශ්‍රයෙනුත් හෙළිවෙලා තියෙනවා - ඔය පුනර්භවය පිළිබඳ නොයෙක් නූතන ක්‍රම වලින් කරන සොයා ගැනීම් වලින් හෙළිවෙලා තියෙනවා. ඇතැම් විට මේ ජීවිතයේ තමන්ගේ මවු හැටියට හිටිය කෙනා ගිහිල්ලා තමන්ගේම දරුවෙක් වෙලා ඉපදෙනවා. ඔය විදියේ නාට්‍යාකාරයක් තියනවා මේ සංසාර පැවැත්මෙ. ඒකයි' බුදුපියාණන් වහන්සේ ප්‍රකාශ

කළේ මේ දීඝී සංසාරයේ තමන්ට මවෙක් නුවූ, පුතෙක් නොවූ, දුවක් නොවූ කෙනෙක් නැත කියලා. ඉතින් ඒ විධියේ රඟපෑමක් නම් මේ මුළු මහත් සංසාර පැවැත්ම මේකෙන් මිදීමම තමා සැප.

දුක්ඛ සත්‍යය කියල කියන්නේ ඉපදීමේ සිට කෙළවර දක්වා හැම එකක් තුළම ගැඹුරින් කල්පනා කරල බලන කොට තියෙන්නේ දුක් ස්වභාවයයි. අනිත්‍යතාව නිසා මේවා ප්‍රතිසංස්කරණ කර කර, සකස් කර කර යන්න ඕනෑ. ඒ සකස් කිරීමම දුකක්. මමය, මාගේය කියලා කියන්න තරම් මේකේ සාරයක් අරටුවක් නැති දෙයක්. ඒ තත්ත්වය හරියට වටහා ගැනීමෙන් තමා සසරින් මිදෙන්න පුළුවන් වන්නේ. ඒක නිසා තම තමන්ම මේක- විදර්ශනා මාර්ගයේ යන පුද්ගලයා ඇතිවීම් නැතිවීම් කියන තත්ත්වය එදිනෙදා ජීවිතයේ තම තමන්ට වැටහෙන පමණින් ආරම්භ කරල ඒක ගැඹුරින් තේරුම් ගන්න උත්සාහ ගන්න ඕනෑ. ශරීරයේ කොටස් ගෙවී යන ආකාරය වේදනාවන් ගැන එහෙම. එක ඉරියව්වක ඉන්න බැරි නිසයි අපි මේ අනිත් පැත්තට හැරෙන්නේ. ඒකයි ගැඹුරින් දක්වන්නේ අපි මේ ශරීරයේ තියන දුක් ස්වභාවය ඉරියව් මාරු කිරීම තුළින් වහ ගන්නවා කියලා. යෝගාවචරයාට සමහර විට ගුරුවරයා අවවාද කරන්නේ 'එකම ඉරියව්වේ ඉන්න වේදනාවත් දැනගෙන' කියල. වේදනාව අවබෝධ කරගන්න මෙනෙහි කරන්න කියලා. ඔන්න ටිකකින් හරි ඕකේ තියන දුක තේරුම් ගන්න කියන එකයි. නමුත් අපි කැමතියි හැමතිස්සේම ඉරියව් මාරු කරමින් අර දුක වහගන්න. එතනයි අවිද්‍යාව තියෙන්නේ. ඒ වගේම තමයි අනිත් ඒවත්. නමුත් බුදුරජාණන් වහන්සේ අපේ ඇස් පාදන්න මතු කරලා දෙනවා අපි දීර්ඝ කාලයක් මේ එකම ගණන හැදුවා නමුත් හරි උත්තරය ආවේ නැහැ.

ඒක නිසා මේ බුද්ධෝත්පාද කාලයේ අපි කල්පනා කරන්න ඕනෑ වටිනා දේ වටිනා හැටියට සලකලා අර නිකම් සුළු දේවල්, පොඩි පොඩි අසනීප හොඳ කරගන්න භාවනා කිරීම වගේ පටු පරමාර්ථ නැතිව මේ මුළු මහත් සංසාරය කියන එක අපි අර කිව්වෙ ඉස්පිරිතාලයක් වගේ තැනක් කියල හිතල මේකෙන් සම්පූර්ණ සුවය ලබාගෙන පිටවෙන්න ඕනෑ කියල අධිෂ්ඨාන කරගෙනයි බණ භාවනා කරන්න ඕනෑ. එහෙම කළොත් තමයි මේ බුද්ධ ශාසනයෙන් හරියට ප්‍රයෝජන ගන්න පුළුවන් වෙන්නේ. අනිත් අයටත් ප්‍රයෝජන ගන්න උදව් කරන්න පුළුවන් වන්නේ.

බුද්ධ ධර්මයේ සාරය චතුරාර්ය සත්‍යය තුළ තියෙනවා. පංච උපාදානස්කන්ධය කියල කියන රූප, වේදනා, සඤ්ඤා, සංඛාර, විඤ්ඤාණ කියන මේ අල්ලාගන ඉන්න හැම එකක්ම බුදුපියාණන් වහන්සේ දක්වනවා

දුකක් හැටියට. 'සංඛිත්තෙන පංචුපාදානඛන්ධා දුක්ඛා' සැකෙවින් සැලකුවාම අල්ලගන ඉන්න ගොඩවල් පහම දුකක් කියල බුදුපියාණන් වහන්සේ ප්‍රකාශ කරනව. ඕකයි - දුක්ඛ සත්‍යයේ සාරය, ඊළඟට බුදුපියාණන් වහන්සේ ප්‍රකාශ කරනව මේ දුක්ඛ තත්ත්වය පවතින්නේ මොකද, මේ තණ්හාව නිසාය කියල. සංසිඳවාගන්න බැරි තණ්හා පිපාසය නිසා මේ දීර්ඝ කාලයක් සංසාරයේ සත්ත්වයා දුවනවා. මේ ජීවිතයේ ලබා ගන්න බැරිවුන ප්‍රර්ථනා ඊළඟ ජීවිතයේවත් ලබා ගන්න බලාපොරොත්තුව ඇතිවයි අන්තිම හුස්ම හෙළන්නේ. ඒවායේ නිස්සාරත්වය තේරුම් ගන්නේ නැහැ. ඒක නිසා රැස්කරගත් කර්මානුරූපව ඒ ඒ තැන්වල උපදිනව. තමන්ට ඕන හැටියට නොවේ. දීර්ඝ කාලයක් තමන් කරන ලද කර්මය අනුව ඔය විදියට කර්ම චක්‍රයත් එක පැත්තකින් කරකැවෙනවා. ඒකට යටවෙලා දීර්ඝ කාලයක් සත්ත්වයා කඳුළු සාගරයක ලේ සාගරයක පීනනවා. ඉතින් ඇත්ත වශයෙන් අන්න එහෙම හිතලා බලනකොට අපි කල්පනා කරන්න ඕනෑ බුදුපියාණන් වහන්සේගේ ශාසනය ආරක්ෂා කර ගන්න නම්, ධර්මය ආරක්ෂා කර ගන්න නම්, අපි මෙන්න මේ ගැඹුරු අංශයට එළඹෙන්න ඕනෑ. ආදීනවයෙන්, නිස්සරණයට යන්න ඕනෑ. හැමදාම ආදීනවයේ ඉන්නේ නැතිව. ඒකට නම් නුවණින් කල්පනා කරන්න ඕන තම තමන්ගේ ජීවිතය ගැන. දැන් ඔය අසුභ භාවනාව ආදිය ගැන ඇතැම් කෙනෙක් නොයෙකුත් විදියේ දේවල් පවසනවා. නමුත් යම්කෙනෙකුට සංසාරයෙන් මිදෙන්න ඕන නම් මේ ශරීරයේ තියෙන අනිත්‍ය ස්වභාවය- අර කියාපු රූපසම්පත්තිය ගිලිහිලා යනවා ශරීර ශක්තිය ගිලිහිලා යනවා - වයෝවෘද්ධ අවස්ථාවක් එනවා. තමන්ගේ කකුල් දෙක වෙනුවට ඇදේ කකුල් හතරට භාර දෙන්න වෙනවා. එබඳු ඒ ජීවිත තත්ත්වය ගැන හිතලා බලලා ඊළඟට අනිත් දේවලුත් තමන් සන්තක කියල හිතාගන්න වස්තුවත් හැම එකක්ම අනිත්‍යතාවට යටයි. ඒවා බුදුපියාණන් වහන්සේ මතක් කරලා දෙන දේවල්. මේ හැම එකක්ම මතක් කරලා දෙන්නේ මොකද සසරින් මිදීමට අර කියාපු 'නිබ්බිදා' කියන සසර කලකිරීම අත්‍යවශ්‍ය නිසයි. ඇතැම්විට විශේෂ සිද්ධියක් අර විධියේ දුක්ඛ දායක අත්දැකීමක් තුළින් ඒක මතුකර ගන්න පුළුවන්. ඒක මතුකරගන්න පුළුවන් වෙන්නේ ඒකට කවුරුවත් කල්‍යාණ මිත්‍රයෙක් හරි ඒකට ඕන කරන ධර්ම උපදේශයක් හරි වෙලාවට වැටුනොත් පමණයි. එහෙම නැත්නම් ආයෙත් නින්දට වැටෙනවා. නැවත නැවත නින්දට වැටෙනවා. දීර්ඝ සංසාරයේ ඔය තත්ත්වයයි තියෙන්නේ. අවිද්‍යාව කියල කියන්නේ නොතකා හැරීම, ඒක අමතක කිරීම, බොහොම පහසුයි. මේක ජීවිත සිහිනයක් කියල කියන්නේ ඒකයි. ඉතින් ඔන්න ඔය තත්ත්වයෙන් මිදීමට නම් අවදිමත්ව සිටින්න ඕනෑ.

තමන්ගේ ජීවිතය ගැනත්, ලෝකයේ තත්ත්වය ගැනත්.

බුදුරජාණන් වහන්සේ දක්වා වදාළ ත්‍රිලක්ෂණය අනුව දකින්න පුරුදුවෙන්න ඕන. නිත්‍යසංඥාව වෙනුවට අනිත්‍ය සංඥාව ඇතිකර ගන්න ඕනැ. ඒකයි අර විපල්ලාස කියල හඳුන්වන විපරීත දර්ශන විපිරියාස නැතිව - විපිරියාස තත්ත්වයත් නැතිව - ලෝකය දිහා බලන්න පුළුවන් මට්ටමකට හිත ගේන්න ඕන. විපරීත දර්ශනය තමයි අනිත්‍ය දේ නිත්‍ය ලෙස සැලකීම, අශුභ දේ ශුභ හැටියට සැලකීම, දුක් සහිත දේ සැප හැටියට සැලකීම, අනාත්ම දේ ආත්ම හැටියට සැලකීම, ඕකයි ලෝකයා තුළ තියන විපල්ලාස කියල කියන විපරීත දෘෂ්ටිය. ඒක ජයගන්න නිතර අනිත්‍යතාව දකීමට හිත පුරුදු කර ගත්තා නම් එතැන ඉඳලා ක්‍රම ක්‍රමයෙන් මේක බිඳිලා යනවා පේනවා. බිඳිලා යනවා දකින කොට භයක් ඇතිවෙනවා. අපොයි මෙහෙමෙ බිඳෙන දෙයක් නේද. දිරච්ච වැටක් නේද මම මේ අල්ලාගෙන ඉන්නේ කියලා. බොහෝ දෙනා තමන්ගෙ ජීවිතය බොහොම සුරක්ෂිතයි කියල හිතා ගන්නවා. තම තමන්ගෙ බැංකුවල තැන්පතු තියෙනවා. දූ දරුවෝ ඉන්නවා ලොකු තනතුරු ලබාගෙන ඉන්න අය. අන්තිමට බලනකොට අවසාන කාලයේ බැංකුත් කඩාවැටෙනවා දූ දරුවොත් තමන්ට සලකන්නේ නැහැ. අන්තිමට ඔක්කොම අල්ලගෙන හිටපු දිරච්ච වැටවල් ඔක්කොම වැටෙනවා. තමන්ට ඉතිරිවන්නේ ඇඳේ කකුල් හතර විතරයි. ඒ වෙලාවට උපකාර වන්නේ අන්න ධර්ම මාර්ගයේ ගිහිල්ලා තමන් යම්කිසි තත්ත්වයක් ලබාගෙන තියනව නම් ඒ වෙලාවට ඒකයි සැනසීම. අන්න එහෙම හිතාගන්න ඕනැ.

අපි මේ පොඩි කතාන්දරය තුළින් නොයෙකුත් ධර්ම කාරණා මතුකර ගත්තා. අපි හැම තිස්සෙම මේවා කියන්නේ කථා රසය ගැන හිතලා නොවෙයි. මේ හැම එකක් තුළින්ම යම් යම් ධර්ම න්‍යායයන් මතුකරගන්න පුළුවන් අපගේ ජීවිතයට උපකාර වන. බුද්ධ කාලයේ ඒ ධර්මයත් එක්ක ජීවත් වෙච්ච අය තමයි- සමහරවිට බ්‍රාහ්මණයෙක් ඇවිල්ල අහනව බුදුරජාණන් වහන්සේගෙන් මේ කල්පය කොයිතරම් දිගද කියලා. ඒ තුළින් ඇතිවූ ශ්‍රද්ධාව නිසා අන්තිමට බෞද්ධයෙක් වෙනවා. නමුත් දැන් නම් මේක විද්‍යාත්මකව තමන්ට අයිති නැති දෙයක් හැටියට මේ ලෝකයත්, අවකාශයත් ගැන **'පර්යේෂණ'** පවත්වමින් යන ඒ චින්තනයකුත් තියනවා. ඒක තමන්ගේ ජීවිතයට උපකාර වන්නේ නැහැ. ඒවා නොයෙකුත් විදියේ උපාධි ලබා ගැනීමේ මාධ්‍යයයන් කරගෙන. නමුත් ඒවා ජීවිතයට ළං කර ගන්න ඕනැ. **මේ කියන්න ඇති හැම දේකම සාරය බුදුරජාණන් වහන්සේ කියලා ඉවරයි. ආයි අපට අමුතු ලෝක වලට කෝටි ගණන් වියදම් කරලා ගියත් නොගියත් අපි මැරෙන කොට යන්නේ**

**කර්මානුරූපවයි. ඒකට වාහනයක් ඕනෑ නෑ. අමුතු චන්ද්‍රිකාවක් ඕනෑ නෑ.** ඒ වෙනුවට ඉබේම ඒ හිතත් එක්කම හිත මැරෙන අවස්ථාවේ, සමහර අවස්ථාවල බ්‍රහ්මලෝකවලට යනවා. අර කියාපු කුසල් ශක්තිය තුළින්. වෙන කෘත්‍රිම ශක්ති වලින් නොවේ. අන්න ඒ විධියේ තත්ත්වයක් මේ භවයේ පවතින නිසා අපි මේ ධර්මමය වටිනාකම් මතුකර ගන්න ඕනෑ. මතු කර ගන්න ඕනෑ කියලා කියන්නේ මේව දැන් ඉක්මණින්ම ගිලිහෙනවා. මේව වෙනුවට වෙන වෙන දේවල් මතුකර දෙන ස්වභාවයක් තියෙනවා. අර කියපු **'ලෝකවර්ධන' 'සුසානවර්ධන'** ප්‍රතිපත්තිය තුළින් . අපි මතුකරලා දෙන්න ඕනෑ දීර්ඝ කාලයක් මේ ශාසනය පැවතීමට නම් බුදුපියාණන් වහන්සේ ලෝකයාට පෙන්වා දුන් නිර්වාණ මාර්ගය, නිවන, ඒකට උපකාර වන දේවලයි හිත පවත්වන්න ඕනෑ. අනිත් අයට කියලා දෙන්න ඕනෑ.

අන්න ඒ විධියට හිතාගෙන දැන් එතකොට මේ වටිනා දවසේ මේ පින්වතුන් ධර්ම මාර්ගයේ යාමට උපකාර වන සීලයක පිහිටලා ඒ ඒ ප්‍රමාණයේ හැටියට දැන් මේ අවස්ථාවේ ආජීව අෂ්ඨමක ශීලය, පොහොය අට සිල් සමාදන් වුනා. ඒ විදියට තම තමන්ට භාවනාවට උපකාර වන දස සිල් සමාදන් වුන අයත් ඉන්නවා. ඒ විදිහේ ශීලයක පිහිටලා භාවනාවට හිත යොදාගෙන යම් යම් ප්‍රමාණයකින් මේ හිත - විසුරුන සිත - මේ ගෝලීකරණ ආදියෙන් විසුරුන සිත, මේ අවස්ථාවෙ මෙතෙන්ට ගෙනැල්ල ධර්මයට යොමු කරල යම් කිසි කමටහනක් තුළින් සමාධිමත් කරගත්තු සිතේ ශක්තිය මතුකරගත්ත. ඊළඟට මෙන්න මේ විදියෙ ධර්ම දේශනාවක් තුළින් ප්‍රයෝජන ගන්න ඕන මේ සංසාර භයට උපකාර වන අනිත්‍ය දුක්ඛ අනාත්ම කියන ත්‍රිලක්ෂණ ඒදිනෙදා ජීවිතයේ තව තවත් යම් යම් ප්‍රමාණයට දියුණු කර ගත්තොත් තමයි, ඒකම පාරමී ධර්ම වෙලා මේ ජීවිතයේ නොලැබුණත් යම් අවස්ථාවක ඒවා ලබා ගන්න පුළුවන්. නමුත් උත්සාහවත් වෙන්න ඕන අප්‍රමාදීව කල් දමන්නේ නැතිව අධිෂ්ඨානය තියාගන්න ඕන මේ ජීවිතයේ දීම, බුද්ධ ශාසනය අවසානවන්න කලින් අපි මේ භාවනා මාර්ගය තුළ කල්‍යාණ මිත්‍ර ඇසුරින් මේ බණ භාවනා කරලා බුදු පියාණන් වහන්සේ දක්වා වදාළ ආකාරයට අවම වශයෙන් වෙන ලොකු ප්‍රාර්ථනා නැත්නම් සෝවාන් මාර්ග ඥානයෙන් අර සතර අපායෙන් මිදීම කියන ඒ විශාලම ඉතාමත්ම වටිනා ශක්තිය ලබාගෙන පුළුවන් නම් මුළු මහත් සංසාරයෙන් අත් මිදිලා උතුම් අමා මහ නිවන රහත් බව ලබා මේ කඳුළු සාගරයෙන් ලේ සාගරයෙන් එතෙර වීමට මේ අද පුරන ලද සීල සමාධි ප්‍රඥා ශක්තිය තුළින් ලැබේවා. ධර්ම දේශනා ශ්‍රවණය තුළින් ලැබේවා කියා ප්‍රාර්ථනා කරගන්න ඕනෑ. දැන් මේ මෙතෙක් මේ අපි රැස්කර ගත් කුසල සම්භාරය අවීචියේ සිට අකනිටා දක්වාවූ ඒ ඥාතීනුත්

ඇතුළුව යම්තාක් නිවන් කැමති, පිං කැමති සත්වයින් ඇත්නම් ඒ හැමදෙනාමත් මේ ධර්මදේශනාමය කුසලය අනුමෝදන් වෙත්වා! අනුමෝදන් වී තම තමන්ගේ ප්‍රාර්ථනය පරිදි ජාති ජරා ව්‍යාධි මරණ ආදී සියලු සංසාර දුකින් අත්මිදී උතුම් අමා මහ නිවනින් සැනසෙත්වා කියන ප්‍රාර්ථනයත් තියාගෙන මේ ගාථා කියා පින්දෙන්න.

"එත්තාවතාව අමෙහි ................"

# 40 වන දේශනය (පහන් කණුව ධර්ම දේශනා අංක 176)

'නමො තස්ස භගවතො අරහතො සම්මා සම්බුද්ධස්ස'

අතීතං නාන්වාගමෙය්‍ය - නප්පටිකඞ්ඛෙ අනාගතං
යදතීතං පහීනං තං - අප්පත්තඤ්ච අනාගතං

පච්චුප්පන්නඤ්ච යො ධම්මං - තත්ථ තත්ථ විපස්සති,
අසංහීරං අසඞ්කුප්පං - තං විද්වා මනුබ්‍රෑහයෙ.

අජ්ජෙව කිච්චං ආතප්පං - කො ජඤ්ඤා මරණං සුවෙ,
න හි නො සඞ්ගරං තෙන - මහාසෙනෙන මච්චුනා.

එවං විහාරිං ආතාපිං - අහොරත්තමතන්දිතං,
තං වෙ භද්දෙකරත්තොති - සන්තො ආචික්ඛතෙ මුනි

(මජ්ඣිම නිකාය - භද්දෙකරත්ත සුත්ත)

සැදැහැවත් පින්වතුනි,

මේ මොහොතේ ඇති වැදගත්කම තිලෝගුරු සම්මා සම්බුදුරජාණන් වහන්සේ ලෝකයාට පැහැදිලි කරදුන්නා. ලෝකයා වැඩි වශයෙන්ම ජීවත් වන්නේ මළ අතීතයක. එහෙම නැත්නම් නූපන් අනාගතයක. වර්තමාන මොහොත නොදැනීම ගිලිහිලා යනවා. ඒ වර්තමාන මොහොතේ වැදගත්කම ප්‍රකාශ කෙරෙන ගාථා හතරක් තමයි අද අපි මාතෘකාව හැටියට ඉදිරිපත් කරගත්තේ. මේ ගාථා හතර දකින්න ලැබෙන්නේ මජ්ඣිම නිකායේ භද්දෙකරත්ත සූත්‍රයේ. භද්දෙකරත්ත නමින් සඳහන්වන සූත්‍ර හතරක්ම එක පෙළට මජ්ඣිම නිකායේ දකින්ට ලැබෙනවා. භද්දෙකරත්ත සූත්‍රය, ආනන්ද භද්දෙකරත්ත සූත්‍රය, මහාකච්චාන භද්දෙකරත්ත සූත්‍රය, ලෝමසකංගිය භද්දෙකරත්ත සූත්‍රය කියලා. ඒ සූත්‍ර හතරේම තේමාව හැටියට, එහෙම නැත්නම් මාතෘකාව හැටියට, මෙන්න මේ කියාපු ගාථා හතර දකින්න ලැබෙනවා. එයින් හිතාගන්න පුළුවන් මේ ගාථා කොයිතරම් වැදගත් ද අර්ථවත් ද කියලා. ඒ වගේම ඒ සූත්‍ර හතරෙම මේ ගාථා පිළිබඳ අර්ථ විවරණ දකින්න ලැබෙනවා. ඇත්ත වශයෙන්ම මේ අර්ථ විවරණ හැම එකක්ම විදර්ශනා භාවනාවට අදාළ දේවල්. ඒකයි අපි මේ විශේෂයෙන්ම මේ සූත්‍ර දේශනාව මතුකරලා ගත්තේ.

ඉතින් මේ භද්‍දෙකරත්ත සූත්‍රයේ නිදාන කථාව හැටියට තියෙන්නේ බොහොම කෙටියෙන් මෙන්න මේ විධියටයි. බුදුරජාණන් වහන්සේ සැවැත් නුවර ජේතවනාරාමයේ වැඩ වාසය කරන අවස්ථාවක කෙලින්ම සංඝයා වහන්සේලා අමතලා මෙන්න මෙහෙම ප්‍රකාශ කළා. මහණෙනි, මම නුඹලාට භද්‍දෙකරත්තයාගේ උද්දේසයත් විභංගයත් දේශනා කරනවා. ඇහුම්කන් දෙන්න. සවන් දෙන්න.

උද්දේස සහ විභංග කියන වචන දෙක මේ පින්වතුන් දන්නේ නැතිව ඇති. බුදුරජාණන් වහන්සේගේ දේශනා ශෛලියේ විශේෂ ලක්ෂණයක්. ඇතැම් අවස්ථාවල බුදුරජාණන් වහන්සේ දීර්ඝ විවරණයක් ඉදිරිපත් කරන්න කලින් ඒ තමන් ප්‍රකාශ කරන්න බලාපොරොත්තුවන දෙයෙහි සාරාංශය මාතෘකා පාඨයක් හැටියට ඉදිරිපත් කරනවා. ඒකට තමයි උද්දේස කියලා කියන්නේ. එතකොට උද්දේසය පසුව විභංග වශයෙන් විභාග කරලා දක්වනවා. ඒක බුදුරජාණන් වහන්සේගේ දේශනා ශෛලියේ ලක්ෂණයක්. දැන් මේ සූත්‍රයේත් ඒ විධියට බුදුරජාණන් වහන්සේ මහණෙනි, මේ භද්‍දෙකරත්තයාගේ උද්දේසයත්, විභංගයත් නුඹලාට ප්‍රකාශ කරනවා කියලා පළමුවෙන්ම උද්දේසය හැටියට ඉදිරිපත් කළ ගාථා හතරයි අපි මේ මාතෘකා කළේ.

දැන් මේ ගාථා හතරේ සාමාන්‍ය අර්ථය තේරුම් ගන්න බලමු.

**'අතීතං නාන්වාගමෙය්‍ය'** -අතීතයට ආපසු නොයන්නේය. **නප්පටිකඞ්ඛෙ අනාගතං'** - අනාගතය නොපතන්නේය. **'යදතීතං පහීනං තං'** - යමක් අතීතද එය ගෙවී ගොස්ය. **'අප්පත්තඤ්ච අනාගතං'** - අනාගතය තවම ආවේ නැත, නොපැමිණියේය.

**'පච්චුප්පන්නඤ්ච යො ධම්මං - තත්ථ තත්ථ විපස්සති'** යමෙක් වර්තමානයේ ඉදිරිපත් වන දේ එතන එතනම- එතන එතනම විදර්ශනාවෙන් දකීද, **'අසංහීරං අසඞ්කුප්පං තං විද්‍වාමනුබ්‍රූහයෙ'** ඒ වර්තමාන ධර්මයට නොඇලී එයින් නොකිපී, එයට නොඇලී එයින් නොකිපී අන්න ඒ තත්ත්වයයි නුවණැත්තා වැඩිය යුත්තේ.

ඊළඟට **'අජ්ජෙව කිච්චං ආතප්පං - කො ජඤ්ඤා මරණං සුවෙ'**, කළයුතු කෘත්‍යය අදම කිරීමට වීර්යය දැරිය යුත්තේය. **'කො ජඤ්ඤා මරණං සුවෙ'** මරණය හෙට වේදැයි කවුරු දනීද? **'අජ්ජෙව කිච්චං ආතප්පං කො ජඤ්ඤා මරණං සුවෙ'- 'නහි නො සඞ්ගරං තෙන මහාසෙනෙන මච්චුනා'** ඒ මහා සේනාවක් ඇති මාරයා සමඟ අපට ගිවිසුමක් නැහැ නේද?

**'එවං විහාරිං ආතාපිං'** මෙන්න මේ විදියේ හැඟීම් අවබෝධය ඇතිව මේ විදියට ක්‍රියාකරන, මේ විදියට වාසය කරන, **'ආතාපිං'** වීර්යය වඩන **'එවං විහාරිං ආතාපිං අහොරත්තං අතන්දිතං'** දිවා රෑ නොමැළිව වීර්යය වඩන එබඳු ඒ භික්ෂුව, **'තං වෙ භද්දෙකරත්තොති සන්තො ආචික්ඛතෙ මුනී** එබඳු භික්ෂුව **භද්දෙකරත්ත'** යයි ශාන්ත වූ මුනිවරයා ප්‍රකාශ කරයි. ඒ කියන්නේ තමන් වහන්සේ, බුදුරජාණන් වහන්සේ පිළිබඳව.

ඉතින් ඔය සාමාන්‍ය අදහසයි කිව්වේ. මේක වඩාත් හිතට කාවදින හැටියට අපි සිංහල කවියට නගලා තියෙනවා මේ විදියට.

ගිය කල ලුහුබැඳ නොයන්න
මතු කල නො පතා සිටින්න
ගිය දේ ගිය සේ මැ ගන්න
මතුව නොපත් සේ දකින්න

එළඹුණ දේ දූන් එන එන
විදසුන් නුවණට දමමින
නොඇලෙන නොකිපෙන විදසුන
නැණැතියෙ වඩතේ මෙලෙසින

කළ යුතු කිස කරව අද ම
මරණය විය හැකි නො හෙට ම
නැහැ නොවැ කළ හැකි ගිවිසුම
මහසෙන් ඇති මරු සහ එම

දිව රෑ නොමැළි වැ මෙලෙසින
කෙලෙසුන් තවමින් මැ වෙසෙන
මහණ භුදෙකලාවෙ පරම
ඇලුණැයි පවසයි මුනි තෙම

ඉතින් ඒ විදියට අපි පරිවර්තනය කළේ වී නමුත් මේ 'භද්දෙකරත්ත' කියන වචනය ඈත අතීතයේ ඉඳලම උගතුන්ට ගැටළුවක් හැටියට තිබුනා. අටුවාචාරීන් වහන්සේලාත් බටහිර උගතුනුත් නොයෙකුත් නොයෙකුත් විදියේ අර්ථ විවරණ දුන්නා. විශේෂයෙන්ම **භද්දෙකරත්ත** කියන එකේ 'එක' කියන වචනයෙන් මොකක්ද හැඟෙන්නේ කියන එක.

ඉතින් මීට අවුරුදු හතළිහකට විතර ඉස්සර අපේ අතින් ලියවුන යම්කිසි විවරණයක් ඔය කියාපු සූත්‍ර දේශනාව පිළිබඳව, ඒකෙදි අපි ඉදිරිපත් කළා මේ භද්දේකරත්ත කියන වචනයට අර්ථ විවරණයක්. කොටින්ම කියතොත් ඒක අනුව තමයි අපි මෙතැනදී අර පරම හුදකලාව කියලා කිව්වේ. ඒක අපි තේරුවේ මෙහෙමයි. 'එක' කියන වචනය අපි ගත්තා - අපි හේතු සාධක ඇතිව පෙන්වලා දුන්නා- 'එක' කියන වචනයෙන් කියවෙන්නේ හුදකලා බව, විවේකය කියන එකයි කියලා. එතකොට 'භද්ද' කියන්නේ - භද්‍ර කියන්නේ - යහපත්, රත්ත කියන්නේ ඇලුන. එතකොට යහපත්, එහෙම නැත්නම් ඉතාමත් උතුම් විවේකයෙහි, හුදකලාවෙහි ඇලුන කියන එකයි අපි අර්ථය හැටියට ඉදිරිපත් කළේ.

ඒ අර්ථ විවරණයට අපි සාධක කර ගත්තේ සංයුත් සඟියේ දකින්නට ලැබෙන එක්තරා කෙටි සූත්‍ර දේශනාවක්. ඒකෙ මෙහෙම කියවෙනවා. බුදුරජාණන් වහන්සේ රජගහ නුවර වේළුවනාරාමයේ වැඩ වාසය කරන අවස්ථාවක සඟ පිරිස අතර ඉඳලා තියෙනවා එක්තරා සංඝයා වහන්සේ නමක්. අනික් සංඝයා වහන්සේලා ඒ භික්ෂූන් වහන්සේ හැඳින් වූයේ 'ථෙර' කියලා. 'තෙර' කියලා. මොන හේතුවකින් ද දන්නේ නැහැ. එතකොට ඒ ථෙර නම ඇති ඒ සූත්‍රයේ නම 'ථෙරනාමක' සූත්‍රය. ඒ ථෙර කියන භික්ෂූන් වහන්සේගේ විශේෂත්වය උන්වහන්සේ 'එකවිහාරී'- ඒ කියන්නේ හුදකලා වාසයට අනුව හැසිරෙන, හුදකලාවාසී - හුදකලා වාසයේ යෙදෙන, ඒ වගේම හුදකලා වාසයේ ගුණ කියන කෙනෙක්. එකවිහාරී උන්වහන්සේගේ චරියාව සඳහන්වන වචන කීපය අපි මෙතනදී මතකරලා ගනිමු. මේ අර්ථ විවරණයට උපකාර වන නිසා. උන්වහන්සේගේ දින චරියාව හැටියට මෙන්න මෙහෙම සඳහන් වෙනවා. 'සො **එකො** ගාමං පිණ්ඩාය පවිසති, **එකො** පටික්කමති, **එකො** රහො නිසීදති, **එකො** චඞ්කමං අධිට්ඨාති' එකො කියන වචනය කිහිපවරක් කියවුනා. එතන අදහස් කරන්නේ උන්වහන්සේගේ එදිනෙදා දින චරියාව මොකක්ද? උන්වහන්සේ **තනිවම** ගමට පිඩු පිණිස ඇතුල් වෙනවා. **තනිවම** ගමෙන් නික්මෙනවා, **තනිවම** භාවනාවේ හිඳගන්නවා. **තනිවම** සක්මනෙහි යෙදෙනවා.

එතකොට අනෙකුත් සංඝයා වහන්සේලා කොයි හැටියෙන් නමුත් මුන්වහන්සේගේ හැසිරීමේ විශේෂත්වය බුදුරජාණන් වහන්සේට ගිහින් කිව්වා සංඝයා වහන්සේලා කීපනමක්, මෙහෙම ථෙර කියන භික්ෂූන් වහන්සේ මෙහෙම එක විහාරීව, එක විහාරී බවේ ගුණ කිය කියා ඉන්නවා කියලා." බුදුරජාණන් වහන්සේ කියලා ඇරියා "අන්න ශාස්තෘන් වහන්සේ කථා කරනවා, මෙහාට එන්න කියන්න" කියලා. ඔන්න ඒ භික්ෂූන් වහන්සේ ආවාම බුදුරජාණන් වහන්සේ අහනවා "කොහොමද තෙර, ඔබ මේ ඒක විහාරීව වාසය කරන්නේ, ඒක විහාරී බවේ ගුණ කියන්නේ." ඔන්න එතකොට අර කියාපු දින චරියාව ප්‍රකාශ කරනවා. උන්වහන්සේ

"ස්වාමීනී, භාග්‍යවතුන් වහන්ස මම තනිවම ගමට පිඩු පිණිස ඇතුල් වෙනව, තනිවම එයින් නික්මෙනවා, තනිවම භාවනාවේ ඉඳගන්නවා, තනිවම සක්මන් කරනවා. ඒ විධියටයි මගේ ඒක විහාරී විහරණය"

එතකොට බුදුරජාණන් වහන්සේ කියනවා "තෙර ඔය විධියේ ඒකවිහාරී බවකුත් තියෙනවා. මම ඒක නැතෙයි කියන්නේ නැහැ. නමුත් යම් ආකාරයකින් මේ ඒකවිහාරී බව - හුදකලා බව - හැම අර්ථයෙන්ම පරිසමාප්ත වෙනවා නම්, නියම ආකාරයෙන්ම සවිස්තරාත්මකව අර්ථවත් වන්නේ කොහොමද කියන එක මම මේ අවස්ථාවේ ඔබට කියනවා. මේක හොඳට අහන්න" කියලා ඔන්න ඊළඟට බුදුරජාණන් වහන්සේ ප්‍රකාශ කරනවා, අන්න ඒ වචන ටික තමයි අපි මේකට සාධක හැටියට ගත්තේ, මේකට ඉතාම ළඟින් යන වචන කීපයක්.

'තෙර', යම්කිසි භික්ෂුවක් පිළිබඳවයි මේ කියන්නේ 'යං අතීතං - තං පහීනං' ඒ භික්ෂුව අතීත දේ ප්‍රහීන කරලා. ගිය දේ හැටියට සලකලා. **'යං අතීතං තං පහීනං'. 'යං අනාගතං තං පටිනිස්සට්ඨං'** අනාගත දේ අතහැරලා. **'පටිනිස්සට්ඨං'. පච්චුප්පන්නෙසු ච අත්තභාවපටිලාභෙසු ඡන්දරාගො සුප්පටිවිනීතො'**- වර්තමාන ආත්මභාවය පිළිබඳව ඒ කියන්නේ වර්තමානව ඉදිරිපත් වන දේ පිළිබඳව, ඡන්දරාගයත් සන්සිඳුවලා. අන්න ඒ විධියටයි තෙර මේ ඒකවිහාරී බව සර්වාර්ථයෙන්ම සම්පූර්ණ වන්නේ. පරිපූර්ණ වන්නේ කියලා බුදුරජාණන් වහන්සේ වදාළා.

ඉතින් මේ දේශනාවෙන් අපට පෙනෙනවා - එකක් අර **'ඒක'** කියන වචනයේ අදහස **'ඒකවිහාරී' බව** හුදකලා බව. ඒක අපි පෙන්වලා දුන්නා තවත් උද්ධෘත පාඨ දක්වමින් 'ඒක' කියන වචනය අතීතයේ යෙදිලා තියෙනවා හුදකලාබව අඟවන විශේෂ පදයක් හැටියට.

ඊළඟට අනික් කාරණය මෙන්න මේ 'ඒක විහාරී බව' බුදුරජාණන් වහන්සේ පෙන්නපු හැටියට ලෝක සම්මත පිරිසෙන් වෙන්ව ඉඳීම පමණක්ම නොවේ. ඉතින් මේ ධර්මය කියවපු මේ පින්වතුන් දන්නවා ඇති මේ ධර්මයේ විවේක තුනක් දක්වනවා. විවේකය කියන එක තුන්අර්ථයකින් දක්වනවා. **කාය විවේක, චිත්ත විවේක, උපධි විවේක** කියලා. කාය විවේක කියන එක තමයි කවුරුත් දන්නේ. මම මේ ඔක්කොම අතෑරලා දාලා කැලේට යනවා. කැලේට ගිහිල්ලා තනිවම ඉඳීමෙන් ඔක්කොම විසඳෙනවා කියලා හිතනවා. ඒකත් උපකාර වෙනවා තමයි භාවනා කරන්න. නමුත් ඒක පහළම මට්ටමේ ඒකවිහාරී බව.

දෙවන මට්ටම චිත්ත විවේකය. ඒ විවේකය උපකාර කරගෙන යම් කෙනෙක් නීවරණ යටපත් කරලා සමාධියක් ලබාගන්නවා නම් 'විවිච්චෙව කාමෙහි විවිච්ච අකුසලෙහි ධම්මෙහි' කියන ආකාරයට ධ්‍යාන තත්වයන්

ලබාගන්නවා නම්, කාමයන්ගෙන් අකුසල ධර්මයන්ගෙන් වෙන්වෙලා- ඒක චිත්ත විවේකය. අතීතයේ ධ්‍යානලාභී ඍෂිවරුන් එතැනටයි ගියේ.

ඔන්න **උපධි විවේකය තමයි මේ ධර්මයේ දක්වන ගැඹුරුම විවේකය.** උපධි විවේකය කියන්නේ තිවනයි. ඊළඟට ඒ උපධි විවේකය කියන වචනය තේරුම් ගන්න මේ පින්වතුන්ට උපකාර වෙනවා - 'උපධි' කියන වචනයේ අර්ථය තේරුම් ගන්න ඕන ඉස්සරවෙලා. මේ උපධි කියන වචනය අර්ථ දෙකකින් ධර්මයේ සඳහන් වෙනවා. ලෞකික අර්ථයෙන් ගත්තොත් උපධි කියන්නේ, රන්, රිදී, මුතු, මැණික්, ගේ දොර, ඉඩකඩම්, අඹු දරුවන් ඒ ආදී තම තමන්ගේ වත්කම් හැටියට සළකන, මමත්වය රඳා පවතින දේවල් ලෞකික අර්ථයෙන් උපධි. ගැඹුරු අර්ථයෙන් ගත්තොත් උපධි කියලා කියන්නේ අපේ සාංසාරික වත්කම් සමූහය. මොකක්ද ඒ? දැන් මේ පින්වතුන් අහලා තියෙන පදයක් තමයි පංච උපාදානස්කන්ධය. පංච උපාදානස්කන්ධය කියලා කියන්නේ අපි අල්ලාගෙන එල්ලිලා ඉන්න ගොඩවල් පහ. ඒ වචන පහ නම් කවුරුත් අහලා ඇති, රූප ගොඩ, වේදනා ගොඩ, සඤ්ඤා ගොඩ, සංස්කාර ගොඩ, විඤ්ඤාණ ගොඩ. එතකොට අන්න ඒවා අල්ලාගෙන එල්ලීගෙන ඉන්න අර්ථයෙන් ගත්තොත් උපාදාන. නමුත් තමන් ඒවා මත පිහිටලා සිටිනවා නම් - වත්කම් වගේ- තමන්ට ඒවා තමන්ගේ මමත්වය රඳා පවතින දේ හැටියට සලකන අවස්ථාවේදී ඒ උපාදානම උපධි හැටියට සැලකෙනවා. එතකොට අපි බලන දෘෂ්ටිකෝණය අනුව මේ ගොඩවල් පහම ඇතැම් අවස්ථාවක එල්ලිලා ඉන්න දේවල් හැටියට ගන්නවා නම් උපාදාන ගොඩවල් පහක්. ඒවා මත රඳා පවතින අර්ථයෙන් ගත්තොත්, ඒවාම එකතු කරගෙන ගොඩගසාගෙන තියෙන දේවල් හැටියට සැලකුවොත්, ඔන්න උපධි.

ඉතින් ඊළඟට ඒ එක්කම අපි කියමු මේ 'ගොඩ' කියන වචනයත් බොහෝ දෙනාට ප්‍රශ්නයක් වෙන්න පුළුවන්. මොකද මේකට රූප ගොඩ, වේදනා ගොඩ කියන්නේ? 'ඛන්ධ' කියන වචනය. ඉතින් ඛන්ධ කියන වචනය පංචස්කන්ධ කියන කොට ඛන්ධ කියන වචනයක් තියනවා නේ. ඛන්ධ කියන්නේ ගොඩ, සමූහය. මොකක්ද මේ ගොඩ කියන එකත් බුදුරජාණන් වහන්සේ තෝරා දීලා තියෙනවා. මේ ගොඩ එකොළොස් ආකාරයයි. ඒක වෙන තැන්වල දක්වනවා. ''අතීතානාගත පච්චුප්පන්නං වා, අජ්ඣත්තං වා, බහිද්ධා වා, ඕළාරිකං වා, සුඛුමං වා, හීනං වා, පණීතං වා, යං දූරෙ සන්තිකෙ වා' කියලා එකොළොස් ආකාරය. අර මෙතැන කියැවුන කාලත්‍රය ඉස්සරවෙලාම දක්වෙන්නේ අතීත රූපගොඩ, අනාගත රූපගොඩ, වර්තමාන රූප ගොඩ, ඊළඟට ඒක අජ්ඣත්ත කියන්නේ ඇතුළත හෝ වේවා බහිද්ධා පිටත හෝ වේවා දෙයාකාරයක්. ඊළඟට ඕළාරික සුඛුම. රළු හෝ සියුම්. ඊළඟට හීනං වා පණීතං වා පහත් හෝ උසස්. යං දූරෙ සන්තිකෙ වා, දුර හෝ. ළඟ හෝ ඔන්න එකොළොස්

ආකාරයකට මේ එක එක ස්කන්ධයක් බෙදිලා යනවා. ඉතින් මෙන්න මේවා තමයි අපි අල්ලාගෙන ඉන්නේ වත්කම් හැටියට. අන්න ඒ කියපු හැම උපධියක්ම අතහැරෙන අවස්ථාවයි නිවන කියලා කියන්නේ. ඒකයි නිවන හඳුන්වන වචනයක් හැටියට 'සබ්බූපධිපටිනිස්සග්ගො'. සියලු උපධීන් අතහැරිය අවස්ථාව. අන්න ඒ සියලු උපධීන් අතහැරිය අවස්ථාව තමයි ඔය කියාපු උපධි විවේකය. ඒ කියන්නේ රහත්බව. ඒකයි ඉහළම විවේකය. දැන් අපි අර කියාපු ථෙර නමින් හැඳින්වුන භික්ෂුවට කළ අනුශාසනය බුදුරජාණන් වහන්සේ ඉවර කරන්නේ ඇත්ත වශයෙන්ම එක්තරා ගාථාවකින්. රහතන් වහන්සේ පිළිබිඹු කරන ගාථාවකින්.

සබ්බාභිභුං සබ්බවිදුං සුමෙධං

සබ්බෙසු ධම්මෙසු අනූපලිත්තං

සබ්බං ජහං තණ්හක්ඛයෙ විමුත්තං

තමහං නරං එකවිහාරීති බ්‍රූමි

ඔන්න අර ඒකවිහාරී බව ඇත්ත වශයෙන්ම තියෙන්නේ රහතන් වහන්සේ තුළය කියන එක අර භික්ෂුවට ප්‍රකාශ කරනවා මෙන්න මේ ගාථාවෙන්.

**'සබ්බාභිභුං'** සියල්ලම ජයගත්, **'සබ්බවිදුං'** සියල්ලම තේරුම්ගත්, **'සුමෙධං'** ඒ ඥානවන්ත පුද්ගලයා, **'සබ්බෙසු ධම්මෙසු අනූපලිත්තං'** කිසිම දෙයක් කෙරෙහි, එහෙම නැත්නම් සියලුම දේ කෙරෙහි නොඇලුණු ස්වභාවය ඇති **'සබ්බෙසු ධම්මෙසු අනූපලිත්තං.'** **'සබ්බං ජහං'** හැමදෙයක්ම අතහැරලා, **'තණ්හක්ඛයෙ විමුත්තං'** තෘෂ්ණාව ක්ෂය කිරීමෙන්, විමුක්තවූ **'තමහං නරං'** ඒ නරයාට, ඒ මනුෂ්‍යයාට, ඒ රහතන් වහන්සේට, මම එකවිහාරී කියනවා කියලයි බුදුරජාණන් වහන්සේ අර තෙරුන්ට කළ අනුශාසනය ඉවර කළේ. ඒකෙන් අපට හිතාගන්න පුළුවන් අන්න, තේරුම් ගන්න පුළුවන් උපධි විවේකය තමයි ඉහළම විවේකය පරියමාප්ත. ඒකට අපි ඒක වඩාත් හිතට කාවදින්න **'උත්තරීතර හුදෙකලාව'** කියලා කිව්වා - පරම විවේකය. අන්න එතකොට භදෙද්කරත්ත කියල කිව්වේ අර උත්තරීතර හුදෙකලාවේ ඇලුනු මහණ කියන එකයි. ඔය ටික පෙන්වන්නයි අපි ඒ සාධක සූත්‍රය ඉදිරිපත් කළේ.

ඊළඟට අපි කියමු දැන් ඔය කිව්වේ ගාථා ටික නේ. ගාථා ටික උද්දේසය හැටියට බුදුරජාණන් වහන්සේ ඉදිරිපත් කළා. සාරාංශය හැටියට. ඒ එක්කම බුදුරජාණන් වහන්සේ විභංගයත් සංඝයා වහන්සේලාට මේ විධියට ඉදිරිපත් කරනවා. "කෙසේද මහණෙනි ගිය කල ලුහුබඳින්නේ?" දැන් කිව්වනේ 'ගිය කල ලුහුනොබඳින්න' කිව්ව නේ ඉස්සර වෙලා. කොහොමද ගිය කල ලුහුබැන්දා වෙන්නේ. ගිය කල ලුහුබැන්දා වෙන්නේ කොහොමද?

ඒ කියන්නේ අතීතය පස්සේ එළවනවා කියන එක ප්‍රශ්න කරලා තේරුම් කරලා දෙනවා. මෙහිලා යම්කිසි භික්ෂුවක් මෙන්න මෙහෙම කල්පනා කරනවා. 'එවං රූපො' මම අතීතයෙහි මෙබඳු රූපයක් ඇතිව සිටියෙමි කියලා. ඒ හිත මතුකරගෙන අතීතය පිළිබඳව හිතලා ඒ අතීත රූපය පිළිබඳව 'නන්දි' නම් වූ සතුටුවීමක් - නන්දි කියල කියන්නේ තණ්හාවටම වෙන නමක්- නන්දි නම් වූ සතුටු වීමක් ඇතිකර ගන්නවා. ඒ සතුටුවීම ඇතිකර ගැනීම තුළින්නුයි කෙනෙක් අතීතයට ගියා වෙන්නේ. එතකොට අතීතය සිහි වූ පමණින් නොවේ. අතීත රූපය පිළිබඳව ඇල්මක්, තණ්හාවක් ඇතිකර ගන්නවා. ඒ වගේම වේදනාව, සඤ්ඤාව, සංස්කාර, විඤ්ඤාණ. එතකොට ඒ විධියටයි ගිය කල ලුහුබඳින්නේ.

ඊළඟට පෙන්වනවා "කෙසේද මහණෙනි ගිය කල ලුහුනොබඳින්නේ." එතැනදී දක්වන්නේ යම් කෙනෙක් අර කියාපු අතීත රූප වේදනා ආදිය පිළිබඳව 'නන්දි' කියන සතුටුවීමක් ඇතිකරගන්නේ නැත්නම් අන්න එයින් මිදුනා. ගිය කල ලුහුබැඳීමෙන් මිදුනා. අනාගතය ගැනත්, ඒ විධියටයි කියන්නේ. 'අනාගතයේ මම මෙබඳු රූපයක් ඇත්තෙම් වෙම්වා!' කියලා තමාට පහළ නොවූ ඒ අනාගතයේ බලාපොරොත්තු වන රූපය පිළිබඳ යම් කෙනෙක් නන්දි නම් තණ්හාව ඇතිකර ගත්තා නම් අන්න 'මතු කල' පැතීමක් වෙනවා. ඒ විධියටම හිතාගන්න. අනික් ස්කන්ධ පිළිබඳව.

ඊළඟට කියනවා වර්තමාන. පච්චුප්පන්න කියන වර්තමානය- "කෙසේද මහණෙනි, කෙනෙක් වර්තමාන ධර්මයන්ට ඇදී යන්නේ." එතැන අමුතු වචනයක් කියවෙනවා. අර ගාථාවෙත් කියවෙච්ච. 'සංහීරති' වර්තමාන දෙයට ඇදිලා එන්නේ කොහොමද? එතැනදී බුදුරජාණන් වහන්සේ දක්වන්නේ මේ පින්වතුන් සමහරවිට දන්නවත් ඇති ඔය අශ්‍රැතවත් පෘථග්ජන පුද්ගලයාගේ චින්තන රටාව සක්කායදිට්ඨිය අනුව සකස් වෙච්ච එකක්. සක්කායදිට්ඨිය කියලා කියන්නේ මේ එක එක ස්කන්ධයක් පිළිබඳව හතර ආකාරයකින් ආත්ම වශයෙන් පරිකල්පනය කිරීම. මේ මගේ රූපය කියලා. ඒක දක්වන්නේ හතර ආකාරයකින්. රූපය ආත්මය හැටියට සලකනවා. එහෙම නැත්නම් ආත්මය රූපයක් ඇති දෙයක් හැටියට සලකනවා. එහෙම නැත්නම් ආත්මය තුළ රූපය තියෙනවා කියලා හිතනවා. එහෙම නැත්නම් රූපය තුළ ආත්මය තියෙනවා කියල හිතනවා. ඔය විධියට ආත්ම සංකල්පයක් තුළින් අර රූපයට ඇදී ඒමයි වර්තමාන ධර්මයන්ට ඇදී ඒම. පච්චුප්පන්න ධර්මයන් පිළිබඳ ඇදී ඒම. ඒ විධියටම සලකාගන්න වේදනා ආදිය පිළිබඳවත්. එහෙම අශ්‍රැතවත් පෘථග්ජනයා කියල කියන, ධර්මය නොදන්නා සාමාන්‍ය පෘථග්ජනයාගේ චින්තන රටාව තමයි අර වර්තමානයට ඇදී ඒම කියන්නේ. ඒ ඇදී ඒම නිසාම තමා 'සංකුපප' කියලා කියන ගැටීමත්. ඇලීම ගැටීම කියන දෙකම එකට තේ යන්නේ.

ඊළඟට දක්වනවා කෙසේද ඒවාට ඇදී නොයන්නේ. එතෙන්දී කියන්නේ ශ්‍රැතවත් ආර්ය ශ්‍රාවකයා, ධර්මය අසා තිබෙන ආර්ය ශ්‍රාවකයා, ඒ සක්කායදිට්ඨියෙන් මිදෙන ආකාරයට සිතන කෙනා, කොහොමද හිතන්නේ. මේ රූපය අර මගේය කියලා අල්ලගන්නේ නැහැ. දැන් අපි කියාපු හතර ආකාරයට රූපය මගෙයි, ආත්මය රූපය සහිතයි. ආත්මය තුළ රූපය තියෙනවා, රූපය තුළ ආත්මය. ඒ විධියට හිතන්නේ නැහැ. ඒ වෙනුවට එතැනට එකතුකර ගන්නවා 'න' යන්නක්. රූපය විධියට හිතන්නේ නැහැ. රූපය ආත්මය කියලා හිතන්නේ නැහැ. අන්න එච්චරයි. ඒ කියන්නේ ආර්ය ශ්‍රාවකයා හික්මෙනවා බුදුරජාණන් වහන්සේ කියාපු ආකාරයට අනාත්ම දර්ශනය අනුව වර්තමාන මෙහොත දිහා බලන්න. ඉතින් ඒ විධියටයි බුදුරජාණන් වහන්සේ අපි ඒ කෙටියෙන් ගත්තොත් ඔය කියාපු පංචඋපාදානස්කන්ධය ආශ්‍රයෙන් බුදුරජාණන් වහන්සේ දක්වනවා අතීතයට දුවන්නේ කොහොමද, නොදුවන්නේ කොහොමද, අනාගතය පතන්නේ කොහොමද, නොපතන්නේ කොහොමද වර්තමාන ධර්මයන්ට අනුවෙන්නේ නැතිව ඒ ඒ තැන විදර්ශනා කරන්නේ කොහොමද කියලා.

ඔන්න එතකොට තව හුහක් තියෙන නිසා ඒ භද්දෙකරත්ත සූත්‍රය ගැන ඒ ටික කිව්වා. දැන් අපි කිව්වා නේ මේ භද්දෙකරත්ත සූත්‍රයේ තියෙන ගාථාව තව සූත්‍ර තුනක තියෙනවා කියලා.

ඔන්න ඊළඟට අපි ඉස්සරහට ගන්නේ ඒ ළඟම තියෙන ආනන්ද භද්දෙකරත්ත සූත්‍රය. ඒකත් බොහෝදුරට සමානයි. වෙනස තියෙන ටික අපි කියමු. ඒ ආනන්ද භද්දෙකරත්ත සූත්‍රයේ නිදානය හැටියට දක්වෙන්නේ මෙහෙමයි. ඒත් බුදුරජාණන් වහන්සේ සැවැත්නුවර ජේතවනාරාමයේ වැඩවාසය කරන අවස්ථාවක්. ආනන්ද ස්වාමීන් වහන්සේ උපස්ථාන ශාලාවේ භික්ෂූන් වහන්සේලාට ධර්ම කථාවක් පවත්වනවා. ධර්ම කථාවකින් උත්සාහවත් කරනවා. ඒ උත්සාහවත් කරන අවස්ථාවලදී භද්දෙකරත්තයත්, එහි විභාගයත් ප්‍රකාශ කළා සංඝයාවහන්සේලාට. ආනන්ද හාමුදුරුවෝ බණ කිව්වා. ඒ ප්‍රකාශ කරලා ඉවර වුනාට පස්සේ බුදුරජාණන් වහන්සේ හැන්දෑවේ භාවනාවෙන් නැගිටලා උපස්ථාන ශාලාවට ඇවිල්ලා අහනවා සංඝයා වහන්සේලාගෙන් "කවුද මහණෙනි අර උපස්ථාන ශාලාවේ සංඝයාවහන්සේලා ධර්ම කථාවකින් උත්සාහවත් කළේ භද්දෙකරත්තයාගේ උද්දේසයත් විභංගයත් ප්‍රකාශ කළේ?" සංඝයාවහන්සේලා කියනවා "මේ ආනන්ද ආයුෂ්මතුන් වහන්සේ." ඊළඟට බුදුරජාණන් වහන්සේ අහනවා. ආනන්ද ස්වාමීන් වහන්සේගෙන් "ආනන්ද, කොහොමද ඔබ මේ සංඝයාවහන්සේලාට මේක විස්තර කළේ" ඔන්න ආනන්ද හාමුදුරුවෝ නැවතත් අර ප්‍රකාශ කළ කාරණාව බුදුරජාණන් වහන්සේ ඉදිරියේ අර කලින් කියාපු විග්‍රහයම දක්වනවා. බුදුරජාණන් වහන්සේ සාධු සාධු කියලා ඒක අනුමෝදන් වෙනවා. ඒ **ආනන්ද භද්දෙකරත්ත සූත්‍රය.**

ඔන්න ඊළඟට අපි එනවා **මහා කච්චායන භද්දෙකරත්ත සූත්‍රයට.** එතැනදී ඒ බුදුරජාණන් වහන්සේ රජගහනුවර තපෝදාරාමයෙහි වැඩ වාසය කරන අවස්ථාවක්. එතකොට තපෝදාරාමයෙහි වැඩ වාසය කරන අවස්ථාවක සමිද්ධි කියන ස්වාමීන් වහන්සේ උදයක නැගිටලා, ඔය 'තපෝද' කියල කියන්නේ පින්වතුනි ඉන්දියාවේ තියෙන උණු වතුර ළිං. බුදුරජාණන් වහන්සේ වැඩ සිටිය තපෝදාරාමය ළඟ තියෙන උණුවතුර තියෙන ජලාශයක්. ඒ තපෝදයට ගිහිල්ලා සමිද්ධි ස්වාමීන් වහන්සේ අළුයම කාලයෙම පැන් පහසු වෙලා අඳනය විතරක් ඇතිව ඇඟ වෙලෙනකන් හිටගෙන හිටියා. ඒ අවස්ථාවේ තපෝදය ආලෝකවත් කරමින් එක්තරා දේවතාවෙක් මේ සමිද්ධි හාමුදුරුවෝ ළඟට ඇවිල්ලා අහනවා 'මහණ, ඔබ දන්නවාද, ඔබ දරාගෙන සිටිනවාද, මේ භද්දෙකරත්තයාගේ උද්දේසයත් විභංගයත්?' මේ සමිද්ධි හාමුදුරුවෝ කියනවා 'නෑ, ඇවැත්නි, මම දන්නේ නැහැ. ඔබ දන්නවද?' දේවතාවා කියනවා 'මමත් දන්නේ නැහැ.' ඊළඟට දේවතාවා අහනවා 'මේ භද්දෙකරත්තයාගෙ ගාථා ටිකවත් ඔබ වහන්සේ දන්නවා ?' 'මම දන්නේ නැහැ. ඔබ දන්නවාද?' 'මමත් දන්නේ නැහැ.' කියලා දේවතාවා කියනවා. හැබැයි ඉතින් දේවතාවා ඊළඟට කියනවා 'ඒ වුනාට මහණ, මේ භද්දෙකරත්තයාගේ උද්දේසයයි, විභංගයයි භික්ෂු ජීවිතයට ඉතාමත් අවශ්‍යයි. බොහොම වටිනවා. ඒක ඉගෙන ගන්න' කිව්වා.

එහෙම කිව්ව නිසා සමිද්ධි ස්වාමීන් වහන්සේ එළි වුනාට පස්සේ බුදුරජාණන් වහන්සේ ළඟට ගිහිල්ලා කියනවා මෙන්න මෙහෙම. 'මම උදේ පැන්පහසුවෙලා ඉන්නකොට දේවතාවෙක් ඇවිල්ලා මෙහෙම කිව්වා, "ස්වාමීනි, කරුණාකර මට භද්දෙකරත්තයාගේ උද්දේසයත්, විභංගයත් කියාදෙන්න" කියලා කිව්වා. 'හොඳයි මහණ, ඇහුම්කන් දෙන්න' කියලා බුදුරජාණන් වහන්සේ ඊළඟට අර සමිද්ධි ස්වාමීන් වහන්සේ ඇතුළු පිරිසට අර ගාථා හතර දේශනා කළා. දේශනා කරලා මොකක්ද කළේ? ආසනයෙන් නැගිටලා විහාරයට වැඩම කළා. ඒක බුදුරජාණන් වහන්සේ කරන ගුරුවරයකුගේ එක්තරා දක්ෂ උපක්‍රමයක්. ඒ කළේ අර ගෝලයන් ලවා මේක පිළිබඳ විවරණයක් කරන්න පුරුදු කරන්න. බුදුරජාණන් වහන්සේ විහාරයට වැඩියාම සමිද්ධි ස්වාමීන් වහන්සේ ඇතුළු සඟ පිරිස කල්පනා කරනවා, දැන් මේ භාග්‍යවතුන් වහන්සේ මේක කෙටියෙන් දේශනා කරලා පිටත්වෙලා ගියා. අපි දන්නේ නැහැ මේකේ අර්ථය. අපි කොහොමද මේකේ අර්ථ විවරණය දැනගන්නේ. විභංගය තියෙද්දී උද්දේසය විතරක් බුදුරජාණන් වහන්සේ දේශනා කරලා විහාරයට වැඩම කළා. ඉතින් ඔහොම කථා කරන මේ සංඝයා වහන්සේලා කියනවා දැන් මේ මහා කච්චායන ස්වාමීන් වහන්සේ බුදුරජාණන් වහන්සේ බොහොම ප්‍රශංසා කරපු කෙනෙක් නේ? උන්වහන්සේ පණ්ඩිතයි. කෙටි ඒවා විස්තර වශයෙන් දේශනා කරන්න පුළුවන් කියලා. අපි යමු කච්චායන හාමුදුරුවෝ ළඟට

කියලා ඔන්න මේ පිරිස ගිහිල්ලා කච්චායන ස්වාමීන් වහන්සේට ආරාධනා කළා. මේ විධියට බුදුරජාණන් වහන්සේ කෙටියෙන් දේශනා කළ එකේ අර්ථය අපට කියලා දෙන්න කියලා.

ඉතින් සාමාන්‍යයෙන් ඔහොම තැන්වලදී තියෙන විධියට කච්චායන ස්වාමීන් වහන්සේ කියනවා "ඕක ඒ වෙලාවෙම අහන්න තිබුණා නේ. ආයුෂ්මතුන්වහන්සේලා හරියට අර සල්ගහේ අරටුව තියෙද්දී කොළ අතු හේඩාවෙ අරටුව සොයන්නා වගේ මං ළඟට ඒම. කියලා බොහොම නිහතමානීව කිච්චම ආයිත් අර සංසයා වහන්සේලා ඇවිටිලි කළා. "නෑ, නෑ, ඒකට කමක් නැහැ. කරදරයක් නැත්නම් අපට කරුණාකරලා කියලා දෙන්න. ඒ වෙලාව ඉක්ම ගියා. බුදුරජාණන් වහන්සේගෙන් අහන වෙලාව." "ඔන්න එහෙනම් මේකට ඇහුම්කන් දෙන්න. මම මේක විවරණය කරන්නම්. මං කියන දේ හරිද කියලා පස්සේ ගිහිල්ලා බුදුරජාණන් වහන්සේගෙන් අහන්න" කියලා ඔන්න කච්චායන ස්වාමීන් වහන්සේ දෙන විවරණය මොකක්ද?

අර කියාපු කාරණයම මහා කච්චායන ස්වාමීන් වහන්සේ ආයතන හය ආශ්‍රය කරගෙන ඉදිරිපත් කරනවා. ඒක වැදගත්. එතන මේ විධියටයි කියන්නේ. ඔන්න ඇවැත්නි මෙන්න මම මේ විධියටයි තේරුම් අරගෙන තියෙන්නේ. අර අතීතයට දුවනවා කියන එක තෝරන්නේ අතීතයේ මගේ ඇස මේ විධියට තිබුනා. රූප මේ විධියට තිබුනා. කියලා ඒවා පිළිබඳව ඡන්ද රාගයක් ඇතිකර ගන්නවා විඤ්ඤාණයේ. ඒ ඡන්දරාගය නම් වූ ආශාවීමක් නිසා නන්දි නම් වූ සතුටු වීමක් ඇතිවෙනවා. ඒ කියන්නේ තණ්හාවටම වෙන නමක්. එහෙම ඇතිකර ගැනීම තුළින් අන්න එතකොට භික්ෂුව අතීතයට දුවනවා වෙනවා. අර රූප වේදනා ආදිය වෙනුවට මෙතන කියන්නේ ඇසත් රූපත්. අනිත් ඒවා සලකාගන්න මේ පින්වතුන් සළායතනය කියලා කියනකොට ආයතන හය මොනවද? ඇස, කණ, නාසය, දිව, කය, මන. ඒවාට අදාළ රූප, ශබ්ද, ගන්ධ, රස, ඵොට්ඨබ්බ, ධම්ම කියන ඒවත් එක්ක. එතකොට ඒ හය පිළිබඳව මනසත් ඇතුළුව අර අතීතයේ තිබ්බ්ච ඒවා ගැන හිතලා අර විධියට ඡන්දරාගයක් ඇල්මක් ඇති කර ගත්තොත් අතීතයට දිව්වා වෙනවා. එහෙම ඇතිකර නොගත්තු කෙනා අතීතයට දුවන්නේ නැහැ. අතීතය සිහි වූ පමණින් නොවේ එතන වැරැද්ද තියෙන්නේ.

ඒ විධියටම අනාගතය ගැනත් ප්‍රකාශ කළා උන්වහන්සේ. අනාගතය පිළිබඳව ප්‍රණිධියක් ඇතිකරගන්නවා. ප්‍රාර්ථනාවක් ඇතිකර ගන්නවා. 'මම මෙබඳු ඇසක් ඇත්තෙක් වෙම්වා!' 'මෙබඳු රූප දකින්නෙක් වෙම්වා!' ඔය ආදී වශයෙන් එතකොට ඒ අනාගතය.

වර්තමානය පිළිබඳවත් ප්‍රකාශ කරන්නේ වර්තමානය ගැන ඒත් කියන්නේ සළායතනය ආශ්‍රයෙන්. වර්තමාන ඇසත් ඒ රූපයත් පිළිබඳව ඒත් අර විධියට ඡන්දරාගය ඇතිකරගෙන තණ්හාව ඇතිකර ගැනීමයි. එතකොට ඒ සළායතනය ආශ්‍රයෙන් මහා කච්චායන ස්වාමීන් වහන්සේ මේ කියාපු කාරණය පැහැදිලි කරන්නේ.

සංඝයාවහන්සේලා ඕක අහගෙන ඉඳලා ගිහිල්ලා බුදුරජාණන් වහන්සේට ප්‍රකාශ කළා. මෙන්න මෙහෙම මහා කච්චායන ස්වාමීන් වහන්සේ අපට කියා දුන්නා කියලා. බුදුරජාණන් වහන්සේ සාධු! සාධු! කියලා මගෙන් ඇහුවත් ඔය ටිකයි කියන්නේ කියලා ඒකක් අනුමත කර වදාළා. එයින් අපට පෙනෙනවා මේ කියාපු භද්දෙකරත්තයා පිළිබඳ කථාව පංචඋපාදානස්කන්ධය ආශ්‍රයෙන් වගේම අපට තේරුම් ගන්න පුළුවන් සළායතනය ආශ්‍රයෙන්. අපි කිව්වා වගේ අර විදර්ශනාවට උපකාරවන කාරණයක් නිසා පංචඋපාදානස්කන්ධය ආශ්‍රය කරගෙන විදර්ශනාව කෙනෙකුට වඩන්නත් පුළුවන්. ඒත් නිවනට යන. සළායතනය ආශ්‍රයෙන් - බොහෝ දෙනෙකුට ඒකත් උපකාර වෙනවා- මේ ආයතන හය ආශ්‍රයෙන් විදර්ශනාව වඩන්න පුළුවන්. ඒකටත් මේ කියාපු කාරණය උපකාර වෙනවා. ඉතින් ඔන්න ඕක තමයි මහාකච්චායන භද්දෙකරත්ත සූත්‍රයේ තියෙන්නේ.

ඔන්න ඊළඟට අපි එමු **ලෝමසකංගිය භද්දෙකරත්ත සූත්‍රයට**. ඒක ටිකක් අමුතුයි. ඒකෙදි බුදුරජාණන් වහන්සේ සැවැත් නුවරම තමයි වැඩ වාසය කරන්නේ. නමුත් සිද්ධිය සිදුවන්නේ ශාක්‍යයින්ගේ කපිලවස්තුපුර නිග්‍රෝධාරාමයේ. මේ නිග්‍රෝධාරාමයේ ඉන්නවා ලෝමසකංගිය කියලා ස්වාමීන් වහන්සේ නමක්. ඒ අවස්ථාවේ දක්වෙන්නේ මෙහෙමයි. ලෝමසකංගිය කියන භික්ෂූන් වහන්සේ නමක් ඒ නිග්‍රෝධරාමයේ ඉන්න අවස්ථාවේ ඒ රෑ සෑහෙන වෙලාවක් ගෙවුනාට පස්සේ ඔය බොහෝ විට දේවතාවන් එන වෙලාවක් තියෙනවා නේ? චන්දන නම් වූ දේවතාවෙක් ඇවිල්ලා අර විධියටම මේ ලෝමසකංගිය ස්වාමීන් වහන්සේගෙන් අහනවා ඉදිරියේ පෙනී සිටලා "මහණ, ඔබ භද්දෙකරත්ත උද්දේසයයි විභංගයයි දන්නවාද? ඒක දරාගෙනද?" 'නැහැ, ඇවැත්නි ඔබ දන්නවාද,' 'මමත් දන්නේ නැහැ' එතකොට ඊළඟට දේවතාවා අහනවා, "මහණ ඔබ දන්නවාද භද්දෙකරත්ත ගාථා?" මම දන්නේ නැහැ, ඔබ දන්නවාද?' අන්න එතැනදී චන්දන දේවපුත්‍රයා කියනවා මම දන්නවා කියලා. ඔන්න එතැන දක්වෙන කාරණය ඉතාම විශේෂයි.

මේ චන්දන දේවපුත්‍රයා කියනවා එක් අවස්ථාවක භාග්‍යවතුන් වහන්සේ තව්තිසා දෙව්ලොව පරසතු රුකමුල පණ්ඩුකම්බල ශෛලාසනයේ ඉඳගෙන තාවතිංස දෙවියන්ට මේ භද්දෙකරත්තයත් ඒ විභංගයත් දේශනා කළා කියල මට මතක හැටියට ඒ ගාථා ටික - එතකොට විභංගය මතක

නැහැ චන්දන දේවපුත්‍රයාට - ගාථා ටික කිව්වා. ඒ ගාථා ටික කියලා නැවැත්තුවේ නැහැ. ඒ දේවතාව කියනවා ලෝමසකංගිය හාමුදුරුවන්ට "මහණ, ඔබ මේ භද්දේකරත්ත සූත්‍රයේ විභංගයත් ඉගෙන ගන්න. ඒක භික්ෂු ජීවිතයට ඉතාම අවශ්‍ය දෙයක්.' එහෙම කියලා අතුරුදන් වුණා.

ඉතින් ලෝමසකංගිය හාමුදුරුවෝ මොකද කළේ? පස්සෙන්දාම සේනාසනය සකස් කරලා තියල පාත්‍ර සිවුරු අරගෙන, නිග්‍රෝධාරාමයෙන් පිටත්වෙලා අනුපිළිවෙලින් සැවැත් නුවර බලා වැඩම කළා. මොකටද? උද්දේස විභංගය අහන්න. එහෙම වැඩම කරලා ඔන්න යම් අවස්ථාවක බුදුරජාණන් වහන්සේ මුණ ගැසුනා නම් ජේතවනාරාමයේදී මේ ලෝමසකංගිය ස්වාමීන් වහන්සේ අර තමන් ළඟට ආ දේවතාවා පිළිබඳ ප්‍රවෘත්තිය ඔක්කොම කිව්වා. කියලා ඊළඟට එතකොට බුදුරජාණන් වහන්සේ- ඔන්න එතැනත් අමුත්තක් තියෙනවා. බුදුරජාණන් වහන්සේ ඇහුවා "ඔබ දන්නවාද ඒ දේවතාව කවුද කියලා." "නෑ ස්වාමීනි," "ඒ තමයි චන්දන දිව්‍ය පුත්‍රයා. චන්දන දිව්‍ය පුත්‍රයා මම මේක දේශනා කරනකොට ටිකක් කන්දීගෙන හිටියා. ඇහුම්කන් දුන්නා." එහෙම කියලා "ඔන්න මහණ මම කියලා දෙන්නම්" කියලා කලින්ම අපි කිව භද්දේකරත්ත සූත්‍රයේ තියෙන ඒ විවරණයත් එතැනදී ඉදිරිපත් කළා. ඔන්න දැන් මැදුම් සඟියේ තියෙන ඒ සූත්‍ර හතරේ තියන භද්දේකරත්ත සූත්‍රය පිළිබඳ කාරණා ටික අපි සාමාන්‍යයෙන් මේ පින්වතුන්ට කියලා දුන්නා.

දැන් තියෙන්නේ - දැනටමත් ඒවායේ වැදගත්කම තේරෙන්න ඇති. යමක් කියනවා නම් ඉතිරි කාලය තුළ අන්න අර විදර්ශනාවට උපකාර වන්නේ කොහොමද කියන එක. දැන් අපි ආරම්භ කළේ කොහොමද? සාමාන්‍යයෙන් ලෝකයා සිටින්නේ මළ අතීතයකය. ජීවත්වන්නේ මළ අතීතයකය. නූපන් අනාගතයකය. නමුත් සංසාර විමුක්තිය තියෙන්නේ මේ මොහොත තුළය. ඉතින් ඒක බුදුරජාණන් වහන්සේ මතුකරලා දුන්නේ කොහොමද? සාමාන්‍ය ලෝකයාට වර්තමාන මොහොත වැටහෙන්නේ නැත්තේ - **මේකේ හේතුව මොකක්ද? ඒ අර කියාපු සක්කායදිට්ඨිය නිසා. ආත්ම දෘෂ්ටිය නිසා. වර්තමාන මොහොත මමත්වයෙන් ගත්තු තැනැත්තාට ඒක විදර්ශනාවට නගන්න බැහැ. නමුත් විදර්ශකයා ඒ දිහා බලන්නේ ආත්මයක් හැටියට නොවේ. 'සංස්කාර. අන්න ඒකයි එතැනදී වැදගත් වන්නේ.**

අපි දන්නවා නේ සංස්කාර වශයෙන් සම්මර්ශනය කරනවා කියලා. සංස්කාර කියලා කියන්නේ 'අනිච්චාවත සංඛාරා - උප්පාදවය ධම්මිනො' කිව්වේ අර කියාපු මැරෙන වෙලාව විතරක් අල්ලලා නොවේ. සංස්කාරයන්ගේ ධර්මතාව මොකක්ද? ඇතිවෙනවා නැතිවෙනවා. ඇතිවෙනවා නැතිවෙනවා. ඇතිවෙනවා, නැතිවෙනවා නම් ඒක තමන්ගේ වසයේ පවත්වා ගන්න බැරි

නම්, යථාතත්ත්වය එහෙම නම්, එතකොට ඔන්න එතැන විවරයක් ඇතිවෙනවා. **වර්තමානය.** ඒකයි කිව්වේ **'තත්ථ තත්ථ විපස්සති' වර්තමානයේ ඒ ඒ තැන්වලම දකින්න ඕනෑ.** අර ගාථාවල කිව්වේ **'පච්චුප්පන්නං ච යො ධම්මං තත්ථ තත්ථ විපස්සති.** වර්තමාන ධර්මයන් ඒ ඒ තැන්වල ඉතාම සියුම් අන්දමින් ඒ දැකීම අර විදර්ශකයාට ඇතට යන්න යන්න මේ වර්තමාන මොහොත කියන එක තේරෙනවා. යෝනිසෝමනසිකාර නම් වූ නුවණින් මෙනෙහි කිරීම තුළින් පෙනෙනවා මේ මොහොතක් පාසා සිද්ධ වෙන්නේ අතීතයේ සිද්ධ වුනෙත් අනාගතයේ සිද්ධවෙන්න තියෙන්නෙත් වර්තමානයේ සිද්ධවෙන්නෙත් අර කියාපු සංස්කාර ඇතිවෙනවා නැතිවෙනවා.

එතැන තමයි **'උදයබ්බයඤාණ'** කියල කියන්නේ. ඇතිවීම් නැතිවීම්. ඉතින් විදර්ශනාව පටන් ගන්නේ එතැනින්. 'ඇතිවෙනවා. නැතිවෙනවා. ඇතිවෙනවා, නැතිවෙනවා.' ඉතින් ඒක තමයි 'අසංහීරං කිව්වේ. ආත්ම වශයෙන් ඒක අල්ලා ගන්නෙත් නැහැ. අල්ලා ගත්තොත් එතැනම ගැටුමක් තියනවා නේ. ඒකත් නැහැ. ඒ වෙනුවට, එතන - එතන විදර්ශනා වශයෙන් කියන්නේ අනිත්‍ය, දුක්ඛ, අනාත්ම වශයෙන් සංස්කාර වශයෙන්. ඔකෙදි තවත් පැහැදිලි කරන්න අපි බොහෝ අවස්ථාවල කියාපු උපමා - අපි නොවෙයි බුදුරජාණන් වහන්සේ නම් ඊටත් වඩා අවස්ථාවල මතක් කරලා තියෙනවා. දැන් සංස්කාරවලට දීපු උපමාව මේ පින්වතුන් කොතෙකුත් අහලා තියෙනවා නේ කෙසෙල් ගහ. **අපි මේ කෙසෙල් ගහ හුඟක් උපකාර කරගත්තා. අරටුවක් නැතිවුනාට අපට ධර්මය තේරුම් ගන්න උපකාර වන්නේ කෙසෙල් ගහ.** ඉතින් අපි ඒක ගණන් ගන්නේ නැහැ. **'කෙහෙල් මලෙයි'** කියලත් කියනවා. නමුත් කෙහෙල් ගහ විතර වටින දෙයක් නැහැ. මොකද අන්න අර සංස්කාරවල තත්ත්වය. ඉතින් බුද්ධවචනය මේ පින්වතුන් අහල ඇති බුදුරජාණන් වහන්සේමයි කෙහෙල් ගහේ උපමාව ඉදිරිපත් කරලා තියෙන්නේ සංස්කාර ගැන කියන කොට. ඔන්න කවදාවත් කෙහෙල් ගහක් නොදකපු මිනිහෙක් කැලේට ගිහිල්ලා මේ කෙහෙල් ගහ දකිනවා පළවෙනි වරට. හිතනවා මේක හොඳට අරටුව ඇති ලීයක් වගේ පෙනෙන නිසා උඩයි යටයි කපලා මේක කර ගහගෙන යනවා. ගෙදර ගිහිල්ලා අල්මාරියක් හරි පුටුවක් හරි හදන්න හිතාගෙන. එතකොට අන්න අර කෙහෙල් ගහ කරගහගෙන යන එක අපි පෙන්නුවේ ඒකට අපි වචනයක් යෙදුවා **'පරාමර්ශනය', අල්ලා ගැනීම.** ඒ වචනය අපි යෙදුවේ අර සාමාන්‍යයෙන් ධර්මයේ තියෙනවා අතික් පැත්ත. **'සම්මර්ශනය'** කියලා කියන්නේ **'යොනිසො'** නුවණින් මෙහෙනි කිරීම. මෙනෙහි කිරීම කියන වචනයට පාලි වචනය තියනවා **'සම්මසන'** කියලා. සම්මර්ශනය කියන එක අපිට අර පරාමර්ශනය කියන එකත් එක්ක විරුද්ධ වචනයක් හැටියට දැක්වුවොත් පරාමර්ශනය **'බදාගැනීම'** නම්

සමමර්ශනය කියන්නේ '**අතගා බැලීම වගේ දෙයක්.** දැන් අර කෙහෙල් කඳ ගැන කිව්වේ අර මනුෂ්‍යයා අරක කරගහගෙන ගියා නේ. බලන්නෙත් නැතිව. නමුත් විදර්ශකයා කරන්නේ මොකක්ද උඩයි යටයි කපලා අර කෙහෙල් කඳ අතගාගෙන යනවා අර පතුරු ඇරලා. **එක පතුරක් ඉවරවෙනකොට මෙන්න තව පතුරක්. ඒක යට තව පතුරක්. ඒක යට තව පතුරක්. අන්න ඔය විධියට තමයි සංස්කාර සම්මර්ශනයේදී වැටහෙන්නේ.** මනසිකාරය සියුම් වෙන්න වෙන්න අර කියාපු කෙහෙල් ගහේ අන්තිමට අපි මේ බඩය කියලා ගන්න එක - ඒකෙත් තියෙන්නේ පතුරු - ඒකෙත් නැහැ හරයක්. අන්න ඒ වගේ සංස්කාර සම්මර්ශනයේදී. මොකද අර කියාපු දෘෂ්ටිය අතෑරියා.

ඉතින් විදර්ශනාවේ යෙදෙන තව වචන දෙකක් මේ පින්වතුන්ට අපි බොහෝ අවස්ථාවල කියලා තියෙනවා. ඔය භාවනා ග්‍රන්ථවල තියෙන **ඝන සංඥාවයි. රාශි සංඥාවයි.** ඝන සංඥාව තියෙන්නේ අන්න අර බදාගත්තු තැනැත්තාටයි. ඝන වශයෙන් සළකනවා. මේක 'එක-ඝන' වස්තුවක්. එයාට ඉතින් විදර්ශනාවක් නැහැ. ඔන්න විදර්ශකයාට, විදර්ශනාවෙ ඈතට යන්න යන්න මේක රාශියක් හැටියට වැටහෙනවා. රාශියක් හැටියට වැටහෙනවා. වැටහෙන්නේ මොකද? **මේක එකක් හැටියට වැටහෙන්න හේතු වුනේ තණ්හා ලාටුව නිසයි. තණ්හා ලාටුව තුළින් ඇලවිලා තියෙනවා. අවිද්‍යා අන්ධකාරය තුළ ඒක වැහිලා තියෙනවා.** ඒක නිසා ලෝකයා මේ වර්තමානය ආත්මය කියලා මමය මාගේය කියලා ගන්නවා. ඒ විධියටම අතීත අනාගත පිළිබඳවත්. ඇත්ත වශයෙන් අතීතය අනිත්‍ය වශයෙන් තේරුම් ගැනීම අපට පහසුයි. ඒක දැන් ගිය නිසා ටිකක් හරි පහසුයි. අනාගතයත් තවම ආවෙ නැති නිසා අනාගත හීන දකලා ටික වේලාවකින් අවදිවෙලා ඒකත් නැහැ නේද කියලා ඒකත් තේරුම් ගන්න ලේසියි. **නමුත් වර්තමානය තමයි අමාරු. ඇත්තවශයෙන් උග්‍ර විදර්ශනාව එන්නේ වර්තමාන මොහොතේයි.** ඒ විදර්ශකයා අතීත සංස්කාරවල අනිත්‍යතාව මෙනෙහි කරලා, ඒ ඇතිකරගත්තු ජවය තුළින් බුද්ධ වචනය එපමණකින් සත්‍ය බව තේරුම් ගත්තා නම්, ඒ න්‍යාය අනුවම අනාගතයේ යම් සංස්කාර එනවා නම්, අනාගත සංස්කාර එනවා නම්, ඒවාත් අනිත්‍ය කියලා නුවණින් සලකා ගන්නවා. නමුත් විදර්ශකයා ඒ ඒ තැනම පංච උපාදානස්කන්ධය ගැන හෝ වේවා ආයතන හය ගැන හෝ වේවා, අර දැන් ඇසත් රූපයත් ගැන කිව්වා නේ. ඒ විදර්ශකයා බුදුරජාණන් වහන්සේ දීපු ත්‍රිලක්ෂණය කියන ඉහිය උපකාර කරගෙන ත්‍රිලක්ෂණය කියල කියන්නේ. මේ පින්වතුන් දන්නවානේ අනිත්‍ය, දුක්ඛ, අනාත්ම. ලෝකයා නිත්‍ය හැටියට සලකන එක අනිත්‍ය හැටියට බුදුරජාණන් වහන්සේ පෙන්නුවා. ලෝකයා සැප හැටියට සලකන එක දුක හැටියට පෙන්නුවා. ලෝකයා ආත්ම හැටියට ගන්න එක අනාත්ම හැටියට දක්වූවා.

ඉතින් ඒ ඩිංග කරන්න උපකාර වන වචනය අපි මතුකරලා දීලා තියෙනවා බොහෝ අවස්ථාවල නොයෙකුත් උපමා ආශ්‍රයෙන්. බුදුරජාණන් වහන්සේ ඕකට එකතු කරන්නේ '**න** යන්නක් විතරයි. '**න**' යන්නක් විතරයි. මේ '**න**' යන්නෙන් ලොකු වැඩ කරන්නේ. ඉතින් ඒක අපි නොයෙකුත් උපමාවලින් පෙන්නුවා. දැන් ඔන්න සාමාන්‍ය ලෝකයාගේ අර ආත්ම දෘෂ්ටිය ගත්තු ලෝකයාගේ ඒ සංකල්ප. චින්තන රටාව ධර්මයේ දක්වෙන්නේ මේ විදියටයි. යම්කිසි දෙයක් ඉදිරිපත් වුනාම '**එතං මම, 'එසොහමස්මි, 'එසො මෙ අත්තා**' ඒ කියන්නේ තණ්හා මාන දිට්ඨි වශයෙන් ප්‍රකල්පනය කිරීම. 'මෙය මගේය, 'මෙය මම වෙමි, 'මෙය මගේ ආත්මයයි'. දැන් අපි හිතමු. ඔන්න කවුරු හරි - අපි මේ පින්වතුන්ට තේරෙන උපමාවලින් කියනොත් දැන් කවුරු හරි වෙන කාටවත් නැති වටිනාම වාහනයක් ගත්තයි කියමු. වටිනාම වාහනයක් ගත්තා. ණය වෙලා හරි ගත්තා. ගත්තාට පස්සේ ඒක ඉතින් වෙන කාගෙවත් නොවෙයි නේ. මගේ නේ. '**කාරයත් මගේ. පැට්‍රලුත් මගේ. ඩ්‍රැයිවරුත් මගේ. ඒක මගේ.**' ඊළඟට ඒ කාර් එක ගත්තා විතරක් නොවෙයි ඒක ලෝකෙට පෙන්වන්නත් එපායැ. ඒක ඉදිරියේ ඉඳලා පිංතූරයත්, ෆොටෝ එකක් එහෙම අරගෙන '**මේ කාර් එක අයිතිකාරයා තමයි මං**'. 'ඉතින් බොහෝ දෙනා ඔය තත්ත්වය මනින්නේ වාහනයෙන් නේ. ලොකු කාරයක එනවා නම් එයා ලොකු කෙනෙක්. ආයෙ අහන්න දෙයක් නැහැ. අන්න එතකොට '**එසොහමස්මි, 'එතංමම 'එසොහමස්මි.** ඊට පස්සෙ මෙයාගෙ චින්තනය කොයිතරම්ද කියනොත් ඒක දෘෂ්ටියක් වෙලා කාරෙක අන්තිමට ඒක ආත්මයක් වෙනවා. කාරෙක මොකක් හෝ වේවා ආත්මය වගෙයි. ඒක නොසෙල්වෙන දෘෂ්ටියක් වෙනවා. දෘෂ්ටි තත්ත්වයට පත්වුනාම තමයි 'අත්තා කියලා කියන්නේ. ඔන්න ඔය චින්තන රටාව වෙනුවට බුදුරජාණන් වහන්සේ ඕකෙන් එතෙර වෙන්න - දැන් බුදුරජාණන් වහන්සේ දන්නවා දැන් සාමාන්‍ය ලෝකයාට ඔය තත්ත්වයට එකපාරට එන්න බැහැ. විදර්ශකයා කියන්නේ තවම හික්මෙන තැනැත්තා. එතකොට ඒකට උපකාරවන වචනයක් හැටියට බුදුරජාණන් වහන්සේ ඉදිරිපත් කළේ එක අකුරයි. '**න** යන්න විතරයි. දැන් 'එතං මම, එසොහමස්මි, එසො මෙ අත්තා' කියන එකට බුදුරජාණන් වහන්සේ කිව්වේ ඒ වෙනුවට මෙහෙම හිතන්න. '**න එතං මම, න එසොහමස්මි, න එසො මෙ අත්තා**'. මනක තියාගන්නත් එක්ක අපි මේ හයියෙන් කිව්වේ.

ඉතින් ඕකට අපි වෙන අවස්ථාවක දීපු උපමාවකුත් කියමු. දැන් ඒකට උපමාවක් කිව්වේ තේරුම්ගන්න උපකාර වෙන්න. ඔය වඩුඋන්නැහැලා දන්නම් ඒව පාවිච්චි කරන්නේ නැහැ. ඒවා දැන් යල්පැනලා. ඔය යතුකැටය කියලා එකක් තියනවා නේද? ඔය යතු කැටයෙන් දැන් ලීයේ ගොරෝසු තැන් ඉදිමිච්ච තැන් එහෙම කපන්න ගන්න යතුකැටයට තට්ටු කරලා

දානවා නේ තලයක්. ඒ ඕන ගාණට තලය හරිගස්සාගන තමයි ඊට පස්සෙයි ඒ යතු ගැම කරන්නේ. ඉතින් අපි ඒ පිළිබඳ දේශනයකදී අපි එක් අවස්ථාවකදී කිව්වා **මේ යෝගාවචර වඩුවා මේ තණ්හා, මාන, දිට්ඨි වලින් ඉලිප්පිච්ච මේ සංස්කාර ගොඩ යතුගාන්නේ කොහොමද?** ඒකට ඇහුම්කන් දෙන්න කියල තමයි කිව්වේ. අර කිව්ව විධියට **'නං එතං මම, න එසොහමස්මි, න එසො මෙ අත්තා'** අර යතු කැටයේ තලය වගේ තමයි 'න යන්න. ඒක ප්‍රායෝගික අර්ථයක් සඳහා දීපු එකක් කියන එකවත් දැන් මේ උගතුන්ට තේරෙන්නෙ නැතිව ඒව දෘෂ්ටි කරගෙන නොයෙකුත් මත හදාගන්නවා. නමුත් බුදුරජාණන් වහන්සේගේ ධර්මය ඉතාම ප්‍රායෝගිකයි. **මේ 'න යන්නක් දම්මේ ඒක දෘෂ්ටියක් කරගන්න නොවේ. එදිනෙදා ජීවිතයේ තමන්ගේ අර චින්තන රටාව සකස්කර ගන්න. ඒ පිළිබඳ සංශෝධනයක් ඇති කරගන්න.**

ලෝකයාගේ මතය අනුව සාමාන්‍ය ලෝකයාට හිතෙන්නේ මේක මගේ තමයි. මේක මගේ. නමුත් ටිකක් ඔන්න බුද්ධ වචනය මතක්කරගෙන මගේ කිව්වට මගේ නොවෙයි. අතික් විධියට අන්න 'න යන්න ඒකට උපකාර කරගන්නවා. 'න යන්න දාලා තියෙන්නේ ප්‍රායෝගික අර්ථයක් සඳහා. ඒකටයි අපි කිව්වේ අර යතු කැටයේ තලය වගෙයි. අර උස්වෙච්ච හරිය තමයි තණ්හා, මාන, දිට්ඨි කියන්නේ. ඒවා කපලා දමන්නයි. ඒකටයි. අන්න ඒ චින්තනය තුළයි ඊට පස්සේ යෝගාවචරයා හැසිරෙන්නේ. **එහෙම තණ්හාව තුනීවෙන්න වෙන්න, ඒ තණ්හා ලාටුව ඉවත් වෙන්න, වෙන්න, අර කෙහෙල් ගහේ පතුරු වගේ ක්‍රම ක්‍රමයෙන්, ක්‍රම ක්‍රමයෙන් අනුවෙනවා සංස්කාර එකක් යට එකක්. එකක් යට එකක්. එකක් තුළ එකක් වගේ තට්ටු තට්ටු මතුවෙනවා.** ඒ මතුවෙන්නේ කොහොමද? ඒකට උපකාර වෙන්නේ - ඒවා ගැනත් අපි කලින් කියලා තියෙනවා. ඔක්කොම කියන්න බෑ මේ අවස්ථාවේ. **ඒ තැනැත්තා ඊට පස්සේ ඒවා දිහා බලන්නේ- තමන්ට එන අරමුණු දිහා බලන්නේ- 'නාමරූප' හැටියට.** නාමරූප කියන සංකල්පය අනුව. මේ එන අරමුණු හැම එකක්ම 'නාමරූප' පමණයි. **නාම ස්වරූපයක්.** ඊළඟට අතික් පැත්ත ඒක **නාමමාත්‍ර රූපයක්.** ඒ විධියට මේ වේදනා සඤ්ඤා චේතනා ඵස්ස මනසිකාර කියන නාම ධර්ම ආශ්‍රය කරගෙන මේ පඨවි, ආපො, තේජො, වායො කියන අපට හඳුනාගන්න බැරි මහා භූතයෝ අපි හඳුනා ගන්නවා. ඒ තදගති, බුරුල්ගති, උණුසුම් ගති ආශ්‍රයෙන් 'මේක පොළවයි, මේක වතුරයි' ආදී වශයෙන්. ඕක එතකොට තමයි නාම රූප කියලා ඒ බලන කෙනා දැනගන්නෙ. **මේ මූලාවක මුලයි මේ අපි මතුකරගන්නේ.**

ලෝකයා ඉන්නේ මේ නාමරූපය තුළයි. ඒක දන්නේ නැහැ. මේක නමට රූපයක්. නාමමාත්‍රයක්. ඒ බව සාමාන්‍ය ලෝකයා දන්නේ නැහැ. ඒක අන්න විදර්ශකයා තේරුම් ගන්නවා. නාමරූප අවබෝධය තුළිනුයි

සංස්කාර පිළිබඳ ඒ වැටහීම එන්න එන්න ගැඹුරු වෙන්නේ. ඒ එන එන අරමුණක්, එන එන අරමුණක්, නාම රූප හැටියට වැටහෙනවා. **ඒ එන එන අරමුණ විදර්ශකයා හඳුනා ගන්නවා. මේ අරමුණ - මගේ හිතට, මගේ මනසිකාරයට - යොමුවුනේ ඒකට අදාළ වේදනාවක් නිසා. වේදනාව තුළින් මතුවුන සංඥාවක් නිසා. සංඥාව නිසා ඇතිවුන චේතනාවක් නිසා. චේතනාව නිසා, චේතනාව නිසාම මනසිකාරයට යොමුවෙන තැනක් තියෙනවා. 'ඵස්ස ස්පර්ශය.** එතකොට ඒකයි බුදුරජාණන් වහන්සේ කිව්වේ **වේදනා, සඤ්ඤා, චේතනා, ඵස්ස, මනසිකාර. අපි එක් අවස්ථාවක කිව්වා සමහරු 'ඵස්ස' ඉස්සරහට දානවා කියලා. ඇත්ත වශයෙන් 'ඵස්ස' පස්සටයි එන්න ඕනෑ.** වේදනාවයි මුල් වන්නේ. වේදනාව තුළිනුයි කෙනෙක් අවදිවන්නේ. වේදනාව තුළිනුයි ආත්ම සංඥාව පවා අවදිවන්නේ. වේදනාව තුළින් සංඥාවක් ගන්නවා. සඤ්ඤා තුළින් චේතනාවක් එනවා. ඒ චේතනාව ආශ්‍රයෙන් අපි ක්‍රියාකාරී වෙනකොට අන්න අර ස්පර්ශය වන ස්ථානයට මනසිකාරය යොමුවෙනවා. **ඔන්න ඔය ධර්ම පහ පමණයි මෙතන තියෙන්නේ නාම වශයෙන් බැලුවොත්.**

**රූපය කියන්නෙත් අර නිත්‍ය සදාකාලික දේවල් නොවේ. අන්න අර මහා භූත ධර්මයන් අපි අපිම අපේ ඉන්ද්‍රියයන්ට ගෝචර වන ආකාරයට ඉන්ද්‍රිය ගෝචරවන ආකාරයට අපි මේ ගත්තු නාමමාත්‍ර රූපයක් පමණයි.** අන්න ඒ අවබෝධය තුළින් තමයි මෙන්න මේ විඤ්ඤාණ මායාව යම්කෙනෙක් තේරුම්ගන්නේ. එතකොට බුදුරජාණන් වහන්සේ ඒකට මතුකරලා දීලා තියෙනවා ඉඟියක්.

ඉතින් මේ භද්දේකරත්ත සූත්‍රය ඒ තරම් වැදගත් වන්නේ, අර කියාපු උද්දේස ගාථා ඒ තරම් වැදගත් වන්නේ, අපි හිතන්න පුළුවන් මේ සංඝයාවහන්සේලාට විතරක් දේශනා කළ එකක් කියලා. මේක මේ මනුෂ්‍ය ලෝකයට විතරක් දේශනා කළ එකක් කියලා. ටිකක් හිතලා බලන්න අර කාරණය ඇත්ත නම්, අර චන්දන දේව පුත්‍රයා කිව්ව තේ මේ බුදුරජාණන් වහන්සේ තව්තිසා දෙව්ලොව දෙවියන්ට පාණ්ඩුකම්බල ශෛලාසනයේ ඉඳගෙන මේ භද්දේකරත්ත සූත්‍රය දේශනා කළා කියලා. අර කියාපු ගාථා කියන්න ඇති, දැන් අපි කිව්ව.

කළයුතු කිස කරව අදම
මරණය වියහැකි නො හෙටම
නැහැ නොවැ කළහැකි ගිවිසුම
මහසෙන් ඇති මරු සහ එම

ටිකක් හිතන්න. තාවතිංසා දෙව්ලොව දෙවියන්ට කීවේ. ඒ ගොල්ලන්ගේ දවස අහලා තියෙනවා නේ ගියවර දේශනයකදීත් අපි කිව්වා නේ මේ මනුෂ්‍ය ලෝකයේ අවුරුදු සීයක් එක දවසක්, රැයක් කියලා. අවුරුදු දාහක් ඒ ආයුෂ. එතකොට එබඳු ඒ තව්තිසා දෙව්ලොවත් බුදුරජාණන් වහන්සේ අන්න කිව්වා අර කියාපු සංවේගය උපදවන විදියට:

කළයුතු කිස කරව  අදම
මරණය විය හැකි නො  හෙටම
නැහැ නොවැ කළහැකි  ගිවිසුම
මහසෙන් ඇති මරු සහ  එම

ඉතින් ඒක සියදහස් ගුණයකින් මනුෂ්‍යලෝකයටයි ගැලපෙන්නේ. ඒකයි අර දේවතාවා ඒ දේවතාවන්ගේ සැප වැඩි නිසා මොන හේතුවකින් හරි ඒවා අමතක වුනා. නමුත් ඒවා භික්ෂූන් වහන්සේලාට - මේ ලෝකයේ අයට - අන්න මතක් කරලා දුන්නා.

ඉතින් මේ පින්වතුන්ටත් හොඳ අවස්ථාවක්. බාහිර උපද්‍රව ගැන කොතෙකුත් අහන්න ලැබෙනවා. ඒ වගේම අපේ අභ්‍යන්තර ශරීරය තුළ ඒවා කොයි වෙලාවේ මතුවෙනවාද දන්නෙත් නැහැ. **ඇතුළතිනුත්, පිටතිනුත් ඔන්න ඔය කියාපු මාරයා වැඩ කරනවා. අපි දන්නේ නැහැ වෙලාව ආවාම පරක්කු වැඩියි. හෙට ප්‍රමාද වැඩියි කියන අවබෝධය එනවා.** ඒ ටික මතක්කරන්නයි අපි මේ ඇත්ත වශයෙන් මේ භද්දෙකරත්ත සූත්‍රය එළියට ගත්තේ. මේ පින්වතුන් තම තමන්ගේ මට්ටමෙන් උත්සාහවත් වෙන්න ඕනෑ. දැන් අපි දන්නවා මේක රහසක් නොවේ අතීතයෙත් සංඝයා වහන්සේලාට දේශනා කළ දේවල් නමුත් ඒ වටිනා ගිහි පින්වතුන් පුදුම විධියේ මාර්ගඵල ලබාගත් ඒ වටිනා චිත්ත ගහපති ආදීන් සංඝයාවහන්සේලා සමඟ ධර්ම සාකච්ඡා කරන්න පුළුවන් තරමට මාර්ගඵල වලින් ඒ පැත්තෙන් ප්‍රත්‍යක්ෂ අවබෝධයක් ඇතිකරගෙන සිටියා. **ඒ වගේම අනේපිඬු සිටාණන් අර මරණ මංචකයේදී පවා විශේෂ ඉල්ලීමක් කළා 'අනේ ගිහියන්ටත් මෙන්න මේ විධියේ මේ වටිනා විදර්ශනාත්මක දේශනා ඉදිරියට කරන්න'** කියලා. ඒක නිසා තමයි මේ පින්වතුන්ටත් කිව්වේ. දැන් රහසක් නොවේ අපි අප ගැන කියනවා නොවේ නමුත් **ගිහි පින්වතුන් බොහෝ ගණනාවක් අපි ළඟටත් එන්නේ බොහෝ දෙනාට දැන් රත්වෙච්ච වෙලාව. රත්වෙච්ච වෙලාව. ඉතින් කොයි ආකාරයකින් හරි සිවුරක් දාගන්න බැරිවුනත් ගිහිගෙයි ඉඳගෙන හරි මෙන්න මේ ටික කළොත් විමුක්තිය එනනයි. විමුක්තිය එනනයි.** මොකද බුදුරජාණන් වහන්සේගේ ධර්මය සන්දිට්ඨිකයි, අකාලිකයි, එහිපස්සිකයි, ඕපනයිකයි.

අපි කොහෙකුත් කියලා තියෙනවා නේ. එතකොට මේ මොහොත තුළයි විමුක්තිය තියෙන්නේ. අතීතය සොයාගෙන යන්නත් බැහැ. අනාගතයේත් නොවේ. **වර්තමාන මොහොත හරි ආකාරව තේරුම් ගන්න ඕනෑ. ඒකයි නියම විදර්ශනාව.** දැන් ඔය විදර්ශනාව ගැන කියන කොට තව ඩිංගක් කිව්වොත් දැන් අපි පටන් ගැනීමේදී කිව්ව නේ මේ සංස්කාරවල ඇතිවීම් නැතිවීම් තමා විදර්ශකයාට මුලදී පෙනෙන්නේ කියලා. ඒ මනසිකාරය සියුම් වෙන්න සියුම් වෙන්න ඒ ඇතිවීම් නැතිවීම් වඩ වඩා ශීඝ්‍රයෙන් පෙනෙන්න පටන් ගන්නවා. සාමාන්‍ය ලෝකයා හිතන විදියට නොවේ ඒ තැනැත්තාට ප්‍රත්‍යක්ෂ වශයෙන් ඉතාම වේගයෙන්. අන්තිමට භංගඤාන තත්ත්වයට එනකොට ඒ ඇතිවන එකට වඩා වේගයෙන් නැතිවෙනවා පේනවා. භංගය පේනවා. මොකද එහෙම පේන්නේ. භංගඤාණ කියන අවස්ථාවේදී විදර්ශකයාගේ සිතට එන අරමුණ නැතිවෙනවා වගේම අරමුණ ගත්තු හිතත් නැතිවෙනවා පේනවා. **අරමුණ නැති වෙනවා වගේම අරමුණ ගත්තු හිතත් නැතිවෙනවා පේනවා. එතකොට තමයි විශාල සංවේගයක් එන්නේ.**

ටිකකට හිතන්න අපි උපමාවක් දුන්නොත් ඔය මහ ගිරිශිඛරයක් දෙපැත්තෙන්ම මහා ප්‍රපාත දෙකක් මැදින් යන්නම් යන්න අඩිපාරක් තියෙනවා. ඒ අඩි පාරේ යන්න යන අයට උපකාරවන වැටකුත් තියෙනවා. **ඉතින් මේ විදර්ශකයා මේ වැට අල්ලාගෙන ටික දුරක් යනකොට අල්ලන අල්ලන වැටත් දිරලා. වැටත් දිරලා නම් කොයි විදියේ සංවේගයක්ද එන්නේ? මේ පැත්තට වැටුනත් විනාශය. ඒ පැත්තට වැටුනත් විනාශය.** අන්න ඒ වගේ ලොකු භයක් ඇතිවෙනවා. ඒකයි භංග ඤාණය ළඟට භය කියලා තියෙන්නේ. **ඒ සංස්කාර බිඳෙන වේගය දැකලා මෙතන අල්ල ගන්න දෙයක් නැහැ. අල්ල ගන්න තැනක් නැහැ. ඔක්කොම බිඳෙන සංස්කාර.** අන්න එතන ඉඳලා තමයි විදර්ශනාව. ඒකයි භංග ඤානය උග්‍ර විදර්ශනාව. ඊළඟට භය, ඒ භය තුළින්ම ආදීනව පේනවා. **මේක මේ පැවැත්ම කියන්නේ අල්ලා ගැනීමක් නම්, අල්ලා ගැනීමට දෙයක් නැත්නම් මොන පැවැත්මක්ද? අල්ලා ගන්න දේ එතන එතැනම බිඳෙනවා නම් මොන පැවැත්මක්ද?** අන්න එතකොට- ඒක තමා ආදීනව ඤානය.

ඊළඟට ඒක තුළින්ම ඇතිවෙනවා භවය ගැන කලකිරීමක්. මෙතනත් එහෙමයි. **දිව්‍ය ලෝකයෙත් එහෙමයි. බ්‍රහ්ම ලෝකයෙත් එහෙමයි. බුද්ධ වචනය අනුව, කොතනත් මේ සංස්කාර ගොඩක්. අතීතයේ තිබුණෙත් අනාගතයේ තියෙනවා නම් ඒත්, මේකමයි. දැන් මේ පෙනෙන වර්තමාන ටිකම තමයි.** කෙහෙල් ගහ පතුරු ගහනවා වෙනුවට අපි තවත් අවස්ථාවක උපමාවක් දුන්න ඤානවන්ත පුද්ගලයකුට පතුරු

ගහ ගහ ඉන්න ඕනැත් නැහැ **කෙහෙල් ගහ මැදින් කැපුවම අභ්‍යන්තර ව්‍යුහය තුළින් තේරුම් ගන්න පුළුවන්. මේකේ හරයක් නැති බව.** අන්න විදර්ශකයා ඒ ටික තේරුම් ගන්නවා. වර්තමාන සංස්කාර තුළින් තේරුම් ගන්නවා. **මේක ආයි පට්ටගහන්න දෙයක් නැහැ. මේකේ හරයක් නැති බව ඒ අවස්ථාවේ තේරෙනවා.** ඒක නිසාම ආදීනව තේරුම් ගත්තා.

ඊළඟට තියෙන්නේ කලකිරීම. කලකිරීම කියන වචනය තරම් එපාවන වචනයක් මනුෂ්‍යයින්ට නැහැ. දැන් කාලයේ භවතෘෂ්ණාව ඇති අයට. නමුත් ශාසනයේ තියෙන වටිනාම වචනය තමයි කලකිරීම. නිබ්බිදාව. මොකද ඒක තුළින් තමා නිවනට දොර ඇරෙන්නේ. ඒකයි අපි සමහර අවස්ථාවල කීවේ උපමා කළා තෙල්ලි ගෙඩියක් දුන්නාම ඒක ඩිංගක් හපලා මේක තිත්තයි කියලා කෙනෙක් විසිකරනවා. නමුත් හොඳට හපලා ඇල් වතුර ටිකක් බිව්වාම අමුතු අමෘත රසයක් තියෙනවා. ඒ වගේම තමයි අන්න නිබ්බිදාව තුළින් තමයි නිවනට දොර ඇරෙන්නේ.

ඒ නිබ්බිදා ඥාණය පහළවුන අවස්ථාවේ තව තවත් උත්සාහවත් වෙලා අර ත්‍රිලක්ෂණය වැඩුවොත් ඒ යෝගාවචරයා ඉන් ඉදිරියට යනකොට අන්න යම් අවස්ථාවක් එනවා අර ඉස්සරවෙලා තිබුණ භය වෙනුවට දැන් පේනවා- **ඉස්සරවෙලා භය ඇතිවුනේ මම නැතිවෙනවා කියල නේ. මම නැතිවෙනවා කියල නේ. සංස්කාර පිළිබඳ අවබෝධය පිරිසිදු වෙනකොට තේරෙනවා නැතිවෙන්න මමෙක් නෑ නේ. නැතිවෙන්න මමෙක් නෑ නේ.** ඊළඟට මොකක්ද? සංස්කාර ඔහේ යනවා එනවා. ඒකට තමා සංඛාරඋපේක්ඛා ඤාණය කියන්නේ. ඒක නිවනට ඉතා ළඟ තත්ත්වයක්. ඒ අවස්ථාවේ සංස්කාර ඔහේ යනවා පේනවා. ඒව ඇතුළට එන්නේ නැහැ. අපි අර උපමාවකට කීවේ සාමාන්‍ය උපමාවක් - මේ හැම එකක්ම දඩිව ගන්න එපා. අපි දෙන උපමා. අපි හිතමු දැන් ඔන්න කෙනෙක් දුම්රියක යනවා. යන අතරේ ඔය ශීඝ්‍රගාමී දුම්රියක් යම්කිසි දුම්රිය ස්ථානයක නතර කළා. ඒ අවස්ථාවේ ඉතින් ඔය අලසකමට වට පිට බලනවා. ලස්සන මල් තියනවා මිනිස්සු යනවා. අරගොල්ල මේ ගොල්ල. ඔය ටික බල බලා ඉන්නවා. ඔන්න දුම්රිය ඇදෙන්න පටන් ගන්නවා. ඇදෙන්න පටන් ගන්නවා. ඇදෙන්න පටන් ගෙන ටික දුරක් යනකොට අපට ඕන උනත් බලන්න බැහැ. පොල්ගස් යනවා. මිනිස්සු යනවා. ඒවා ඇතුළට ගන්නත් බැහැ. හිතුවත්. අන්න ඒ වගේ ඒ අවස්ථාව එනවා. අර සංස්කාර ඇතිවෙනවා නැතිවෙනවා. වදින්නේ නැහැ. ඒ අවස්ථාවට දීපු උපමාව බුදුරජාණන් වහන්සේ - ඒ අවස්ථාවේ දීපු උපමාව - බොහෝදුරට රහත් සිතට දීපු උපමාවක් වගේ. **'නෙළුම් පතේ දිය බිංදුව දිය බිංදුවක් වැටුනොත් නෙළුම් පතේ ඒක කිලිටිවන්නේ නැහැ. ඒක පෙරලිලා යනවා.** ඒ වගේ අර ඒ හිතට, අර විදර්ශකයාගේ

හිතට, ඒ අවස්ථාවේ සංස්කාරවලින් බාධාවක් නැහැ. වැටෙනවා. අනෙක් පැත්තට පෙරලිලා යනවා. වැටෙනවා අනික් පැත්තට පෙරලිලා යනවා. ඒ අවස්ථාව නිවනට ඉතා කිට්ටු වගේ. පුදුම අන්දමේ උපේක්ෂාවක්. ඒකයි සංඛාර උපේක්ඛාව කියන්නේ.

නමුත් ඊටත් එහා ගිහිල්ලා තමයි ත්‍රිලක්ෂණය වඩලා යම් අවස්ථාවක අර කිව්ව ආශ්‍රව, අනුසය සිඳෙන තත්වයටම ත්‍රිලක්ෂණය වඩලා එයින් එක් ලක්ෂණයක් එක එක්කෙනාගේ ආකාරයට අනිත්‍ය හෝ දුක්ඛ හෝ අනාත්ම හෝ චරිතානුකූලව එක්තරා ලක්ෂණයක් අවශ්‍ය ප්‍රමාණයට වැඩීමෙන් තමයි යම්කිසි අවස්ථාවක අර කියාපු **උත්තරීතර හුදෙකලාව කෙනෙක් ප්‍රත්‍යක්ෂ කරගන්නේ. සම්පූර්ණ චිත්ත විමුක්තිය** එතැනයි.

එතකොට අපි මේ දිග කතන්දරයක් කෙටි කරලා පැයක් ඇතුළත කිව්වේ. මේ පින්වතුන් ඊටත් වඩා සවිස්තරව තේරුම්ගන්න බලන්න. ඉතින් මේ අද දවසේ අර කිව්වා වගේ මේ යුගය ගැන හිතලා බලනකොට ගිහි පින්වතුන් කවුරුත් බොහෝම සංවේගවත්ව ඉන්නේ. මේ කොයි වෙලාවේ ජීවිතය - මැරෙන එක තව පහසුයි. **මැරුණට පස්සේ කොතැන යයිද කියන භය කාටත් තියෙනවා. කොතැන යයිද කියලා.** අන්න ඒ ඩිංගට තමයි. අපගේ හිත විමුක්ත නම්, හිත විමුක්ත නම්, ආයෙ උපතක් නැහැ. ආයෙ ප්‍රශ්නයක් නැහැ. අන්න ඒක නිසා මේ අපි අද විශේෂයෙන්ම දේශනා කළ විදර්ශනාත්මක බණ මේ පින්වතුන් බොහෝ දෙනා අද සිල් සමාදන්වෙලා හිත තැන්පත් කරගෙන වටිනා සීලයක් පුරමින් ඉන්න අවස්ථාව. මේ ධර්ම දේශනාවත් උපකාර කරගෙන, තමන් කරන බණ භාවනාව මුදුන් පමුණුවාගෙන, මේ බුද්ධ ශාසනය තුළම සෝවාන්, සකදාගාමී, අනාගාමී, අර්හත් කියන මාර්ගඵල ප්‍රතිවේධයෙන් උතුම් අමාමහ නිවන සාක්ෂාත් කරගැනීමට මේ කුසල ශක්තියත් උපනිශ්‍රය වේවා කියලා ප්‍රාර්ථනා කරන අතර ඒ වගේම භවයේ අවීචියේ සිට අකනිට්ඨාව දක්වා යම්තාක් සත්ත්වකෙනෙක් මෙබඳු ධර්ම දේශනාමය ධර්ම ශ්‍රවණමය කුසලයක් අනුමෝදන් වීමට කැමති නම් ඒ අනුමෝදන් වීම තුළින් ප්‍රාර්ථනීය බෝධියකින් උතුම් අමා මහ නිවනින් සැනසෙත්වා කියා ප්‍රාර්ථනා කරගෙන මේ ගාථා කියන්න.

**"එත්තාවතා ච අම්හෙහි ......"**

# කතෘ හිමියන්ගේ සිංහල සහ ඉංග්‍රීසි කෘති

*1. උත්තරීතර හුදෙකලාව - (මුල් මුද්‍රණය)දම්සක් අංක 172/173 - (1990)
-එම- (නව මුද්‍රණය), ධර්ම ග්‍රන්ථ මුද්‍රණ භාරය (2001)
2. විදසුන් උපදෙස් - (1997)
3. නිවනේ නිවීම - පළමු වෙළුම (1997)
4. නිවනේ නිවීම - දෙවන වෙළුම (1998)
5. නිවනේ නිවීම - තෙවන වෙළුම (1998)
6. නිවනේ නිවීම - සිවුවන වෙළුම (1998)
7. නිවනේ නිවීම - පස්වන වෙළුම (1999)
8. නිවනේ නිවීම - සයවන වෙළුම (1999)
9. නිවනේ නිවීම - සත්වන වෙළුම (1999)
10. නිවනේ නිවීම - අටවන වෙළුම (2000)
11. නිවනේ නිවීම - නවවන වෙළුම (2001)
12. නිවනේ නිවීම - දසවන වෙළුම (2002)
13. නිවනේ නිවීම - එකොළොස්වන වෙළුම (2004)
14. නිවනේ නිවීම - පුස්තකාල මුද්‍රණය - ප්‍රථම භාගය - (1-6 වෙළුම්) (2000)
15. නිවනේ නිවීම - පුස්තකාල මුද්‍රණය (1-11 වෙළුම්) (2010)
16. පහන් කණුව ධර්ම දේශනා - 1- වෙළුම (1999)
17. හිතක මහිම - 1 (1999)
18. හිත තැතීම (2000)
19. පහන් කණුව ධර්ම දේශනා - 2 වෙළුම (2000)
20. පැවැත්ම හා නැවැත්ම (2000)
21. ඇති හැටි දැක්ම (2001)
22. පහන් කණුව ධර්ම දේශනා - 3 වෙළුම (2001)
23. දිවි කතරේ සැදෑ අඳුර (2001)
24. කය අනුව ගිය සිහිය (2001)
25. මා-පිය උවැටන (2002)
26. ප්‍රතිපත්ති පූජාව (2003)
27. පහන් කණුව ධර්ම දේශනා - 4 වෙළුම (2003)
28. අභිනික්මන (2003)
29. හිතක මහිම - 2 (2003)
30. පහන් කණුව ධර්ම දේශනා - 5 වෙළුම (2005)
31. පහන් කණුව ධර්ම දේශනා - 6 වෙළුම (2006)
32. පහන් කණුව ධර්ම දේශනා - 7 වෙළුම (2009)
33. බුදු සමය පුද්ගලයා හා සමාජය (2009)
34. මනසේ මායාව (2010)
35. භාවනා මාර්ගය (2011)
36. සසුන් පිළිවෙත (2011)
37. පිළිවෙතින් පිළිවෙතට(2011)
38. මෙත් සිතේ විමුක්තිය(2012)
39. හිතක මහිම-3 (2012)
40. තිසරණ මහිම (2012)
41. කයේ කතාව (2012)

*1. Concept and Reality in Early Buddhist Thought (1971)
- do - D. G. M. B. Edition (2012)
*2. Samyutta Nikaya - AnAnthology, Part II - Wheel No, 183/185 -(1972)
- do - D. G. M. B. Edition (2009)
*3. Ideal Solitude - Wheel No, 188 - (1973)
*4. The Magic of the Mind - (1974)
- do - D. G. M. B. Edition (2007)
5. Towards Calm and Insight - (1991)
- do - D. G. M. B. Edition (1998)
6. From Topsy - turvydom to Wisdom -Volume I - (2003)
7. From Topsy - turvydom to Wisdom -Volume II - (2012)
8. Seeing Through (1999)
9. Towards A Better World (2000)
10. Nibbana - The Mind Stilled - Volume I - (2003)
11. Nibbana - The Mind Stilled - Volume II - (2005)
12. Nibbana - The Mind Stilled - Volume III - (2005)
13. Nibbana - The Mind Stilled - Volume IV - (2006)
14. Nibbana - The Mind Stilled - Volume V - (2007)
15. Nibbana - The Mind Stilled - Volume VI - (2010)
16. Nibbana and The Fire Simile (2010)

* Buddhist Publication Society, P.O. Box, 61, Kandy
බෞද්ධ ග්‍රන්ථ ප්‍රකාශන සමිතිය, තැ.පෙ. 61, මහනුවර

# ධම් ග්‍රන්ථ මුද්‍රණ භාරය මගින් පළකරන ලද ග්‍රන්ථ

| | ග්‍රන්ථ නාමය | | පිටපත් සංඛ්‍යාව |
|---|---|---|---|
| 01. | නිවනේ නිවීම | පළමු වෙළුම | 11000 |
| 02. | නිවනේ නිවීම | දෙවන වෙළුම | 8000 |
| 03. | නිවනේ නිවීම | තෙවන වෙළුම | 5000 |
| 04. | නිවනේ නිවීම | සිවුවන වෙළුම | 8000 |
| 05. | නිවනේ නිවීම | පස්වන වෙළුම | 7000 |
| 06. | නිවනේ නිවීම | සයවන වෙළුම | 5000 |
| 07. | නිවනේ නිවීම(පුස්තකාල මුද්‍රණය) | ප්‍රථම භාගය(1-6වෙළුම්) | 500 |
| 08. | නිවනේ නිවීම | සත්වන වෙළුම | 5000 |
| 09. | නිවනේ නිවීම | අටවන වෙළුම | 5000 |
| 10. | නිවනේ නිවීම | නවවන වෙළුම | 7000 |
| 11. | නිවනේ නිවීම | දසවන වෙළුම | 7000 |
| 12. | නිවනේ නිවීම | එකොළොස්වන වෙළුම | 3000 |
| 13. | නිවනේ නිවීම (පුස්තකාල මුද්‍රණය) | (1-11වෙළුම්) | 2500 |
| 14. | පහන් කනුව ධම් දේශනා | පළමු වෙළුම | 13000 |
| 15. | පහන් කනුව ධම් දේශනා | දෙවන වෙළුම | 12000 |
| 16. | පහන් කනුව ධම් දේශනා | තෙවන වෙළුම | 10000 |
| 17. | පහන් කනුව ධම් දේශනා | සිවුවන වෙළුම | 11000 |
| 18. | පහන් කනුව ධම් දේශනා | පස්වන වෙළුම | 10000 |
| 19. | පහන් කනුව ධම් දේශනා | සයවන වෙළුම | 8000 |
| 20. | පහන් කනුව ධම් දේශනා | සත්වන වෙළුම | 4000 |
| 21. | 'හිතක මහිම' | පළමු වෙළුම | 10000 |
| 22. | 'හිතක මහිම' | දෙවන වෙළුම | 7000 |
| 23. | 'හිතක මහිම' | තෙවන වෙළුම | 1000 |
| 24. | උත්තරීතර හුදෙකලාව | | 12000 |
| 25. | විදසුන් උපදෙස් | | 8000 |
| 26. | චලන චිත්‍රය | | 7000 |
| 27. | දිය සුළිය | | 11000 |
| 28. | මනසේ මායාව | | 4000 |
| 29. | භාවනා මාර්ගය | | 14000 |
| 30. | මෙත් සිතේ විමුක්තිය | | 11500 |
| 31. | Towards A Better World | | 17000 |
| 32. | Seeing Through | | 3000 |
| 33. | Nibbana - The Mind Stilled | Volume I | 5000 |
| 34. | Nibbana - The Mind Stilled | Volume II | 3000 |
| 35. | Nibbana - The Mind Stilled | Volume III | 3000 |
| 36. | Nibbana - The Mind Stilled | Volume IV | 5000 |
| 37. | Nibbana - The Mind Stilled | Volume V | 2000 |
| 38. | Nibbana - The Mind Stilled | Volume VI | 2000 |
| 39. | The Magic of the Mind | | 5000 |
| 40. | Towards Calm and Insight | | 2000 |
| 41. | Samyutta Nikaya An Anthology | | 2000 |
| 42. | Ideal Solitude | | 3000 |
| 43. | Nibbana and The Fire Simile | | 5000 |


නැවත මුද්‍රණය කරවීම පිළිබඳ විමසීම් :-

ජී. ටී. බණ්ඩාර, ස්ථාපක, ධම් ග්‍රන්ථ මුද්‍රණ භාරය

රෝයල් ඉන්ස්ටිටියුට්, 191, හැව්ලොක් පාර, කොළඹ 5.

දු.ක.: 011-2592747, 2592748, 2508173 Fax : 2580564